සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2563 ක් වූ නිකිණි මස (ව්‍යවහාරික වර්ෂ 2019 අගෝස්තු)

96 වෙනි කලාපය

## ප්‍රාණඝාත නොකර මැසි මදුරු සමනයට

## වසවිස නැති ධූපයක්...












සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය

රු. 25/-



# බුදු මඟ යමු...

බණ පද නිරතුරුව සවනට වැකෙන රටක්
කවදද දකිනු හැකි එනමුදු දැහැමි හෙටක්
නැණ මඳ පිරිස නොදනිති බුදු දහමෙ හැඩක්
විනිවිඳ දැකිය යුතු දහමකි නොමැත සැකක්

බුදු ගුණ ගයති නොම දැන බුදු හිමිගෙ ගුණ
අපමණ බොදුහු නොදනිති එහි අරුත ගැන
තෙරුවන පුදති යළි වෙන අය සරණ යන
අනුවණ පිරිස එම තවමත් ලැගපු තැන

පන් සිල් පද කියති නැත එය හැඳින දැන
අට සිල් ගනිති නැත දහමක් පුරුදු වුන
දස සිල් බව කියති කහවත දවට ගෙන
මොන සිල් වුවද අප තවමත් සිටිය තැන

නොමනාපයෙන් නොව එපරිදි පව සන්නේ
අවිචාරයෙන් අප මේ කොයිබද යන්නේ
පුහු මානයෙන් කෙලෙසද දුක ජය ගන්නේ
නිසි වෑයමෙන් නොවැ බුදු මග වැට හෙන්නේ

සීලය නිසයි තුන් දොර සංවර වන්නේ
මෝහය නැසීමෙනි සිල් ගුණ පිහිටන්නේ
කාලය විසම වෙයි දහමද යට යන්නේ
කාරිය ඉටු කරමු දහමද සුරැකෙන්නේ

වැඩි දෙන පිළිබඳව මෙහි පළ කරන ලදී
නැණ ගුණ පිරි අයද අපතර එමට හිඳී
කොපමණ බණ කිවද වැටහුන පිරිස මදී
බුදු බණ අසමු එම මග යමු පෙළට සැදී

පබැඳුම - කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා



ප්‍රාණජීව



බටදැල්ල

# වස විස ආහාරවලට එරෙහි විකල්ප 23

දුර්ලභව ලැබූ මනුස්ස අත්බවය වස විස ආදී ප්‍රයෝග විපත්තිවලින් අකාලයේ විනාස වෙන්න ඉඩ නොදී ආරක්ෂා කර ගැනීමේ අරමුණින්, වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් ද්‍රව්‍ය පදාර්ථ ඥානයෙන් සහ බෙහෙත් සමාධියෙන් මතු කර දුන් කරුණු කාරණාත් ඇසුරු කරගෙන, වර්තමාන සමාජයේ ප්‍රභලව ඔඩුදුවා තියෙන වස විස ආහාර හමුවේ, ඒවාට විකල්ප වශයෙන් භාවිතා කරන්න පුළුවන් තවත් වටිනා ස්වභාවික දේශීය ආහාර වර්ග කිහිපයක තොරතුරු සියලු ජනයාගේ යහපත පිණිස මෙවරත් සටහන් කරනවා.

**<u>ප්‍රාණජීව</u>** - තෙත් කලාපයේ බහුලව දකින්න ලැබුනත්, ලංකාව පුරාම සියලු දේශගුණික කලාපවල වගා කරගන්න පුළුවන් මහා ඖෂධීය වටිනාකමක් තියෙන ශාකයක්. හොඳින් සරුවට වැඩුනොත් පඳුරක් ආකාරයට අඩි 7 - 8 ක් විතර උස යනවා. පත්‍ර 3 ක් එකම නටුවකට සම්බන්ධ වෙනවා. එයින් විසාල පත්‍රයට පහලින් කුඩා පත්‍ර 2 ක් දකින්න පුළුවන්. කොළ, ළා කොළ පැහැයට හුරු ප්‍රසන්න පෙනුමකින් යුක්තයි.

කිරණ වෙදකමේදී අට අනුවක් රෝග නසන ශක්තියකින් යුක්තයි. 100% ක්ම සුදු කිරණ විහිද වන මේ ප්‍රාණජීව ශාකය, සජීවී / අජීවී ඕනෑම දෙයක් නිකුත් කරන සියලු කළු කිරණ අවශෝෂණය කර ගැනීමේ සුවිශේෂීය හැකියාවකින් යුක්තයි. **කාබන්ඩයොක්සයිඩ් උරාගෙන පැය 24 පුරාවටම ඔක්සිජන් විතරක් නිකුත් කරන ශාකයක් නිසා නොපෙනෙන ලෝකයේ අමනුස්ස ආදී අඳුරු බලවේගවලට මේ ප්‍රාණ ජීව ශාකය නයාට අඳුකොළ වගෙයි.** ඔවුන්ට ඒ තරම් අගුණයි. මොකද කාබන්ඩයොක්සයිඩ් තියෙනකොට ඇතිවන අඳුරු අසුද්ධ පරිසරවලට තමයි අමනුස්සයො ප්‍රිය කරන්නෙ. ඔක්සිජන් තියෙන සුද්ධ පරිසර ඔවුන්ට ඔරොත්තු දෙන්නෙ නෑ.

ප්‍රාණජීව ගහක් ළඟට කවුරුහරි ළං වුනාම කුඩා පත්‍ර යම් රටාවකට අනුව අර්ධ වෘත්තාකාරව කැරකෙන්න පටන් ගන්නවා. හරියට ගෙතුම් කටුවකින් රේන්දයක් ගොතනව වගේ ප්‍රාණජීව ශාකයත් ශරීරයේ තියෙන කළු කිරණ තමන් කරා ඇදගන්න පටන් ගන්නවා.

ඒ වගේම භූමියක් මුල් කරගෙන යම් යම් කොඩිවින, හූනියම්, නීච බන්ධන, පුද්ගලයන් එල්ල කරල කරන වැල් පැන්නුම්... ආදී වශයෙන් කිරණ ලෝකය විනාස වන ආකාරයෙන් යම් යම් අය විසින් කරන ගුප්ත ලෝකයේ විනාසකාරී ක්‍රියාවන් තියෙනවා. ඒවායෙන් එන විස කිරණත් පුළුවන් උපරිමයෙන් ප්‍රාණජීව ශාකයෙන් ඇද ගන්නවා. එතකොට ශාකය මැරිල යන්න පටන් ගන්නවා. **ඇස්වහ, කටවහ, හෝවහ කියල යමෙකුගෙන් යමෙකුට ලැබෙන සිතිවිලි, ක්‍රියා, වදන් යන තුන් ආකාරයෙන් නිකුත් වන සියලු අසුද්ධ කිරණයන්ගෙන් එන සියලු බලපෑම් ප්‍රාණජීව ශාකයට පුළුවන් උපරිම ආකාරයෙන් උරා ගන්නවා. ඒ වගේම පොළව තුලින් ගන්නා සියලු සුද්ධ ශක්තිය වහ වහා පරිසරයට මුදා හරිනවා.**

මේ විදිහට සුද්ධ ශක්තිය පිට කරල අසුද්ධ කළු කිරණ උරාගන්නා ශාකයක් නිසා ප්‍රාණජීව ගහේ ආයු කාලය ඉතාමත් අඩුයි. ඒ නිසා ඉඩමේ තියෙන සුද්ධතාවය මත ප්‍රාණජීව ගහේ ආයු කාලයත් තීරණය වෙනවා. සුද්ධතාවය වැඩි නම් ආයු කාලය වැඩියි. සුද්ධතාවය අඩු නම් ආයු කාලයත් අඩුයි. මේ නිසා **යම් කිසි භූමියක තියෙන දෝස සම්බන්ධයෙන් නිගමනයකට එන්නත් ප්‍රාණජීව ශාකය වැදගත් වෙනවා.**

සාමාන්‍යයෙන් වෙනත් ශාක වර්ග මියයන්නෙ ගහේ අතු අග තියෙන කොළවලින් පටන් ගෙන මුලට. ඒ කියන්නෙ අතුවල කොළ මැලවිලා හැලිල ගිහින් තමයි ගහ මැරෙන්න පටන් ගන්නෙ. නමුත් ප්‍රාණජීව ගහක් මියයන්නෙ ගහේ මුල සිට අගට. ඒකට ප්‍රධානම හේතුව තමයි පොළවත් එක්ක තියෙන විස කිරණ මුල් හරහා ඇද ගැනීම.

ඖෂධීය වටිනාකම ගත්තොත්, හෙළ වෙදකමේදී ප්‍රාණජීව ගහේ සියලු අංගයන් යොදා ගන්නවා. විස වෙදකමට, කැඩුම් බිඳුම්වලට, ස්නායු බලගන්වන්න, අස්ථි සහ කාටිලේජවල දුර්වලතා මගහරවන්න, මාංශ පේශීන්ගේ වර්ධනයට, නියමාකාරයෙන් වර්ධනය නොවන සියලු අවයවයන්ගේ නිසියාකාර වර්ධනයට, ස්මරණ ශක්තිය තීව්‍ර කරන්න, කායික මානසික වර්ධනය සමතුලිත කරන්න, ඒ වගේම සියලු පද්ධති සක්‍රිය කරන්න ප්‍රාණජීව යොදා ගන්නවා. සියලු මස්ගත, නහරගත, සන්ධිගත, අස්ථිගත, ලෝමගත, කූපගත, කලල්ගත (වසා ගැටිති, සෙම් ගෙඩි, වකුගඩු, මුත්‍රාශය... ආදී ස්ථාන), කුලල්ගත (නැමෙන දිග හැරෙන කිහිලි, ඉකිලි ආදිය)... ආදී ස්ථානවල කුමන විදිහකට හෝ ඇති සියලු රෝග සුව කිරීමේ හැකියාවක් මේ ප්‍රාණජීව ශාකය තුල ගැබ්වෙලා තියෙනවා. ඉස්සර හෙළ වෙදකමේ, කැඩුම් බිඳුම්වලදි අස්ථි කොටස් නිසියාකාරයෙන් තියාගන්න ගැට ගහන්න ගත්ත පතුරු හදන්න යොදා ගත්තෙත් ප්‍රාණජීව ශාකයේ කඳ.

දරුඵල බලාපොරොත්තුවෙන් ඉන්න ස්ත්‍රී පුරුෂ දෙපක්ෂයටම ඇතිවන යම් කිසි දුබලතා නිසා දරුඵල අහිමි වෙලා තියෙනව නම්, ඒ අක්‍රමිකතා මග හැරවීමේ විශේෂ ගුණයක් ප්‍රාණජීව සතුයි. ඒ වගේ අය නිරන්තරයෙන් ප්‍රාණජීව ආහාරයට එකතු කර ගැනීමෙන් ඒ තත්වය වළකා ගන්න පුළුවන්.

මේ සියලු හේතු නිසා **නිවස ඉදිරිපිට, පසුපස සහ නිවස අවට ගෙවත්තේ ඉඩකඩ ප්‍රමාණවත් නැත්නම් මල් පෝච්චියක හෝ ප්‍රාණජීව පැළයක් හිටවා ගැනීමෙන් විසාල යහපතක් උදා කරගන්න පුළුවන්.**

ඒ වගේම ප්‍රාණජීවවල තියෙන ශක්තියට පිළිකා මර්දනය කරන්නත්, පද්ධති දුර්වලතා හේතුවෙන් හට ගන්නා සියලු රෝග වළක්වන්නත් සුවිශේෂීය හැකියාවක් තියෙනවා. පිළිකාවලදී සිදුවන සෛලවල විකෘතිතාවයන් වහා නවත්වනවා. සියලු සෛල ප්‍රකෘතිතාවයට පත් කරනවා. බහිස්‍රාවී පද්ධතිය සක්‍රිය කරල ශරීරයේ තැන්පත් වෙච්ච සියලු අපද්‍රව්‍ය වා පිත් සෙම් කියන තුන් දොස් කිපෙන්නෙ නැති විදිහට ශරීරයෙන් බැහැර කරනවා. ඒ කියන්නෙ ප්‍රාණජීව ආහාරයට ගත්තම ශරීරයට කිසිම අපත්‍යයක්, අපහසුතාවයක් වෙන්නෙ නැතිව අපද්‍රව්‍ය බැහැර කරනවා. අනවශ්‍ය මේදය තැන්පත් වීම වළක්වනවා. ස්ථූලතාවය ක්‍රමයෙන් මග හරවනවා.

**දිනපතා උදේ හිස්බඩ ප්‍රාණජීව කොළ ඉස්ම අඩු කෝප්පයක් පමණ වතුර නොදා (අවශ්‍ය වුණොත් විතරක් ඉතා කුඩා වතුර ප්‍රමාණයක් එකතු කර) පානය කිරීමෙන් අම්ලපිත්ත ප්‍රදාහය නිට්ටාවට සුව කරගන්න පුළුවන්. ඒ මගින් හෘදය වස්තුවත් යථා තත්වයට පත් කරනවා. රුධිර පීඩනයේ වෙනස්වීම් මග හරවල (අධි / අව රුධි පීඩන තත්වයන්) පාලනය කරනවා. රුධිරය පිරිසිදු කරනවා. පීනස් ඇතුළු සියලු සෙම් රෝග සමනය කරනවා. අර්ශස්, භගන්දරා රෝගීන්ටත් ඉතාමත් ගුණදායකයි.**

ප්‍රාණජීව කොළ මිටක් අරගෙන හීන් වෙන්න ලියාගෙන පළා සම්බෝලයක් ආකාරයට නිරන්තරයෙන් ආහාරයට එකතු කර ගැනීමෙන් අර්ශස් රෝගය පාලනය කරගන්න පුළුවන්. ගෙඩි පුපුරල ලේ බඩ යාම වහාම සමනය කරනවා. ශරීරයේ අපද්‍රව්‍ය ඉවත් කරමින් ආමාශයේ, කුඩා බඩවැලේ, මහ බඩවැලේ ඇති සියලු අපද්‍රව්‍ය ඉවත් කරනවා.

ඒ වගේම ප්‍රාණජීවවලින් ශරීර අභ්‍යන්තර ලේ ගැලීම් වළක්වනවා. ඇට මිදුලු වර්ධනය කරනවා. රතු රුධිරානු මට්ටම ඉතා ඉහල අගයක පවත්වාගෙන යනවා. ප්‍රතිශක්තිකරණ පද්ධතිය සක්‍රිය කරනවා. ඒ වගේම අධික ලෙස මත්පැන් පානය කිරීම නිසා හෝ වෙනත් ප්‍රයෝග විපත්ති නිසා ඇති වූ අකර්මණ්‍යතා හේතුවෙන් ප්‍රදාහයට ලක් වූ අක්මාව යථා තත්වයට පත් කිරීමේ සුවිශේෂීය හැකියාවක් ප්‍රාණජීවවල තියෙනවා.

**සියලු අක්මා රෝගීන්ටත්, ග්‍රහණිය අකර්මණ්‍ය වීම තුලින් හට ගන්නා රෝගයක් වන මාන්දම තියෙන රෝගීන්ටත්, ඒ තත්වය නිසා හමේ කොරල ඇති වෙච්ච රෝගීන්ටත් වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් හඳුන්වා දුන් ඖෂධ වට්ටෝරුවක් පහතින් සටහන් කරනවා.**

ප්‍රාණජීව අතු කැබලි ටිකක් සමග කොළ - කිලෝ 1.4 යි, හීන් බෝවිටියා මල් සමග දළු ග්‍රෑම් 400 යි, හීන් ගොටුකොළ සහමුලින් ග්‍රෑම් 400 යි, ඉතා පිරිසිදු සුදු හඳුන් කුඩු ග්‍රෑම් 500 යි.

සුදු හඳුන් කුඩු හැර ඉතිරි සියල්ල හොඳින් කොටාගෙන පෙරාගෙන එන ඉස්ම මිශ්‍රණයට සුදු හඳුන් කුඩු එකතු කරල අව්වෙ වේළගෙන කුඩු මට්ටමට ගන්න (ඉස්ම ගන්නකොට අවශ්‍ය නම්, නටවල හුමාලය ඉවත් වෙච්ච මට්ටමට නිවා ගත් උණු වතුර පත 1/2 ක් එකතු කරන්න. මදි වුනොත් තවත් උපරිම පත 1/2 ක් එකතු කරන්න). ඉන්පසු මී පැණි එකතු කරමින් ගුලි පදමට අනාගෙන කෝපි ගෙඩි පමණට ගුලි හදා ගන්න. දැන් මේ ගුලි උදේ 7.00 ත් හවස 3.00 ත් අතර ඉර අව්වෙන් තෙත ගතිය හිඳෙනකල් වේළගෙන උදේ, දවල්, රාත්‍රී කෑමට පෙර ගුලි 2 බැගින් මාසයක් පමණ ගන්න. වෛද්‍ය පරීක්ෂණයකින් පසු අවශ්‍ය නම් විතරක් තවත් කාලයක් ගන්න.

**අක්මා රෝගීන් සඳහාම තවත් විශේෂ බෙහෙතක්** - ඉඳිබෝඩ (ඉඳි ගහේ බොඩය) ග්‍රෑම් 400 ක්, ප්‍රාණජීව කොළ ග්‍රෑම් 200 ක් වතුර නොදා කොටාගෙන මිරිකගෙන දවසකට තුන් වතාවක් හෝ පුළුවන් ප්‍රමාණයක් පානය කරන්න. ඒ විදිහට දින 7 ක් හෝ ඊට වැඩි ඕනෑම වාර ගණනක් දෙන්න. කිසිම අතුරු ආබාධයක් නැතිව අක්මාවේ අපද්‍රව්‍ය ඉවත් වෙලා යථා තත්වයට පත් වෙනවා.

**උදෑසන නැගිටින කොට නාසයෙන් හොටු දියර ගැලීම, අධික ලෙස කිවිසුම් යාම, දැඩි සූර්යාලෝකයට නිරාවරණය වීම සහ දූවිලි සහිත තැන්වල ගැවසීම නිසා ඇතිවෙන අධික හිසරදය, ඉරුවාරදය... ආදී රෝගයන්ටත් අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් හඳුන්වා දුන් ප්‍රත්‍යක්ෂ බෙහෙතක් පහතින් සටහන් කරනවා. මේ වට්ටෝරුව ලේ පීනස සඳහාත් ප්‍රත්‍යක්ෂයි.**

ප්‍රාණජීව කොළ, රතු ළූණු, හීන් ගොටුකොළ බරින් සම සමව අරගෙන වතුර නොදා මිටෙන් මිට කොටාගෙන මිරිකගෙන දිනපතා උදේ හිස්බඩ දින 21 ක් පානය කරන්න. අවශ්‍ය නම් විතරක් නැවත පානය කරන්න.

ඒ වගේම හෙළ වෙදකමේදි ශීර්ෂ රෝග සුවයටත්, අක්ෂි ආසාදන සඳහාත් ප්‍රධාන වශයෙන්ම ප්‍රාණජීව යොදා ගන්නවා. **පෙනීමේ දුබලතා, ඇස්වල සුද මතු වීම, කබ කඳුළු ගැලීම, ඇස් දැවිල්ල, යමක් දිහා වැඩි වේලාවක් බලාගෙන ඉන්නකොට ඇතිවන ඇස් රිදීම, ඇස්වල සිවි පටල වේළීම... ආදී සියලු රෝග සඳහා අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් හඳුන්වා දුන් චූර්ණයක් පහතින් සටහන් කරනවා.**

හැබැයි මේ බෙහෙත හදා ගන්නෙ සම්පූර්ණයෙන්ම හොඳින් හිරු එළිය වැටෙන තැනක නිරාවරණය කරගෙන. ඒ කියන්නෙ උඩින් නිරාවරණය වෙලා තියෙන්න ඕන. මොකද උඩින් අව්ව වැටෙන්න ඕන නිසා. ඒ නිසා උදේ 7.00 ත් දවල් 12.00 ත් අතර හිරු නැගෙන ශක්තියෙන් බේත හදාගත යුතුයි. ඒ වගේම අමුද්‍රව්‍ය කපා කොටා ගන්නකොට මළ කන යකඩ උපකරණ කිසිසේත්ම භාවිතා නොකළ යුතුයි. ඒ සඳහා ලී උපකරණ සහ සුදු යකඩ, තඹ, පිත්තල........ ආදී උපකරණ පාවිච්චි කරන්න පුළුවන්.

අවශ්‍ය අමුද්‍රව්‍ය :- සූරියකාන්ත ඇට අහුරු 1 යි, හීන් උඳුපියලිය අහුරු 1 යි, ප්‍රාණජීව කොළ අහුරු 3 යි, වේළිච්ච පෙති පුවක් අහුරු 1 යි.

පළමුවෙන්ම පෙති පුවක් කබලේ හොඳින් කළු පාට වෙනකල් බැදගෙන වංගෙඩියක කොටාගෙන පෙනේරයකින් හලාගෙන පැත්තකින් තියන්න. ඊළඟට සූරියකාන්ත ඇට, හීන් උඳුපියලිය, ප්‍රාණජීව කොළ මුලින්ම වතුර නොදා කොටාගන්න. ඉස්ම මිරික ගන්නකොට හුමාලය ගිහින් ඉවර වෙච්ච උණු වතුර පත 1/2 ක් ඊට එකතු කරල මිරික ගන්න. මදි නම් උපරිම වශයෙන් තවත් පත 1/2 ක් එකතු කරන්න. මේ මිශ්‍රණය උදේ 7.00 ත් දවල් 12.00 ත් අතර අව්වෙ පැය

3 - 4 ක් තියල අරගෙන ඊට පහුවදා උදේ 7.00 න් පසු පෙති පුවක් කුඩු එකතු කරල මිශ්‍ර කරගන්න. ඉන්පසු ඒ මිශ්‍රණයත් එදා දවල් 12.00 වෙනකල් පැය කිහිපයක් අව්වෙ තියන්න. ඉන්පසු බෝතලයකට අරගෙන හිරු එළිය වැටෙන්නෙ නැති අඳුරු තැනක තියන්න. කළු පාට / දුඹුරු පාට බෝතලයකට ගන්න පුළුවන් නම් වඩා හොඳයි.

**දැන් මේ බෙහෙත පහත ආකාරයට පාවිච්චි කරන්න**

පළමු දින රාත්‍රී 7.00 ට පමණ ඉදිච්ච ඇඹුල් කෙසෙල් ගෙඩියක් ලෙල්ල ඉවත් කරල නානු මට්ටමට හොඳින් අඹරල පොඩි කරගෙන කකුල් දෙකේ මහපට ඇඟිලි දෙකේ ඇඟිලි බිත්තරයත් සමග මුල් පුරුක වැහෙන මට්ටමට තියල රෙදි පටියකින් බැඳල උදේ ඉර නගින්න පෙර ඉවත් කරල ඇල් දියෙන් හොඳින් සෝදා හැරල පිහදාල වේළෙන්න තියන්න. ඉන්පසු උදේ 7.00 ට විතර, පළමුවෙන් සකස් කර ගත් පෙති පුවක් සහිත බේත් මිශ්‍රණය කකුලේ මහපට ඇඟිලිවලට ඉහත ආකාරයටම තියල බඳින්න. දවල් 12.00 ට විතර සෝදා හරින්න. මේ විදිහට එක දිගට දින 28 ක් කරන්න. අවශ්‍ය නම් විතරක් තවත් කාලයක් කරන්න. හැබැයි කෙසෙල් නානු බඳින්න අවශ්‍ය පළවෙනි දවසෙදි විතරයි. කෙසෙල් නානුවලින් තමයි ඇඟිල්ලේ ශීර්ෂ චක්‍රය වටා තියෙන මස් පිඬු ලිහිල් කරල කේශනාලිකා ප්‍රසාරණය කරල හමට ළං කරල බෙහෙත අද්දගන්න පරිසරය සකස් කරල දෙන්නෙ.

ඒ වගේම **අර්ශස් ගෙඩි, මලබද්ධය තියෙන අයට දිනපතා ප්‍රාණජීව කොළ යුෂ පත 1/2 ක් වතුර නොදා, පිරිසිදු එළඟි තෙල් අවුන්ස 1 ක් සමග මිශ්‍ර කරල දින 10 ක් පමණ පානය කිරීමෙන් ඒ රෝගී තත්වයන් වළක්වගන්න පුළුවන්.** අවශ්‍ය නම් අවසානයේ ඉතිරි වන මණ්ඩියට ඉතා කුඩා ප්‍රමාණයක් වතුර එකතු කරගෙන පානය කරන්න.

ඒ වගේම මරණාසන්න රෝගියෙකුගේ හෝ සමහර විට මියගියා කියල සම්මත කළ කෙනෙකුගේ සූක්ෂම කය / ගන්ධබ්බ කය සම්බන්ධ කරගන්න පුළුවන් නම්, ඒ වගේම මස් ලේ කයේ නහර සහ මස් කුණු වෙලා නැත්නම්, ඒ කයට නැවත පණ ලබාදෙන්න, අභයරතනාලංකාර මහ තෙරුන්වහන්සේ විසින් ප්‍රාණජීව ශාකය මුල් කරගෙන හඳුන්වා දුන් කිරණමය තෙලක් වන ප්‍රාණ වර්ධන තෙලට පුළුවන් බව උන්වහන්සේ ප්‍රකාශ කරල තියෙනවා.

ප්‍රාණජීව ශාකය මුල් කරගෙන උන්වහන්සේ විසින් වරින්වර බෙහෙත් සමාධියෙන් මතු කර දුන් තවත් ප්‍රත්‍යක්ෂ අත්බෙහෙත් වර්ග කිහිපයක් පහතින් සටහන් කරනවා.

**කොහුකිරිල්ල අමු ගෙඩි අහුරු 1 යි, ප්‍රාණජීව කොළ අහුරු 1 යි වතුර නොදා හොඳට නානු මට්ටමට කොටා ගෙන නාන්න පෙර හිස ගල්වල අතුල්ලල විනාඩි 40 ක් පමණ තියන්න. මේ විදිහට දින 7 - 14 ක් පමණ කරන්න. සියලු ඉස්හොරි ඉවත් වෙනවා. උඳුගොව්වන් කැම, අකලට හිසකෙස් පැසීම, වැටීම නතර වෙනවා. හිසකෙස් වර්ධනය වෙනවා. නළල කළු වෙන ගතිය දුරු වෙනවා. ස්මරණ ශක්තිය තීව්‍ර වෙනවා. ස්නායු ප්‍රබෝධමත් වෙනවා. කිසිම අතුරු ආබාධයක් නෑ.**

<u>ලේ යන අර්ශස් ගෙඩි තියෙන අයට</u>

කරල් හැබ ගහ සහමුලින්ම අරගෙන ප්‍රාණජීව කොළ, දඬු කැබැල්ලක් සහ මුල් කැල්ලකුත් එක්ක ඒ හා සමාන බරකින් අරගෙන වතුර නොදා කොටාගන්න. ඉස්ම ටික වෙනම ඉවත් කරගෙන නරක් වීම වළක්වන්න ශීතකරණයක තියන්න. ඉතිරි වන රොඩ්ඩ, දුම් එන මට්ටමට පුච්චා ගත් පොල් කටු මතට දමන්න. එයින් පිටවන දුම විනාඩි 15 කට වැඩිය උදේ හවස අල්ලන්න. වේවැල් පුටුවක ඉඳගෙන පුටුවට යටින් දුම් කබල තියල පහසුවෙන් දුම් අල්ලගන්න පුළුවන්. දවස් 3 - 7 දක්වා මේ විදිහට කරන්න. නිට්ටාවට සුව වෙනවා. ඉවත් කරපු ඉස්ම ටික හගන්දරා රෝගීන්ගේ තුවාල පොඟවන්න යොදා ගන්න. ඒත් එක්කම හගන්දරා රෝගීන්ට උදේ හවස දින 7 කට වැඩියෙන් හෝ සම්පූර්ණයෙන් සුව වෙනකල් කලින් සඳහන් කළ ප්‍රාණජීව යුෂ පත 1/2 ක් සමග පිරිසිදු එළඟි තෙල් අවුන්ස 1 ක් මිශ්‍ර කරල පානය කරන්න දෙන්න.

ප්‍රාණජීව ආහාරයක් වශයෙන් ගන්නකොට කැඳක්, ව්‍යංජනයක්, මැල්ලුමක්, මාළුවක්, බැදුමක් හෝ සලාදයක් විදිහටත් එකතු කරගන්න පුළුවන්.

**<u>බටදැල්ල</u> -** තෙත්, වියළි ඕනෑම කලාපයක කුඹුරුවල හොඳින් දිය ගතිය තියේ නම් ඉතා සරුවට හැදෙන ශාකයක්. ගවයන්ගේ ප්‍රියතම ආහාරයක්. ඊට අමතරව හෙළ වෙදකමට පමණක් සීමා වෙලා තියෙන ඖෂධීය පැළෑටියක්. ගමේ ගොඩේ නම් තණකොළ විදිහට උදුරල විසි කරන මේ බටදැල්ල ඖෂධ ගුහාවක්. ඉතා විසාල තණකොළ පඳුරු ආකාරයට තණපළාවලට සමානව පුරං කුඹුරු වහගෙන හට ගන්නවා. ජලය නැතිවෙනකොට ක්ෂණිකව මැරිල යනවා. නැවතත් ජලය ලැබෙනකොට හට ගන්නවා. ඉතා තද කොළ පාට පත්‍රවලින් යුක්තයි. වෙනත් ශාකයකට හැදෙන්න ඉඩ නොදී ඉතා ඉක්මනින් ව්‍යාප්ත වන සිහින් දඬුවලින් යුක්ත පැළෑටියක්.

ඖෂධීය වටිනාකම අතිමහත්. අද සමාජයේ බහුතරයක් දෙනා පීඩා විඳින අම්ල පිත්ත ප්‍රදාහය, දියවැඩියාව, මලබද්ධය සඳහා දිව්‍යමය ඖෂධයක්. සියලු ලේ නහර සුද්ධ කරනවා. ස්නායු බලගන්වනවා. ස්නායුවල තියෙන අපද්‍රව්‍ය බැහැර කරනවා. ආමාශයේ, කුඩා බඩවැලේ, මහ බඩවැලේ බැඳිල තියෙන සියලු අපද්‍රව්‍ය වහා ඉවත් කර සක්‍රිය කරනවා. ආමාශයට එන්සයිම ගලා ඒම ක්‍රමානුකූල කරවනවා. අම්ලපිත්ත ප්‍රදාහය නිසා හට ගන්නා තුවාල ඉතා ඉක්මනින් සුව කරනවා. යම් යම් විස වර්ග නිසා මහ බඩවැල අක්‍රිය තත්වයට පත්වෙලා තියේ නම් ඒ විස මළ ඔස්සේ ශරීරයෙන් බැහැර කිරීමට සලස්වනවා. ශරීරයේ තැන්පත් වෙලා තියෙන සෙම ගලවල ඉවත් කරනවා. හිසකෙස් වැඩීම තීව්‍ර කරනවා, අකලට හිසකෙස් වැටීම පාලනය කරනවා.

බටදැල්ල සීතල ආහාරයක්. ඒ නිසා සෙම බහුල අය රාත්‍රියට ගැනීමෙන් වළකින්න. මලබද්ධය තියෙන අයට ඉතා ගුණදායකයි. **අර්ශස්, භගන්දරා රෝගීන්ට අනිවාර්යෙන් දිය යුතු ආහාරයක්. බහිස්‍රාවීය පද්ධතියත් වහා සක්‍රිය කරනවා. ඒ වගේම නහර ගැට ගැහෙන රෝගීන්ටත්, කොලෙස්ටරෝල් තියෙන අයටත් ඉතාමත් ගුණදායකයි. බටදැල්ල මගින් ශරීරයේ මේදය තැන්පත් වීම අවම කරනවා. ඒ නිසා අක්මාවේ මේදය තැන්පත් වෙච්ච අයටත් ඉතා ගුණදායකයි.**

මෙච්චර වටිනා ඖෂධීය ගුණ තියෙන බටදැල්ල අද ගවයින් පමණක් ආහාරයට ගන්නවා. නමුත් බටදැල්ල දළු මනුස්සයින් සඳහාත් ඉතා ප්‍රණීත ගුණදායක ආහාරයක්. සාමාන්‍ය පළා ව්‍යංජනයක්, පළා සම්බෝලයක්, මැල්ලුමක්, බැදුමක් හෝ කැඳක් ආකාරයට සකස් කරගන්න පුළුවන්. හැබැයි කෘමිනාශක, වල්නාශක භාවිතා කරන කුඹුරුවල හැදෙන බටදැල්ල ආහාරය සඳහා යොදා ගැනීමෙන් වළකින්න.

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# ප්‍රාණඝාත නොකර
# මැසි මදුරු සමනයට
## වසවිස නැති ධූපයක්...



මැසි මදුරුවන්ගෙන් එන කරදරවලට මේ වෙනකොට නොයෙක් ආකාරයේ කෘතිම රසායනික උපක්‍රම වගේම තාක්‍ෂණික උපක්‍රමත් භාවිතා කරනවා. ඒත් මැසි මදුරු වසංගතවල කිසිම අඩුවක් පේන්න නෑ. කාලයකට බොහොම තදින් ව්‍යාප්ත වෙනවා. කාලයකට තාවකාලිකව යටපත් වුනත් නැවතත් ව්‍යාප්ත වෙනවා. පරිසරය අපිරිසිදු වීමට අමතරව මනුස්සයන් ගුණ හීන කටයුතුවල නිරතවීමත් ඒ කාරණයට බලපාල තියෙනවා. ඒ ගැන මේ සඟරාවෙන් මීට පෙරත් ධර්මානුකූල හෙළිදරව් කිරීම් කරල තියෙන නිසා නැවත විස්තර කරන්න අවශ්‍ය නෑ. කොහොම වුනත් අද වෙනකොට මැසි මදුරුවන් මර්දනයට භාවිතා කරන විවිධ කෘතිම රසායන නිසා කෘමි සතුන් මර්දනයට අමතරව මනුස්සයන්ගෙත් සෞඛ්‍යයට තදබල තර්ජනයක් වෙලා තියෙනවා. මොකද ඒ රසායන බොහොමයක් මනුස්සයන්ටත් විසදායකයි.

උදාහරණ විදිහට පසුගිය කාලයේ නිතර දෙවේලේ ගෙවල්වල භාවිතා කළ මදුරු දඟර නිසා ශ්වසන අපහසුතා ඇතුළු නොයෙක් අතුරු ආබාධ ඇතිවෙන බවත් පසුකාලීනව සොයාගෙන තිබුනා. අනෙක් කාරණය තමයි ඒ වගේ රසායනික උපක්‍රම බොහොම තාවකාලික වීම සහ ක්‍රමයෙන් ඒ සතුන් ඒවාට අනුවර්තනය වීම. රජය පවා මැදිහත් වෙලා ජනතාව කොච්චර දැනුවත් කළත්, මොන තරම් උපක්‍රම භාවිතා කළත්, කාලයක් යටපත් වෙලා තිබිල නැවතත් වසංගතයක් විදිහට පැතිරෙනවා. වර්තමානය ගත්තොත් මේ වෙනකොට මදුරු වසංගතයට කොච්චර නම් උපක්‍රම භාවිතා කරනවද? ඒත් ඩෙංගු වගේ දරුණු මදුරු වසංගත තාවකාලිකව යටපත් වෙනව මිසක් සම්පූර්ණයෙන් තුරන් වෙලා නෑ. ඒවායින් අහිමි වෙච්ච ජීවිත සංඛ්‍යාවත් විසාලයි. අදටත් ඒකෙ අඩුවක් නෑ. ඊට අමතරව තවත් මැසි මදුරු වසංගත සහ ඒවායින් එන රෝගාබාධත් බොහොමයි. ඇතැම් උදවිය ඒවාට යොදන උපක්‍රම / බේත් හේත් අසීමිතව ලාභ ලැබීමේ අරමුණෙන් තමන්ගෙ ආදායම් මාර්ගයක් බවටත් පත් කරගෙන තියෙනවා.

ඒ වගේම මේ සමහර උපක්‍රමවලින් ප්‍රාණඝාතයකුත් සිද්ධ වෙනවා. බෞද්ධයො වශයෙන් කුඩා කෘමි සතෙක් වුනත් හිතාමතා මරණයට පත් කිරීම දහමට ගැලපෙන්නෙ නැති බව අමුතුවෙන් කියන්න ඕන නෑ. නමුත් ඉතින් මේ එන වසංගතවල හැටියට මනුස්සයින්ට තමන්ගෙ ජීවිතය බේරගන්න ඒ වගේ ප්‍රාණඝාතාදී උපක්‍රමවලට තල්ලු වෙන්න සිද්ධ වෙලා තියෙනවා.

මේ කාරණාවලට විසඳුමක් වශයෙන් දැන් මේ හෙළිදරව් කරන්නෙ, **කිසිම ප්‍රාණඝාතයක් නොකර, කිසිම පරිසර දූෂණයක් නොකර, මනුස්ස ශරීර සෞඛ්‍යයටත් අයහපතක් නොවෙන විදිහට, මැසි මදුරුවන් පලවා හරින ධූපයක්** හඳුන්වා දෙන්න. නමුත් මේ සඟරාවෙන් මීට පෙරත් හේතු ඵල දහමට අනුව හඳුන්වා දුන් අධ්‍යාත්මික ගුණ වගාවන් දියුණු කරගත්තොත් තමයි මේ වගේ වසංගතවලට පහසුවෙන් මුහුණ දෙන්න පුළුවන් වෙන්නෙ. ඒ නිසා මේ ධූපය එක්තරා ප්‍රයෝග සම්පත්තියක් විතරයි. නමුත් මේ කාලෙ හැටියට කිසිම අතුරු ආබාධයක් නැති නිසා ඒකත් බොහොම වටිනවා. වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් ලෝක සත්වයා කෙරෙහි දයානුකම්පාවෙන්, සමාධියෙන් මතු කර දුන් මේ ධූපය තමන්ගෙ කාලය, ශ්‍රමය මෙහෙයවල හැමෝටම හදාගන්න පුළුවන්.

මේ සඳහා කොහොඹ කොළ, මදුරු තලාකොළ, අඳු කොළ, පැඟිරිමාන් කොළ, ගඳපාන කොළ යන මේවා වියළි බරින් කිලෝ 1 බැගින් අවශ්‍යයි. මදුරුතලා ගන්නකොට රතුපාට සහ කොළ පාට වර්ග දෙකක් තියෙන නිසා තමන්ට පහසුවෙන් හොයා ගන්න පුළුවන් වර්ගයක් ගන්න. හැබැයි කොළ පාට මදුරුතලා වගේ වල්තලා කියල වර්ගයකුත් තියෙනවා. ඒක ගන්නෙ නෑ. ඒ වගේම මෙතැනදී ගඳපාන කොළ කිව්වම අද බොහෝ දෙනෙක් හඳුන්වන කුඩා කටු සහිත, ඉදුනම දම් පාටට ගම්මිරිස් ඇට වගේ ගෙඩි තියෙන තරමක් කර්කශ ගඳක් සහිත පඳුරු ශාකය නෙවෙයි ගන්නෙ. අද අන්තර්ජාලයේ ගඳපාන කියල පරීක්ෂා කළත් මේ කියන ශාකය තමයි ලැබෙන්නෙ. නමුත් මේ ධූපයට යොදා ගන්න ගඳපාන ශාකය ඊට හාත්පසින්ම වෙනස්. ඒක ඇඹරැල්ල ගහේ කොළ ආකාරයට අතුවල දෙපැත්තට කොළ පිහිටපු, පේර ගහක් තරම් උසට මහතට අතු බෙදිල වැඩෙන කටු නැති


රතු මදුරුතලා


කොළ මදුරුතලා


අඳුකොල


පැඟිරි මාන්


ගඳපාන

ශාකයක්. ඉඩෝර කාලවලට පවා තෙත් වියළි කලාප දෙකේම හොඳින් සරුවට වැඩෙනවා. ගෙඩි සහ මල් කාලයකට විතරයි හැදෙන්නෙ. මල් ළා කොළ පාට මිශ්‍ර සුදු පාටයි. පොඩි කළාම පැඟිරි සහ මින්ට් මිශ්‍ර තරමක් සැර සුවඳක් එනවා. මේ ලක්ෂණවලින් සහ ගමේ ගොඩේ දන්න කියන වැඩිහිටි උදවියගෙන් ඒ ගඳපාන විශේෂය හඳුනා ගන්න පුළුවන්. හඳුනා ගැනීම පහසුවෙන්න පින්තූර කිහිපයකුත් පළ කරල තියෙනවා. සාමාන්‍යයෙන් මේ සඳහා අවශ්‍ය කරන අමුද්‍රව්‍යවලින් මේ ගඳපාන විශේෂය හොයා ගන්න තරමක් අපහසු වෙන්න පුළුවන්. මොකද ඖෂධීය වටිනාකම නොදන්න නිසා, බොහෝ දෙනෙක් හඳුනන්නෙ නැති නිසා ඒ වගේ ගහක් පැල කරගන්න පෙළඹෙන්නෙ නෑ. ඒ වුණත් මේ ගඳපාන ගහේ අතුකැබලි, ඇට හිටවීමෙන් බෝකර ගන්න පුළුවන්.

ඒ වගේම මේ කොළ වර්ග සියල්ලම වියළි බරින් ගත යුතු නිසා අමු කොළ කඩාගෙන වේල ගන්න දවස් 2-3 ක් විතර යනවා. හැබැයි අධික අව්රශ්මියට දමන්නෙ නැතුව මඳ පවනේ වේලා ගත යුතුයි. එහෙම නැත්නම් ඖෂධීය ගන්ධය ඉවත් වෙන්න පුළුවන්. ඒ නිසා හෙවණ තියෙන තැනක මඳ පවනේ හෝ උදේ හවස ඉර අව්වෙන් දවස් කිහිපයක්, කුඩු කරගන්න පුළුවන් මට්ටමට වේලගන්න. එහෙම නැත්නම් තේ කර්මාන්ත ශාලාවල තේ වේලන ක්‍රමයට යම්කිසි උෂ්ණත්වය පාලනය කරන උපකරණයක් භාවිතා කරල මඳ පවනේ වේල ගත්තත් ගැටළුවක් නෑ. දැන් ඒ විදිහට මේ අමුද්‍රව්‍යවලින් වේළිච්ච කොළ අරගෙන කුඩු කරගන්න. මේවා කුඩු කර ගන්නෙ පිටි මට්ටමට නෙවෙයි. සාමාන්‍යයෙන් තේ කුඩු මට්ටමට තිබුණම ප්‍රමාණවත්.

ඉන්පසු නෙල්ලික්කා ග්‍රෑම් 15 ක්, හල් දුම්මල කිලෝ 1 ක්, හොඳ වර්ගයේ පිරිසිදු සාම්බ්‍රාණි කිලෝ 3 ක් සියුම්ව කුඩු කරගෙන සියල්ල **ඉතා හොඳින් මිශ්‍ර කරගන්න.** (හල්දුම්මල කියන්නෙ දැනට ස්වභාවිකව තියෙන හොඳම දුම්මල වර්ගය. කිසිම අපද්‍රව්‍යයක් මිශ්‍ර නෑ. සුවඳත් වැඩියි. ක්ෂණිකව ගිනි ගන්නවා. වෙළෙඳ සැල්වලින් මිලදී ගන්නත් පුළුවන්. නමුත් මිල ටිකක් වැඩියි. වෙළෙඳ සැල්වල තියෙන අනෙකුත් දුම්මල වර්ග මිලෙන් අඩු වුණාට ගල් වැලි ආදී අපද්‍රව්‍ය මිශ්‍ර වෙලා තියෙන්න පුළුවන්.)

දැන් මේ මිශ්‍රණය තමයි මැසි මදුරුවන් පළවා හරින ධූපය. හැබැයි වැඩි හොඳට අවශ්‍ය නම් මේ ධූපය ආරක්ෂක ගාථාවකින් හෝ කිහිපයකින් සෙත් කර ගන්න පුළුවන්. ඒ සඳහා"සබ්බ පාපස්ස අකරණං" ගාථාව හෝ කඳමෙත් පිරිතේ එන පහත ගාථාව හෝ යොදා ගන්න පුළුවන්.

**අප්පමාණෝ බුද්ධෝ අප්පමාණෝ**
**ධම්මෝ අප්පමාණෝ සංඝෝ**
**පමාණවන්තානි සිරිංසපානි**
**අහිවිච්ඡිකා සතපදී උණ්ණානාභි**
**සරබූ මූසිකා**

**කතා මේ රක්ඛා කතා මේ පරිත්තා**
**පටික්කමන්තු භූතානි සෝහං**
**නමෝ භගවතෝ නමෝ**
**සත්තන්නං**
**සම්මා සම්බුද්ධානන්ති**

ඒ වගේම පහත ගාථාවත් ඉතා බලසම්පන්න සාර්ථක ප්‍රතිඵල දෙන ගාථාවක්.

**ඛනේන අග්ගිං ජලමාන නාය**
**සබ්බම් පි චේ චන්දන දාරු ඛීයේ**
**ශරීර ඛීයේ සුගතස්ස ධාතුයෝ**
**මුත්තං සුවණ්ණං සුමනං ව දිස්සති**

මේ ගාථාවේ නිවැරදි අර්ථය හෙළ බොදු පියුම 18 වන කලාපයේ "ආදි පැරැන්නන් දහමට අනුව පෙරදිග ධාන්‍යාගාරය ගොඩ නැගූ හැටි" යන ලිපිය යටතේ පළ කරල තියෙනවා. ඒ නිසා මේ ගාථාවේ අර්ථය සහ බලය දැන ගැනීමට අවශ්‍ය පින්වතුන් ඒ ලිපිය කියවගන්න.

දැන් මේ ධූපය සුදුසු භාජනයකට අරගෙන ඉරටු කෑලි 3 ක් අමුණල ඒවා පිරිත් නූලකින් ඔතාගෙන තමන්ගෙ අතට නූල් පොට අරගෙන මේ එක ගාථාවක් හෝ ගාථා දෙකක් හෝ සියල්ලම හෝ යොදාගෙන සෙත් කරගන්න. එතකොට එක ගාථාවකින් 108 වරක් සෙත් කර ගැනීම ප්‍රමාණවත්. ගාථා දෙකක් හෝ සියල්ලම ගන්නවනම් ඉස්සෙල්ලම එක ගාථාවකින් 108 වරක් සෙත් කරගෙන දෙවනුව ඊළඟ ගාථාවෙන් 108 වරක් සෙත් කරගත යුතුයි. ඒ විදිහට ඒ ඒ ගාථාවලින් වෙන වෙනම සෙත් කර ගත යුතුයි.

ඒ වගේම මේ සෙත් කිරීම පාන්දර 4.00 - 5.00 ත් අතර කාලයේ පටන් අරගෙන කරන්න පුළුවන් නම් තවත් හොඳයි. මොකද මේ වගේ සෙත් කිරීම්වලට බ්‍රහ්ම මුහුර්තය තමයි ඉතාමත්ම සුබ කාලය. දිව්‍ය බ්‍රහ්මාදීන්ගේ ආකර්ෂණය සහ ආශිර්වාදයත් හොඳින් ලැබෙනවා.

දැන් මේ ධූපයෙන් හවස 4.00 - 6.00 අතර කාලයේ නිවසට සහ අවට දුම් අල්ලන්න. ඒ ගන්ධය නිසා තුන් වරුවක් යනකල් මදුරුවන්, හෝහපුටුවන් වගේ මැස්සන් සහ ලොකු මැස්සන් එන්නෙ නැතිව යනවා. ඒ සත්තු මැරෙන්නෙ නෑ. මේ විදිහට ටික කාලයක් දුම් අල්ලන කොට ක්‍රමයෙන් උන් නැවිත් ඉවත් වෙනවා.

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# නිවන් ලැබ දෙන

# කමටහන්...

16 කොටස



මේ දක්වා විස්තර කළ කර්මස්ථාන වැඩීම සම්බන්ධයෙන් කෙරෙන තවත් කෙටි පැහැදිලි කිරීමක් තමයි මේ.

විශේෂයෙන් මේ කාලය වෙනකොට නිවැරදිව කමටහන් වැඩීම සම්බන්ධයෙන් අත්දැකීම් බහුල අය අඩු නිසා ආධුනික පින්වතුන් මුලින්ම කමටහන් වඩාගෙන යනකොට නොයෙකුත් ගැටළු මතු වෙන අවස්ථා තියෙනවා. කායිකව වගේම මානසික වශයෙනුත් ඇතිවන ගැටළු නිසා සමහරු උභතෝකෝටික ප්‍රශ්නවලට මැදිවෙනවා. ඊට පස්සෙ ඉතින් නොයෙක් අයට කියල විස්තර අහල උපදෙස් අරගෙන වැඩුවත්, නොතේරුම්කම නිසා, විස්වාසයකින් තොරව වඩන නිසා අතරමං වෙන අවස්ථාත් තියෙනවා. නමුත් මේ කමටහන් වැඩීම එච්චර සංකීර්ණ කරගත යුත්තක් නෙවෙයි. ලෝකයේ යථා ස්වභාවය අනිච්ච, දුක්ඛ, අනත්ත වශයෙන් වැටහුනා නම් කර්මස්ථානවල මූලධර්මය වැටහෙනවා. එතකොට මුළු ලෝකයම කර්මස්ථානයක් කරගන්න පුළුවන්. ඒ ඒ කර්මස්ථාන වඩාගෙන යනකොට ඇතිවෙන ස්වභාවයන්ට මුහුණ දෙන්න ඕන විදිහ ධර්මතාවයෙන්ම වැටහෙනවා. ඒ ගැන බයවෙන්න දෙයක් නෑ. නමුත් ලෝකයේ යථා ස්වභාවය ඒ විදිහට නොවැටහිච්ච, මූලික දහම් අවබෝධයක් නැති අයට නම් කිසිම ඉලක්කයක් නැතිව කමටහන් වඩන්න ගිහින් පඹගාලක පැටලුනා වගේ වෙන්න පුළුවන්.

ඉතින් මේ කමටහන් වැඩීම සම්බන්ධයෙන් මෑත කාලයේ මහා අත්දැකීම් සම්භාරයක් තිබුන උත්තමයෙක් තමයි වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ. උන්වහන්සේට සමාධියට නැගිච්ච කමටහන් බොහොමයක්ම පොත්පත්වලවත් සටහන් වෙලා තිබිච්ච ඒවා නෙවෙයි. ප්‍රායෝගිකව කාලයටත් ගැලපෙන විදිහටම ධර්ම සමාධියෙන්ම නැගිච්ච කමටහන්. පොතපතට සීමා කරන්න බැරි කමටහන්. ගිහිවතක පටන්ම සාසනික කටයුතු කරගෙන යනකොට උන්වහන්සේව මුණගැහෙන්න ආපු පින්වත් පිරිස් විවිධාකාරයි. ඒ ඒ අයට ගැලපෙන විදිහට සමාධියට නැගිච්ච කර්මස්ථානත් විවිධාකාරයි. ඊට අමතරව පොදුවේ හැමෝටම ගැලපෙන විදිහට නැගිච්ච කර්මස්ථානත් තියෙනවා. ඒ අතර එක එල්ලේම කෙළෙස් ප්‍රහීණ කරන්න, දැහැන් වැඩෙන්න, විවිධ අමනුස්ස හිර බන්ධන කැපෙන්න... ආදී වශයෙන් නැගුන විවිධ කර්මස්ථාන තියෙනවා. ඒ සියල්ලම පාහේ මේ නිවන් මග වඩාගන්න ඍජුව හෝ වක්‍රව උදව් වෙන කර්මස්ථාන.

ඉතින් කොහොම හරි, දහම් අවබෝධයක් ලබපු කෙනෙකුට නම් මේ මොන කර්මස්ථානයක් වුනත් තමන්ට ගැලපෙන විදිහට දැනගෙන වැඩුවොත් අවැඩක් වෙන්නෙ නෑ. දැන් මේ වර්තමානයේ කර්මස්ථාන වඩාගෙන යනකොට තමන්ට ඇතිවන කායික මානසික විවිධ ගැටලු ගැන විවිධාකාරයෙන් අහන්න ලැබෙනවා. අන්න ඒ වගේ අවස්ථාවල පොදුවේ ඇතිවන තත්වය ගැන අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් සිදු කරන ලද කෙටි පැහැදිලි කිරීම් කිහිපයක් තමයි මේ සටහන් කරන්නෙ. මේ පැහැදිලි කිරීම් හැම කමටහනකටම අදාළ කරගන්න පුළුවන්. ඊට පස්සෙ තමන්ගෙ අත්දැකීමෙන්ම තමයි ක්‍රියාත්මක වෙනන ඕන.

බොහෝ කොටම මේ කර්මස්ථාන එක දිගට වඩාගෙන යනකොට ඔලුව හිර කරන ස්වභාවයන්, තද කරන ස්වභාවයන්, ඇඟපත වේදනා... ආදිය ඇතිවෙනවා. විශේෂයෙන් දස දිසාවට මෙත් වඩනකොට හිත එක දිසාවකට යොමු කරගෙන ඉඳෙද්දි ඒ පැත්තට මුළු ලේ ධාතුවම ගිහින් හිර වෙන ස්වභාවයක් එන්න පුළුවන්. පසුදිග දිසාවට හිත යොමු කරගෙන ඉන්නකොට ඒ පැත්තට මුළු ලේ ධාතුවම ගිහින් තද වෙලා හිර වෙන ස්වභාවයක් එන්න පුළුවන්. ඒ වෙලාවෙදි නොදන්න අය බය වෙලා කමටහන් වැඩීම නවත්වනවා. මොකද ඒකට හේතුව දන්නෙ නැති නිසා. නමුත් එහෙම වෙන්නෙ ශරීරයේ මොනවහරි විවිධ විස බන්ධන මගින්, මාර පාක්ෂික බලවේග මගින්, එහෙම නැත්නම් කායික වශයෙන් ඇතිවෙච්ච ආබාධවලින් යම් කිසි හිර කිරීම්වලට ලක්වෙලා තියෙන නිසා. ඒ වගේ විවිධ හේතු තියෙනවා. හැබැයි මුලදි ඒ විදිහට හිර කිරීම් ඇවිත් අන්තිමට ස්නායු නිදහස් වෙනවා.

මොකද ශරීරගත ආබාධ නිසා, එහෙම නැත්නම් අමනුස්ස / මාර පාක්ෂික බලවේගවල ආකර්ෂණයන්ට ලක්වෙලා ඒ අය සම්බන්ධ වුනාම එතැනින් එහාට වඩන්න ඒ අය ඉඩ දෙන්නෙ නෑ. පීඩනයක් එල්ල කරල නවත්වන්න බලනවා. ඉතින් ඒ වගේ හිර කිරීම්, බලපෑම් නැති කෙනෙක් හොයාගන්න නෑ. කර්මානුරූපීව සසරෙ එනකොට අපි හැමෝටම ඒවාට අඩු වැඩි වශයෙන් මුහුණ දෙන්න සිද්ධ වෙනවා.

ඒ නිසා සාසන ආශිර්වාදය අරගෙන මාර්ගය වඩාගෙන යනකොට ඒ මාර පාක්ෂික බලවේග ඉක්මවල යන වෙලාවක් එනවා. එතකොට කඩාගෙන බිඳගෙන නිදහස් වෙනවා. හැබැයි එතකල් ඇඟට හරි අමාරුයි. ඒ නිදහස් වෙන දවස එන්න සමහරවිට හුඟක් කල් යන්න පුළුවන්. ඒකත් ඒ ඒ

පුද්ගලයා අනුව තීරණය වෙනවා. හැබැයි ඒ වගේ දේවල් සියල්ලන්ටම එක වගේ සිද්ධ වෙනවත් නෙවෙයි. විශේෂයෙන් කවදහරි අභිඥාලාභී වගේ යම් කිසි ඉහල ශක්තියක් මතු කරල ලෝකයට යහපතක් කරන්න ශක්තියක් තියෙන කෙනෙක් හිටියොත්, එතකොට මාර පාක්ෂික බලවේග වැඩිපුර ක්‍රියාත්මක වෙලා කොටු කරන්න බලනවා.

අන්න එතකොට ඒ කාරණය ඉක්ම යන්න ඕන. ඒ සඳහා මේ කමටහන් පාරමිතා ගුණයක් වගේ වඩාගෙන යන්න ඕන. එහෙම වැඩිල ශක්තිය නැගෙන්න ඕන. හැබැයි එතකල් හරි අමාරුයි, ලොකු පීඩනයක් එනවා. නමුත් ඒක ගණන් නොගෙන සම්මා වායාමය, විරිය සම්බොජ්ජංගය ආදියෙන් වඩාගෙන යන්න ඕන. එහෙම වැඩිල ඉක්මවන අවස්ථාවට එනකොට නිදහස් වෙනවා. නිදහස් වුනාට පස්සෙ නිදහස් හිත ක්‍රියාත්මකයි, බොහොම සැහැල්ලුයි. මුලදි අමාරු වුනාට, පස්සෙ සැහැල්ලුයි. පීඩනය යම් කිසි මට්ටමකට ඇවිත් පුපුරල නිදහස් වෙන වෙලාවක් එනවා. එහෙම දැනෙනවා. නමුත් ශරීරයට කිසිම හානියක් වෙන්නෙ නෑ. මොකද මේ මස් ලේ කය නෙවෙයි, කිරණ තමයි ඒ විදිහට පුපුරන්නෙ. හිර කරපු කිරණ කදම්බයක් වෙඩිල්ල වගේ පුපුරල නිදහස් වෙලා යනවා. එතකොට ශරීරය ආකාසයට ගියා වගේ කිහිප වතාවක් පාවෙලා නිශ්චල වෙනවා. අන්න එතකොට නිදහස්. හැබැයි ඒක එකපාරටම සිද්ධ වෙන්නෙ නෑ. කාලයක් වඩාගෙන යන්න ඕන.

ඒ වගේම **කමටහන් වඩාගෙන යනකොට සමහරුන්ට නහයෙන් ලේ කැටි එනවා, වමනෙ යනවා, බඩ යනවා, නහය හිර වෙලා, සෙම හිර වෙලා, තද වෙලා බැඳිල තිබුනම ඒවා ගලවගෙන යනවා. පෙළක් අයට කලන්තෙ දානවා. එකපාරටම බයවෙලා මොනව වුනාද කියල කලබල වෙනවා. නමුත් මොනවහරි හිර වෙලා තදවෙලා තිබ්බ්ච කුණක් තමයි ඒ විදිහට ගලවගෙන යන්නෙ. තදේට බැඳිල හිර වෙලා තිබ්බ්ච ඒවා කඩාගෙන බිඳගෙන යනවා. නමුත් ඕක දන්නෙ නැති, හරියට බණක් භාවනාවක් කරන්නෙ නැති, කමටහන් වඩල පුරුද්දක් නැති අය හිනා වෙනවා, උසුළු විසුළු කරනවා, පිස්සු භාවනාවක් කියනවා.** ඉතින් මේ ගැන දන්නෙ නැති ලෝකයා ඔය වගේ විවිධාකාර දේවල් කියයි. නමුත් හරියට වඩපු කෙනා දන්නවා, එහෙම වඩාගෙන යනකොට එන අපහසුතා සහ ඒවායෙන් නිදහස් වුනාම ලැබෙන සැනසීම.

මේ සම්බන්ධයෙන් වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ තවදුරටත් මේ විදිහෙ අත්දැකීම් සහිත පැහැදිලි කිරීමක් කරනවා.

මම මුල් කාලයේ කවි සමාධිය ගන්න උත්සාහ කරනකොට මේ වගේ අපහසුතාවයන් බොහොම තදට ඇවිත් හිරවුනා. ඒක පුදුමාකාර හිරවීමක්. ඒත් ගණන් ගන්නෙ නැතිව එක දිගට කවි සමාධිය නැගෙන කල්ම වඩාගෙන ගියා. එහෙම වඩාගෙන යනකොට එක අවස්ථාවකදි සම්පූර්ණයෙන් පැල පී ගෙඩියක් විතර ප්‍රමාණයට ගුලි වෙලා මොළය හිරවෙනව වගේ දැනෙන්න ගත්තා. ඊට පස්සෙ ටෙනිස් බෝලයක් තරම් හිරවුනා. ඊට පස්සෙ දොඹ ගෙඩියක් තරම් ප්‍රමාණයට හිර වෙන්න ගත්තා. ඊළඟට ජිල් බෝලයක් තරමට දැනෙන්න ගත්තා. එතකොට හරි අමාරුයි. කිටි කිටි ගගා හිර වෙනව දැනෙනවා. එහෙම තමයි දැනෙන්නෙ. මේ මස් ලේ මොළය නෙවෙයි, කිරණමය මොළයේ හිරවීම තමයි ඒ විදිහට දැනෙන්නෙ. එහෙම ගිහින් අන්තිමට අබ ඇටයක් තරමට, ඉඳිකටු තුඩක් තරමට කුඩා වෙලා අන්තිමට ඒ හිරවීම අතුරුදන් වෙලා ගියා.

එතකොටම හිස් මුදුන ආකාසයට විවෘත වුනා වගේ දැනෙන්න ගත්තා. තනිකරම විවෘත වෙලා එළිය වැටිල වගේ උඩින් ආකාසය පේනවා. සම්පූර්ණ වට රවුමක් විදිහට ප්‍රමාණයක් කෙලින්ම ආකාසයට නිදහස්. එතකොට තමයි අධ්‍යාත්මික ශක්තිය නැගිල කවි නැගෙන්න පටන් ගත්තෙ. ඒත් එක්කම තොල කට වේළිලා ගිහින් විනාඩි 5 ක් වගේ කෙටි කාලයක් ඇතුලත වතුර බෝතල් 4 ක් බිව්වා. ඒ වතුරවලට වෙච්ච දෙයක් නෑ. බඩෙත් නෑ, මුත්‍රා වශයෙන් පිට වුනෙත් නෑ, මුකුත් දැනුනෙත් නෑ. සියල්ලම කිරණ විදිහට ශරීරයේ හිර වෙලා තිබ්බ්ච අපද්‍රව්‍යත් එක්ක අහක් කරල පිට කළා. ඒ කියන්නෙ මෙච්චර කාලයක් ශරීරයේ බැඳිල හිර වෙලා තිබ්බ්ච අපද්‍රව්‍ය පරමාණු බවට පත් කරල වතුරත් එක්ක කිරණක් විදිහට දිය කරල ශරීරයෙන් පිට කළා. ඊට පස්සෙ අර කලින් තිබ්බ්ච අමාරුකම් ආවෙ නෑ.

ඊට පසුකාලීනව මට දීපු වස විස, වින බන්ධන වගේ ඒවායින් තමයි හිර වෙන්න ගත්තෙ. ඒක වෙනම කාරණයක්. ඒ හිරවීම තවමත් ස්නායුවල තියෙනවා. වෙන කෙනෙකුට එහෙම වුනා නම් අංශභාගය හැදෙනවා. නමුත් ඒ වගේ තත්වයට පත් නොවී බේරිලා හිටියෙ ඒ වෙනකොට මතු කරගත්ත ශක්තිය නිසා. ඒ ශක්තිය මතු කරගෙන තිබුනෙ නැත්නම් ඒකාන්තයෙන්ම අංශභාග තත්වයට පත්වෙනවා.

ඒවගේම තමයි ඒ කාලෙ මම අත්වැල් භාවනා කියල සමාධි භාවනාවෙන්, කවි රටාවකින් පිරිස විදර්ශනාවට ගෙනියනවා. නූලක් හැමෝගෙම අතට දීල ඒක අන්තිමට මගේ අතට අරගෙන තමයි සමාධි කවියෙන් කරගෙන යන්නෙ. සමහරුන්ට එකදිගට කරගෙන යන්න බෑ, වමනෙ යනවා. පෙළක් අයට කලන්තෙ හැදිල වැටෙනවා. එතකොට ඒ අයව අනෙක් අයට බාධා නොවෙන්න හෙමින් සීරුවේ ඉවත් කරනවා. මොකද මේක ඔක්කොටම එක වගේ වඩන්න බෑ. බොරුවට තමන්ට දැහැන් තියෙනව කිව්වොත් එහෙම ඉන්නම බෑ. ඒ කාරණය පැහැදිලිවම පේනවා. ඒ වගේ උත්තරීතර මිනිස් ධර්මයක් බොරුවට ප්‍රකාශ කළොත් ඒ පුද්ගලයාට එතැන ඉන්න බෑ. කලන්තෙ හැදෙනවා.

**ඒ වගේම සමහරුන්ට දැහැන්, සමාධි එහෙම වැඩුනම නොපෙනෙන ලෝකයේ විවිධාකාර දේවල් පේන්න ගන්නවා. ගුප්ත ලෝකයේ ඉන්න විවිධ සත්ව කොටස් ඇවිත් සම්බන්ධ වෙනවා. ඔය වගේ වෙලාවට සමහරුන්ට මාන්නයක් එහෙම ආවොත් මාර පාක්ෂික බලවේග පවා සම්බන්ධ වෙලා විවිධ අදහස් දෙනවා. ඔබ දැන් බුදු වෙලා, අනාගාමී වෙලා, අහවල් දෙයියන්ගෙ වරමක් තියෙනවා... ඔය විදිහට විවිධ අදහස් දෙනකොට ඒවාට රැවටුනොත් එහෙම, තැන් තැන්වල කියන්න ගියොත් එහෙම වැඩේ වරදිනවා. මග වැඩෙන්නෙ නැතිව යනවා. ඒ නිසා ඒ වගේ අවස්ථාවලින් ප්‍රවේසම් වෙන්න ඕන. එළියක් දැක්ක පළියට, දෙවියො බ්‍රහ්මයො ඇවිත් සම්බන්ධ වුණා කිව්ව පළියට නිවන හැර වෙන දේකට හිත තියන්න හොඳ නෑ. නැත්නම් විවිධ මාර පාක්ෂික බලවේගවලට කොටුවෙන්න පුළුවන්.**

ඉතින් ඒ කාලෙ ඔය විදිහට පැය 1 1/2 - 2 ක් විතර සමාධි භාවනාවෙන් පිරිස ගෙනියනවා. සමහර දවස්වලට පැය 6 - 7 කරපු අවස්ථා තිබුනා. ඒක ඉතින් ඒ අවස්ථාවෙ සහභාගී වෙලා ඉන්න පුද්ගලයො අනුවත් තීරණය වෙනවා. ඒ කාලෙ අත්වැල් භාවනාව 



# සමාධිමය අත් බෙහෙත්...



වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් ලෝක සත්වයා කෙරෙහි දයානුකම්පාවෙන් මතු කර දුන්, රටම ගිල ගත් වකුගඩු අක්‍රිය වීමේ රෝගය ඇතුළු තවත් රෝග රැසකට ප්‍රත්‍යක්ෂ බෙහෙත් වට්ටෝරු කිහිපයක් පසුගිය කලාප අටෙන් (88, 89, 90, 91, 92, 93, 94, 95) හඳුන්වා දුන්නා. දැන් මේ හඳුන්වා දෙන්න යන්නෙ තවත් රෝග රැසකට උන්වහන්සේ විසින් බෙහෙත් සමාධියෙන් මතු කර දුන් ප්‍රත්‍යක්ෂ ඖෂධ කිහිපයක්.

ඒ වගේම විශේෂයෙන් දැනුවත් වෙන්න ඕන, මේ ඖෂධ හදාගෙන පාවිච්චි කරන්න පෙර, රෝගවලට මුල් වූ කර්මවේග යම් පමණකට හෝ ගෙවා හරින්න, මේ සඟරාවෙ මීට පෙරත් පළ කරල තියෙන සාසනික ප්‍රතිකර්ම පුළුවන් තරම් අනුගමනය කරන්න (විශේෂයෙන් 27, 28, 29, 39, 55, 83, 86 කලාප). එහෙම නැත්නම් ඒ බේත් හරියට ප්‍රත්‍ය වෙන්නෙ නැතිව යනවා. මොකද කෙනෙකුට ප්‍රයෝග විපත්තිවලින් හැදෙන රෝගයක් වුනත් කර්මය මුල් වෙලාමයි හට ගන්නෙ. ඒ විදිහට එන කර්මවේගවලට සාසනික ප්‍රතිකර්ම අනුගමනය නොකරන අයට මේ ප්‍රබල බේත් වර්ග හදල දෙන්න යෑමෙන් වළකින්න. මොකද නැත්නම් අනුන්ගෙ කර්මවේගවලට කරගහන්න ගිහින් ඒ අයගෙ කර්ම දෝසවල බලපෑම් තමන්ටත් එන්න පුළුවන්.

ඒ වගේම විශේෂ ආශිර්වාද පූජාවන්ට සහ විශේෂ පුණ්‍යානුමෝදනාවන්ට සහසම්බන්ධ වීමෙනුත් ඒ කර්ම දෝස යම් පමණකට හෝ ගෙවාගෙන යහපත් ශක්තියක් ගොඩනගා ගන්න පුළුවන්. ඒ නිසා ඒ ආකාරයේ විශේෂ පුණ්‍යානුමෝදනා, ආශිර්වාද පූජා, ආර්ය මෙත් වැඩීම්... ආදිය සිද්ධ කෙරෙන පූජනීය ස්ථානවලට සම්බන්ධ වෙලා ඒ පුණ්‍ය ශක්තිය ගොඩනගා ගන්න කටයුතු කරන්න. ඒ නිසා මේ ප්‍රතිකර්ම සහ බෙහෙත් පටලවා නොගෙන, හේතු ඵල දහම අනුව මේ ක්‍රමවේද දැනගෙන අනුගමනය කළ යුතුයි. ඒ වගේම මීට පෙරත් සඳහන් කළා වගේ මේ හැම බෙහෙතක්ම ඒ ඒ පුද්ගලයන්ගේ කර්ම ශක්තීන්ට යටත්ව ප්‍රත්‍ය වෙන බවත් සළකන්න.

ඒ වගේම මේ අමුද්‍රව්‍ය සපයගන්න හැම අවස්ථාවකදීමත්, ඒ බෙහෙත් හදන අවස්ථාවලදීත්, මේ සඟරාවෙන් මීට පෙරත් සඳහන් කරල තියෙන දැහැමි කියල සමාධියෙන් බුද්ධ වන්දනාවෙ එහෙමත් ගෙනියනවා. ඒකත් සමාධිය වැඩෙන එක්තරා ක්‍රමයක්. එතැනදි සමාධියෙන්ම ආකාසයට නග්ගල ඉන්පසු ජේතවනාරාමයට ගිහින් බුදුන් වහන්සේ වන්දනාමාන කරල එනවා. එතකොට සම්පූර්ණයෙන්ම ආකාසයෙන්ම යනව වගේ දැනෙනවා. උඩින් පා වෙලා යනවා. සමහර අය බයවෙලා මගදි ඇස් අරිනවා. එක පාරටම බිම ඇදගෙන වැටුන වගේ දැනෙනවා. සමහරු පොළවත් බදා ගන්නවා. ඇස් දෙක පියාගෙනම හිටියොත් පේන්නෙ සම්පූර්ණ මනෝමය කය යනව වගේ. ඒ විදිහට උඩින් ගිහින් හරියටම අදාළ තැනට බැහැල බුදුන් වහන්සේට වන්දනාමාන නමස්කාර කරල ඒ සියලු වැඳුම් පිදුම් කරල ආපසු හිටපු තැනටම ආවම තමයි අර වගේ එකපාරටම දැනෙන්නෙ. සමහරු ඇස් අරින්න හැදුවත් බැරිව යනවා. භාවනාව පටන් අරගෙන ටික වෙලාවක් ගියාම තමයි එහෙම වෙන්නෙ. අන්තිමට ගිහින් ඇවිත්, දැන් ඇස් අරින්න කිව්වම තමයි ඇස් අරින්නෙ. එතකොට දැනෙන්නෙ, හරියට ගමනක් ගිහින් සියලු කටයුතු කරල ඇවිත් ඇස් ඇරිය වගේ.

ඒ කාලෙ අපි මූලිකවම දීපු කමටහනක් තමයි "අවංකයි - පිරිසිදුයි..." ආදී වශයෙන් කියන කමටහන. අවංකයි කියනකොට නාසය ළඟට හිත තියාගෙන හුස්ම ඉහලට අදිනවා. පිරිසිදුයි කියනකොට හුස්ම පහතට හෙළනවා. නැවතත් පවිත්‍රයි කියනකොට හුස්ම ඉහලට අදිනවා. ප්‍රභාස්වරයි කියනකොට පහලට හෙළනවා. ඔය විදිහට ඒ කර්මස්ථානය වඩල ඉවර වෙනකල්ම හුස්ම ඉහල පහල හෙලන්න ඕන. එතකොට ඇඟ ඇතුලෙ හිර වෙලා බැඳිල තිබිච්ච අපද්‍රව්‍ය පිට වෙනවා. ඒක එක්තරා ව්‍යායාමයක්. ඒ විදිහට අපද්‍රව්‍ය පිටවෙලා ඇඟ ඇතුල සුද්ධ වෙලා කිරණමය කය සුද්ධ වෙනවා. එතකොටත් මෙච්චර කාලයක් තිබිච්ච හිරවීම් ඇරිල ගිහින් නිදහස් වෙනවා. හේතු තියෙන අයට ධ්‍යානවලට සම වදින්නත් පුළුවන්කම ලැබෙනවා. ඉදිරි මාර්ගය වඩාගෙන කෙළෙස් ප්‍රහීණ කර ගන්න පහසුවක් වෙනවා.

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**

ක්‍රමවේද පුළුවන් තරම් අනුගමනය කරන්න වග බලාගන්න. ඒ මගින් ඖෂධවල ගැබ් වන ශක්තිය වැඩි වෙලා වඩාත් සාර්ථක ප්‍රතිඵල ලබා ගන්න පුළුවන්. මේ අමුද්‍රව්‍ය සඳහන් කරල තියෙන්නෙ එක්තරා අනුපාතයකට නිසා ඒ අනුපාතයම එන විදිහට තමන්ට අවශ්‍ය විදිහට අමුද්‍රව්‍ය ප්‍රමාණයන් අඩු වැඩි කරගන්නත් පුළුවන්.

පින්වතුන්ගේ පහසුව පිණිස මේ සඟරාවේ සඳහන් කරන සමහර ප්‍රබල බෙහෙත් වර්ග දැනටමත් නිෂ්පාදනය කරල, වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානය මුල් කරගෙන පැවැත්වෙන වෛද්‍ය සායනවලින් ලබා ගන්නත් පහසුකම් සලසල තියෙනවා.

## 1 පොතුකබර සුවයට

මීට පෙර හෙළ බොදු පියුම 17, 18 කලාපවලින් හඳුන්වා දුන් රක්තවාත තෙල් ආලේප කරල විනාඩි 5 ක් විතර පිරිමැදල උණු අළු පොට්ටනියකින් උදේ 7.00 ට පමණ විනාඩි 5 ක් විතර තවන්න. ඒ විදිහට දින 7 ක් කරන්න. අවශ්‍ය නම් වැඩිපුර කරන්න. පොතුකබර තුවාල හැදිල හෝ ඉස්ම ගලන මට්ටමට හෝ ඇවිත් තියේ නම් මේ තෙල් ආලේප කරන කාලය තුල කිසිසේත්ම ඒ ස්ථාන වතුරට තෙමීම නොකළ යුතුයි. මොකද තෙමුනොත් වණ වෙන්න ගන්නවා. තුවාල හැදිල නැත්නම් තෙමුනට ගැටළුවක් නෑ.

## 2

හෙළ බොදු පියුම 17,18 සඟරාවලින් හඳුන්වා දුන් රක්තවාත තෙල හිඳ ගැනීමෙන් පසු එන තෙල්කාවලින් කෝපි ගෙඩි පමණ ගුලි 2 ක් උදේ, හවස කෑමට පසු 1 බැගින් දින 14 ක් ගන්න. ඒත් සමගම ගම්මිරිස්, සිව්යා, ගස්බුලත්, ගජපිප්පිලි, නාගවල්ලි බුලත් කියන මේවායින් කොළ 7 බැගින් අරගෙන කොටාගෙන වණ්ඩුවේ තම්බගන්න. ඒවායින් පොට්ටනි හදල පොල්කටු දුමට ඒ පොට්ටනි අල්ලල, කබර තියෙන ස්ථාන තැවීමෙන් පසු උදේ 7.00 ට විතර සහ සවස 7.00 ට විතර රක්තවාත තෙල් රවුමට ආලේප කරන්න. එහෙම ආලේප කරල දවසක් හැර දවසක් උදේ 7.00 ට පමණ, 18 වන සඟරාවෙන් පෙන්වා දුන් විදිහට කකුලේ මහපටැඟිලිවල ශීර්ෂ චක්‍රවලින් ලේ අරින්න. මේ විදිහට මාසයක් පමණ කරන්න. **පොතු කබර, සුදු කබර, සර්ප දෂ්ට කිරීම් නිසා තැන්පත් වූ විස ඇත්නම් ඒ සියලු විස ඉවත් වෙනවා.** ඉහත රෝග ඇතුළු සියලු චර්ම රෝග සුව වෙනවා. (තුවාල තියේ නම් මේ රක්තවාත තෙල් ආලේප කරන කාලය තුල ඒ ස්ථාන තෙමීමෙන් වළකින්න.)

## 3 පොතු කබර සුවයට

පොල්පිති අළු 1/3 කට වැඩිය එන විදිහට එකතු කරගත් උණු අළු පොට්ටනියකින් උදේ හවස කබර තියෙන තැන්වල උඩ සිට පහලට රවුමට තවන්න. ඉන්පසු රක්තවාත තෙල් රවුමට ආලේප කරන්න. දින 3 ක් ගියපසු උදේ 7.00 ට පමණ, කලින් සඳහන් කළ ආකාරයටම ලේ අරින්න. කකුල්වල පමණක් කබර තියේ නම් කකුල් දෙකේ මහපටැඟිලිවල ශීර්ෂ චක්‍රවලින් විතරක් ලේ අරින්න. ඉනෙත් ඉහලට තියේ නම් කකුල්වල මහපට ඇඟිලිවලට අමතරව අත්වල මහපටැඟිලිවලිනුත් ලේ අරින්න. මේ විදිහට 7 වතාවක් කරන්න. තුන් වතාවක් ලේ අරිනකොට ප්‍රතිඵල ප්‍රමාද නම් රක්තවාත තෙල් මිලි ලීටර 2.5 බැගින් අරගෙන 17 සඟරාවේ දක්වා ඇති ආකාරයට 7 වතාවක් පමණ වස්ති කරන්න. දින 14 කින් සුව වෙනවා. කබර පොතු ගැලවෙන මට්ටමේ නම් කිසිසේත්ම නොතෙමිය යුතුයි. තෙමුනොත් වණ වෙන්න පුළුවන්. (මේ තෙල පොතු කබරවලට විශේෂයි. අනික් කබරවලටත් සුදුසුයි.)

## 4

දවසකට පිරිසිදු ඇල් වතුර බෝතල් 6 කට වඩා පානය කරල, ග්‍රෑම් 250 කට වැඩි බරකින් යුත් ඉරිවේරිය අමු ගහක් හෝ ඒ බරට සමාන ගස් කිහිපයක් සහමුලින්ම අරගෙන පුළුස්සල එන අළු ඇල් දියෙන් අනාගෙන කබර තියෙන තැන්වල උදේ, හවස මාසයක් පමණ ආලේප කරන්න. **සුදු කබර සඳහා විශේෂයි.** (තෙමුනට ගැටළුවක් නෑ.)

## 5 කබර රෝගයට තෙලක්

අවශ්‍ය අමුද්‍රව්‍ය : වේළිච්ච පොල් ගෙඩි 21 යි, හීන් උඳුපියලිය කිලෝ 1 යි, හීන් බෝවිටියා පස්පංගුව කිලෝ 1 යි (එක පංගුවකින් ග්‍රෑම් 200 බැගින්), ඇත්තෝර පස්පංගුව කිලෝ 1 යි (එක පංගුවකින් ග්‍රෑම් 200 බැගින්), හීන්ගොටු කොළ සහමුලින්ම කිලෝ 1 යි, ඉරමුසු සහමුලින්ම ග්‍රෑම් 400 යි, අමුකහ ග්‍රෑම් 200 යි, ලොඳ නැති රන් තැඹිලි ඇට්ටි ගෙඩි 3 යි, පොල් ගහේ කොටස්වලින් එන අළු වැඩි වෙන විදිහට ලිපේ අළු ග්‍රෑම් 200 යි, සුදු පොල්තෙල් බෝතල් 1 යි, කුඩා රත්රන් කැබැල්ලක්.

පළමුවෙන්ම පොල් ටික ගාගෙන මිරිකගෙන පළමු කිරි ටික පැත්තකින් තියන්න.හීන්උඳුපියලි,හීන්ගොටුකොළ, හීන් බෝවිටියා, ඇත්තෝර, ඉරමුසු සමග කලින් ඉතිරි වෙච්ච පොල් කුඩු හොඳින් කොටාගෙන අවශ්‍ය පමණට වතුර දමා මිරිකගන්න. ඊට පසු අමු කහ ටික කොටාගෙන, රන් තැඹිලි ඇට් ගෙඩි තුනෙන් වතුර අවුන්ස 21 කට දියකරගෙන ඒකත් එක්ක රත්රන් කැබැල්ලත් එකතු කරල ලිපේ තියල හිඳගන්න. තෙල මතු වෙනකොට ලිපේ අළු සමග සුදු පොල්තෙල් බෝතලයත් එකතු කරන්න. ඒ අවස්ථාවෙදිම කලින් මිරිකල තියාගත්ත පළමු කිරි ටිකත් එකතු කරන්න. සෙල්සියස් අංශක 80 උෂ්ණත්වයේ ගින්දර පාලනය කරමින් හිඳගන්න. සුදු දුම ඉවර වුනාට පසු සම පාකයේදි බාගන්න. මොකද සුදු දුම තියෙන කල් වතුර ගතිය තියෙනවා. සුදු දුම ඉවරයි කියන්නෙ වතුර ගතිය හිඳිල ගිහින්. ඒ වගේම මේ අමුද්‍රව්‍ය කපා කොටා ගැනීමේදී මලකන යකඩ උපකරණ භාවිතා කිරීමෙන් වළකින්න. සුදු යකඩ, තඹ, පිත්තල, ගල් හෝ ලී උපකරණ ආදිය භාවිතා කරන්න.

මේ විදිහට හිඳගත්ත තෙල උදේ 7.00 ට විතර කබර තියෙන තැන්වල රවුමට ආලේප කරන්න. දවල් 12.00 ට සෝදා හරින්න. මාස 2 ක් පමණ යනකොට ඕනෑම කබර රෝගයක් සුව වෙනවා. සහමුල ඇඟ පුරාම කබර තියෙන රෝගියෙක් නම් 75% ක් පමණ සුව වෙනවා. ඉතිරි ටිකත් සුව වෙනකල් තෙල් ආලේප කරන්න.

## 6 ඕනෑම කබර රෝගයක් සඳහා

දෙමුහුම් නොකළ පේර කොළ, ඇත්තෝර කොළ, අමුකහ, ඉරිවේරිය අමු කොළ යන මේවා කොටාගෙන වතුර නොදා මිරිකගෙන යුෂය අරගෙන කකාරවල නිවුනට පසු පිරිසිදු එළගිතෙල් මිශ්‍ර කරල කබර තියෙන තැන්වල උදේ හවස ආලේප කරන්න. ඇල් දියෙන් පමණක් සෝදන්න. උණුකර නොගත් පිරිසිදු ඇල් වතුර පමණක් පානය කරන්න. නාගරික අය නළ ජලය පාවිච්චි කරනවනම් ඒ ජලය පෙරාගෙන ගුරුලේත්තුවක් වගේ මැටි භාජනයකට එකතු කරල හුළං වදින්න සූර්ය රශ්මියට නිරාවරණය කරල පානය කරන්න ගන්නවනම් වඩාත් හොඳයි. සුව වෙනකල් ඇල් දියෙන් පමණක් ස්නානය කරන්න.

## 7 පොතුකබර සඳහා විශේෂයි

හීන් ගොටුකොළ සහමුලින් හොඳින් වේළල අරගෙන, ›

කෝමාරිකා පත්‍රවල තියෙන ජෙලි කොටස (ලොඳය) සමග මිශ්‍ර කරල කොටාගෙන කබර තියෙන තැන්වල උදේ 7.00 ට පමණ ආලේප කරන්න. පැය 2 ක් ගියාට පසු ඇල් දියෙන් හොඳින් සෝදල හොඳින් තෙත මාත්තු කරල, ඒ මත තම්බපු බිත්තරයක් ඇතුලෙ තියෙන සිවිය වගේ කොටස ගලවල කබර තියෙන තැන්වල අලවල බාඳුරා වතුරෙන් පොගවන්න. පැය 3 ක් විතර තියෙන්න ඇරල ගලවන්න. දින 14 ක් කරන්න. අවශ්‍ය නම් තවත් කරන්න. සුව වෙනවා.

**විශේෂයෙන් සැ. යු. :- කිසි විටෙකත් බිත්තර තමන් විසින් හෝ වෙන කෙනෙකු ලවා හෝ තම්බා නොගත යුතුයි. වෙළඳසැල්වල තියෙන තම්බපු බිත්තර පමණක් ඒවායේ සිවි කොටස ගලවන්න පෙර ලබාගන්න. යම් කිසි විදිහකින් එහෙම බිත්තර ලබා ගන්න බැරි වුනොත්, මේ බෙහෙත අත්හැර දමා ඉහත වෙනත් බෙහෙතක් පාවිච්චි කරන්න. මොකද නැත්නම් කර්ම විපාකයක් විදිහට එන කබර රෝගය සුව කරගන්න ගිහින් තමන් විසින්ම හෝ තමන් විසින් අණ කරල හෝ බිත්තර තම්බගෙන තවත් පාප කර්ම රැස් කර ගෙන, තියෙන විපාකවලට අමරතව තවත් විපාක වැඩි වෙනවා. බිත්තර කඩාගෙන කෑමේ බරපතලකම දැන ගැනීම සඳහා 10 වන කලාපයේ පළ වූ "මිනිස් ඇසට නොපෙනී බිත්තරයේ සැඟව ගිය ජීවය" සහ 91 වන කලාපයේ පළ වූ "කර්ම විපාකවල භයානකත්වය කියාපාන තවත් කතා පුවතක්" ලිපි දෙක කියවන්න.**

## කබර රෝගයට සුදුසු ආහාර වර්ග

හීන් බෝවිටියා කැඳ, හීන් ගොටුකොළ කැඳ සහ ව්‍යංජනය, බෙත් ඉඟුරු කොළ සහ යකිනාරං කොළ මිශ්‍ර කැඳ, කෝමාරිකා පත්‍ර යුෂ පානය

## දරුවන්ගේ ඥාන වර්ධනය සඳහා ඥාන වර්ධන ආලේපය

මේ සඳහා ගජකුම්භා ලොකු හෝ පොඩි කොවුලක් අවශ්‍යයි. ගජකුම්භා කියන්නෙ ඇත් දළවලට. මේ සඳහා ඇත් දළ නැත්නම් විතරක් අලි දළ යොදා ගන්න. අලි ඇත්තු හිමිකරුවෙක්ගෙන් හෝ බලපත්‍ර ලාභී ඇත්දළ හිමිකරුවෙක්ගෙන් හෝ පාරම්පරික මූර්ති ශිල්පියෙක්ගෙන් හෝ පූජනීය ස්ථානයකින් නම් භික්ෂූන් වහන්සේ නමක් ලවා කැප ඇරවල හෝ පරණ වෙද මහත්තයෙක්ගෙන් හෝ වෙනත් සුදුසු ධර්මානුකූල ක්‍රමයකට ඇත් දළ කුඩු ටිකක් හෝ කුඩා කැබැල්ලක් හෝ ලබා ගන්න. අධාර්මික ක්‍රමවලින් ලබා ගත්තොත් මේ බේත ප්‍රත්‍ය වෙන්නෙ නෑ. ඇත් දළ කුඩු ටිකක් ලැබුනොත්, ලොකු තිරිවානා ගල් 2 ක් යොදාගෙන එකිනෙක අතුල්ලල උරච්චි කරල සියුම් මට්ටමට කුඩු කරගන්න. කැබැල්ලක් ලැබුනොත් තිරිවානා ගලක උරච්චි කරල කුඩු කරගන්න. ඒ වගේ කොවුලක් අරගෙන සුළඟේ පාවෙන මට්ටමට කුඩු කරගෙන, පසුගිය 88 කලාපයෙන් හඳුන්වා දුන් ස්නායු තෙලෙන් ආලේපන (ක්‍රීම්) පදමට අනාගන්න. ඒ ආලේපය තියාගෙන අතේ මැදගිල්ලේ තුඩට තවරල දරුවාගේ හිස් මුදුනේ (සහශ්‍ර චක්‍රයේ) රවුමට කෙස් ටිකක් ඉවත් කරල උදේ 7.00 ට පමණ සහ රාත්‍රී නින්දට පෙර තිලකයක් තියන්න. ඒ විදිහට අවුරුදු 2 ක් කරන්න. සාමාන්‍යයෙන් මාසයකට පමණ ප්‍රමාණවත් වෙන්න එක වරකට බෙහෙත හදාගන්න.

මේ මගින් කර්ම ශක්තියට යටත්ව මන්ද බුද්ධික දරුවන්ගේ නුවණ වැඩෙනවා. කතා කරන්න, ලියන්න හැකියාව ලැබෙනවා. හෝන්දු මාන්දු ගතිය, දැඟලිලි ගතිය දුරු වෙනවා. හරියාකාර සිහි කල්පනාවෙන් ක්‍රියාශූර වෙනවා. ඔටිසම් ආබාධය දුරු වෙනවා.

## වා සෙම් වේදනා සමන අරිෂ්ටය

උළුහාල්, සුදු එණු, බැවිල, කුරුඳු පොතු, අත්තික්කා පොතු මේ සියල්ල වියළි බරින් ග්‍රෑම් 200 බැගින් අරගෙන කුඩු කරගන්න. සුදු එණු පොතු ඉවත් කරල හීනියට ලියාගෙන අව්වෙ දමා වේළගෙන මිශ්‍රණ යන්ත්‍රයකින් කුඩු කරගන්න පුළුවන්. දැන් මේ සියල්ලම මිශ්‍ර කරල වතුර බෝතල් 15 ක් එකතු කරල 12 ට හිඳගෙන පෙරා ගන්න. නිවුනට පසු පිරිසිදු මී පැණි බෝතල් 1/2 ක්, සුදු සූකිරි කිලෝ එකහමාරක් එකතු කරන්න.

මේ සියල්ල දින 21 ක් කනක්කයක හෝ මැටි මුට්ටියක හෝ තබා අරිෂ්ට කරගෙන පෙරාගන්න. උදේ, දවල්, රාත්‍රී ආහාරයට පෙර මේස හැඳි 2 බැගින් මාසයක් හෝ අවශ්‍ය කාලයක් ගන්න.

මේ මගින් වාතයෙන්, සෙමෙන් හට ගන්නා මස්පිඩු වේදනා, හන්දිපත් වේදනා, කොන්දේ, කොඳු ඇටපෙළේ, බෙල්ලේ, හිසේ, පපුවේ වේදනා සමනය වෙනවා. නින්ද නොයාම, අධික තෙහෙට්ටු ගතිය, වියළි කැස්ස, වකුගඩුවල ආබාධ සමනය වෙනවා.

## ජම්බු අරිෂ්ටය

ජම්බු ගහේ පස්පංගුව අමු බරින් එකකින් ග්‍රෑම් 250 බැගින්, තිප්පිලි, මුද්දරපලම්, රසකිඳ, වෙනිවැල්ගැට යන මේ අමුද්‍රව්‍ය වියළි බරින් ග්‍රෑම් 250 බැගින් අරගන්න (ජම්බු ගෙඩි නැත්නම් මල් ගන්න. ගෙඩියි මලුයි දෙකම නැත්නම් මුල්, පොතු, කොළවලට අමතරව දළුවලින් දී ඇති ප්‍රමාණය වගේ 5 ගුණයක් ගන්න. 250 × 5). මේ සියල්ලම වතුර බෝතල් 21 ක් එකතු කරල 17 ට හිඳගන්න. පෙරාගෙන නිවුනට පසු පිරිසිදු මී පැණි බෝතල් 3 ක් හෝ මී පැණි බෝතල් 1/2 ක් සමග පිරිසිදු කිතුල් පැණි බෝතල් 2 1/2 ක් හෝ එකතු කරල දින 21 ක් තියල අරිෂ්ට කරගෙන පෙරාගන්න.

උදේ, දවල්, රාත්‍රී ආහාරයට පෙර මේස හැඳි 1 1/2 බැගින් ගන්න. මේ මගින් නහර තුනී වීම, සිදුරු වීම, පිපිරීම නවතිනවා. ලේ ගැලීම සහ රතු ලප මතු වෙලා කළු වන පැල්ලම් සුව වෙනවා. මාස 3 ක් අරගෙන අවශ්‍ය නම් තවත් ගන්න.

## ස්නායු ආබාධ සමන අරිෂ්ටය

බෙලි කොළ, දලු, මල්, මුල්, පොතු අමු බරින් ග්‍රෑම් 100 බැගින්, මූනමල් පොතු අමු බරින් ග්‍රෑම් 250 යි, හීන් උඳුපියලි අමු බරින් ග්‍රෑම් 500 යි, සුදු සූකිරි ග්‍රෑම් 500 යි, බැවිල මුල්, සුදු එණු, පාවට්ට මුල්, රසකිඳ අමු බරින් ග්‍රෑම් 125 බැගින්, අමු එළු බෙටි ග්‍රෑම් 250 යි.

මේ සියල්ලම කොටාගෙන වතුර බෝතල් 12 1/2 ක් එකතු කරල 10 ට හිඳගෙන පෙරාගෙන ඊට බ්‍රැන්ඩි බෝතල් 1 යි, ඇට හැරගත් රටඉඳි කිලෝ 1 ක් අඹරගෙන එකතු කරල දින 14 ක් තියල අරිෂ්ට කරගෙන පෙරාගන්න.

මාස 6 ක් උදේ, දවල්, රාත්‍රී ආහාරයට පෙර මේස හැඳි 1 1/2 බැගින් ගන්න. මේ මගින් ස්නායු ආබාධ නිසා හට ගත් කොර රෝග, අංශභාගය සුව වෙනවා. ගොත ගැහෙන ගතිය, උච්චාරණ අපහසුතා, කට අඩක් හිරවී ඇති ආබාධ දුරු වෙලා මිහිරි කට හඬ ඇතිවෙනවා. පාකින්සන්, අධි රුධිර පීඩනය සුව වෙනවා.

**(සැ. යු. :- අරිෂ්ට වර්ග පෙරීමේදී හැමවිටම පිරිසිදු කපු රෙදි කැබැල්ලක් භාවිතා කරන්න.)**

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# නොපළ වූ ගුණ කඳ

## විස්මිතවූ ගුප්ත ලෝකයේ වගතුග... XXV

### අභයරතනාලංකාරය - 96



වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ

අපට නොපෙනෙන ලෝකය හෙවත් ගුප්ත ලෝකය කියන්නෙ මහා පුදුමාකාර සංකීර්ණ ලෝකයක්. අද භෞතිකවාදීන් කියල හඳුන්වන සමහර උදවිය පිළිනොගන්නෙත් මේ ගුප්ත ලෝකය. මොකද බොහෝකොටම පංචේන්ද්‍රියන්ට ගෝචර නොවන නිසා. මේ පිළිබඳව මේ සඟරාවේ මීට පෙරත් ලිපි ගණනාවකින්ම විස්තර ඉදිරිපත් කරල තියෙනවා. ත්‍රිපිටක පෙළ දහමේ පවා සංෂිප්තව මේ නොපෙනෙන ලෝක ගැන සඳහන් කරල තිබුනත්, මේ වෙනකොට ඒ සම්බන්ධයෙන් අත්දැකීම් බහුල අය, ඒ වගේම ඒවායේ දහම් පැතිකඩ දන්නා කියන උදවිය අඩු නිසා ඒ පිළිබඳව ඒ තරම් කතා කරන්නෙ නෑ. පංචේන්ද්‍රියන්ට ගෝචර නොවන නිසා හුගක් අය විස්වාස නොකළත් මේ කියන්න යන්නෙ ඊට හාත්පසින්ම වෙනස් පැතිකඩක්. ඒ කියන්නෙ මේ පංචේන්ද්‍රියන්ට ගෝචර වන මට්ටමෙන් පවා සිද්ධ වුන ගුප්ත ලෝකයේ සිදුවීම් කිහිපයක්.

මේ ගුප්ත ලෝකයේ කෙරුම් කියුම් සම්බන්ධයෙන් වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේට තිබුනේ පුදුමාකාර අත්දැකීම් සම්භාරයක්. පාසල් යන කාලයේ පටන්ම ඒ අත්දැකීම් යම් යම් මට්ටම්වලින් තිබුනා. පැවිදි ජීවිතයේ අවසාන කාලය වෙනකොට ඒ අත්දැකීම් කියල නිම කරන්න බැරි තරම් වුනා. නමුත් ප්‍රසිද්ධ මාධ්‍යයන්ට ආවෙ නැති නිසා ඒවා ගැන රටේ ලෝකයේ හුග දෙනෙක් දැනගෙන හිටියෙ නෑ. අදටත් දන්නෙ බොහොම ටික දෙනයි. කොහොමත් ඒවා ගැන ප්‍රසිද්ධියේ කතා කරල කිසිම ලාභ, කීර්ති, ප්‍රසංසා ලබා ගන්න උන්වහන්සේගේ කිසිම බලාපොරොත්තුවක් තිබුනෙ නැති නිසාත් ඒ කාරණය ඒ විදිහට සිද්ධ වුනා වෙන්න පුළුවන්. ඒ වගේම මෑත කාලයේ උන්වහන්සේ තරම් ගුප්ත ලෝකයේ අයට ධර්මානුකූලව උදව් උපකාර කරපු, ඒ වගේම ගුප්ත ලෝකයෙන් හිරිහැර පීඩාවලට ලක්වෙච්ච කෙනෙක් තවත් නැතුව ඇති. ඒ අතරින් හෙළිදරව් කරපු තොරතුරු වගේම හෙළිදරව් නොකළ තොරතුරුත් බොහොමයි.

වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේගේ අවසාන කාල වකවානුවේ උන්වහන්සේට ගුප්ත ලෝකයෙන් ආ කරදර බාධක වරින් වර උන්වහන්සේ විසින්ම හෙළිදරව් කරල තිබුනා. ඒ සමහර කරදර බාධක ඇඟ කිලිපොලා යන තරම්, කෙනෙක් විස්වාස නොකරන තරම් මහා බරපතල ඒවා. ඒත් ඒ සමහර කාරණා අවසාන කාලයේ ඇති වෙච්ච කායික අසනීප තත්වයන් නිසා උන්වහන්සේට කියාගන්න පවා බැරි වුනා. ඊට අමතරව ගුප්ත ලෝකයේම හිරිහැර කරදරත් ඒ සඳහා බලපෑවා. ඒ සියල්ලටම උන්වහන්සේ බොහොම ධර්මානුකූලව නොබියව මුහුණ දුන්නා. කොහොම නමුත් මේ **ලෝක විෂය අචින්ත්‍යයි කියන කාරණය සනාථ කරන්නත්, මේ ලෝකය අපි හිතනවට වඩා කොයිතරම් භයානකද කියන කාරණය තේරුම් ගන්නත්, ඒත් සමගම සසර බය ඇතිකර ගන්නත් මේ හෙළිදරව් කිරීම් බොහොම වැදගත් වේවි.** ඒ අනුව අවස්ථා කිහිපයකදී උන්වහන්සේ මේ ගුප්ත ලෝකයේ සිදුවීම් සම්බන්ධයෙන් කළ හෙළිදරව් කිරීම් අතරින් කිහිපයක් විතරක් මේ විදිහට සටහන් කරනවා. මේ තමයි උන්වහන්සේගේ අත්දැකීම්.

මේ ගුප්ත ලෝකයේ තවත් එක පැතිකඩක් තමයි විදුලි උපකරණ. මම ඒකට කියන්නෙ අධිවෝල්ටීයතා විදුලිය කියල. ඒක මනෝමය වුනත් භෞතිකවත් ඇහැට දර්ශනය වෙනකොට ඒකත් තවත් ලෝකයක් කියල කියන්න පුළුවන්. ඒකෙන් අපේ ලෝකයේ විදුලි කම්බිවලට විදුලිය ගේන්නත් පුළුවන්. අපේ ලෝකයේ තියෙන නිවසකට දවසක් අතුලත ඒ අයට ඒ විදුලිය සම්බන්ධ කරන්න පුළුවන්. මේ වගේ ගුප්ත ලෝකයේ සමහර කරදර බලපෑම් නිසා මට ස්ථාන කිහිපයකම පසුගිය කාලයේ ඉන්න සිද්ධ වුනා.

එතකොට මම යම් කිසි තැනක ඉන්නව නම්, එදාට මේ ගුප්ත ලෝකයේ අය ඇවිත් මේ කියන විදුලිය සම්බන්ධ කරනවා. අපේ ලෝකයේ තියෙන විදුලි පංකාවකින් ඒ අයට ඕන නම් තවත් විදුලි පංකාවක් නිර්මාණය කරල ඒකට සම්බන්ධ කරන්න පුළුවන්. එතකොට මේ විදුලි පංකාවට සම්බන්ධ කළාට පස්සෙ ඒ ලෝකයේ නිර්මාණය වන විදුලි පංකාව ඒ මේ අතට පහත් කරල අඹරවල එක එක පැත්තට කරකවන්න ඒ අයට පුළුවන්. එහෙට මෙහෙට ගෙනියන්න පුළුවන්. එතකොට අපේ ලෝකයේ විදුලි පංකාව එහෙම්ම තියෙද්දි ඒ ලෝකයේ අය අර නිර්මිත විදුලි පංකාව එහාට මෙහාට ගෙනියනවා. එහෙම නිර්මාණය කරපු විදුලි පංකාව මම ඉන්න පැත්තට පහත් කළාම ඒ හුළඟ මගේ ඇඟට දැනෙනවා. හැබැයි දැනෙන්නෙ කිරණ විදිහට. ඒ නිසා ඒක මේ ලෝකයේ ඉන්න අනෙක් අයට දැනෙන්නෙ නෑ. ඒ හුළඟට මේ භෞතික ලෝකයේ තියෙන කොළ කැල්ලක්වත් එහාට මෙහාට ගෙනියන්න බෑ. හුළඟ යන්නෙ නෑ. හැබැයි හරි සීතලට දැනෙනවා. ඒ අයට විදුලි පංකාවෙන් තවත් කෙනෙක්ව අධික සීතලට පත් කරන්නත් පුළුවන්. ඒක කිරණමය හුළඟක් විදිහට තමයි ඇඟට දැනෙන්නෙ. නමුත් ගැටළුව තමයි මට විතරයි ඒක දැනෙන්නෙ. ළඟ ඉන්න අයටවත් දැනෙන්නෙ නෑ.

තවත් දෙයක් තියෙනවා. ඒ අයට පුළුවන් ඕනෑම පේනුවකින් (ස්විච් එකකින්) විදුලි මලක් වගේ ඇදල ගන්න. එහෙම අරගෙන ඒක කරකවල 

බඹරයක් වගේ එකක් හදල එවනවා. ඒකෙන් එන්නෙ විසිරෙන විදුලි දහරාවක්. ඒක රස්නෙයි. හැබැයි ඒකෙන් මගේ ඇඟට නම් අගුණයක් වෙලා නෑ. නමුත් ඒක එච්චම කිරණ ලෝකයේ අය පිච්චෙනවා. ඒ අය ඒකට හරි බයයි. ඒ අය අපිට නොයෙක් අභියෝග කරන්න ඒවා ඉදිරිපත් කරල තියෙනවා. ඒ කියන්නෙ ජීවිතය විනාස කරන්න වුනත් කමක් නෑ, ඒ අයගෙ බලය උරගා බලන්න කියල තමයි එවන්නෙ. ඒ පරමාර්ථයෙන් කරන පරීක්ෂණයක් තමයි ඒක. හරියට මේ මනුස්ස ලෝකයේ අය පරීක්ෂණ කරන්න පරමාණු බෝම්බ පුපුරවනව වගේ.

එතකොට මොකද වෙන්නෙ, ඒ කිරණ කොයි පැත්තෙන් ආවත්, කෙලින් විදින කිරණයක් කාගෙනම කෙලින් අතට යනව මිසක් ආපසු නැමෙන්නෙ නෑ. නමුත් මගේ ඇඟට එවන ඒවා ඇඟ වටා තියෙන ඕරා වළල්ලේ සීමාවට ඇවිත් ආපසු හැරෙනවා. ඇඟට වදින්නෙ බොහොම ටිකයි. ඒ කියන්නෙ ඇඟට දැනෙන මට්ටමට වදිනවා. නමුත් මොනවහරි විනාසයක් වෙන මට්ටමට එන්නෙ නෑ, ආපසු හැරිල යනවා. ඉතින් ඒ ලෝකෙ අයට මහ පුදුමයක් ඒක එහෙම වෙන්නෙ කොහොමද කියල.

තවත් එකක් තියෙනවා. ඒක ඊතල වර්ෂාවක් වගේ එවන එකක්. ඒවත් විදුලි ඊතල. කෙනෙකුට ඒවා යොමු කළොත් එහෙම ඒ ලෝකයේ අය හරි බයයි. ඇඟට වැදුනොත් එහෙම ඉන්න බෑ. ඒවා ඒ ලෝකයේ අය පාලනය කරන්න තියෙන උපකරණ. එක්කෙනෙකුට විසාල පිරිසක් පාලනය කරන්න පුළුවන් පුංචි උපකරණයක්. හරියට අපේ ලෝකයේ තියෙන පිස්තෝලයක් වගේ. කොච්චර සෙනග දහස් ගණනක් මැද්දෙ වුනත්, එක් කෙනෙක්ගෙ අතේ පිස්තෝලයක් තිබුණොත් අර නිරායුධ දහස් ගණනම පිස්තෝලය තියෙන කෙනාට යටත් වෙනව වගේ තමයි. ඒක ක්‍රියාත්මක කළාම අඟලෙ විතර කළුපාට පුංචි ඊතල වර්ෂාවක් යනවා. නමුත් හරි විසයි. ඇඟට වැදුනොත් එහෙම හිරි වැටෙනවා. ඒකත් මගේ ඕරා වළල්ල ළඟට ඇවිත් ආපසු හැරිල යනවා.

ඉතින් ඔය වගේ ගුප්ත ලෝකයේ තියෙන හැම ආයුධයක්ම ඒ අය මගේ ඇඟට නිකුත් කරල තියෙනවා. ඒ ඔක්කොම ඕරා වළල්ල ළඟට ඇවිත් ආපසු හැරිල යනවා. ඇඟ ඇතුලට එන්නෙ නෑ. ඒ අය මට කරපු හිරිහැරත් එක්ක ලොකු උපකරණත් එවල තියෙනවා. සමහර වෙලාවට ඒ අය එහෙම කරල ප්‍රධාන විදුලි එළියක් වගේ ඇල්ලුවොත් එහෙම පිච්චිලා විනාස වෙලා යන්න පුළුවන්. ඒ අය ඒවා ඒ ලෝකයෙන්ම ගෙනත් හයි කරල අල්ලනවා. ඇල්ලුවම මේ ලෝකයේ මම ඉන්න තැන තියෙන ප්‍රධාන පරිපථය ක්‍රියා විරහිත වෙනවා. එතකොට විදුලි බලය ඇණහිටිනවා. නමුත් ඉතින් මෙහේ ඉන්න අයට තේරෙන්නෙ නෑ එහෙම දේකින් ඒක සිද්ධ වුණා කියල.

එතකොට ඒ ලෝකයෙත් විදුලි උත්පාදන යන්ත්‍ර ක්‍රමයක් තියෙනවා. ඒකත් අධිවෝල්ටීයතා ක්‍රමයක්. ඒවා වැඩ කරන්නත් මෙහේ වගේ ඒ ලෝකයෙත් ඩීසල්, පෙට්‍රල් තියෙනවා. ඒවා ඒ ලෝකෙට ඩීසල් පෙට්‍රල්මයි. වෙනසක් නෑ. හැබැයි අපේ ලෝකෙට ඒවා සම්බන්ධයක් නෑ. නමුත් මේ ක්‍රමයටම තමයි, මෙහේ වගේ භෞතික විද්‍යාවක්ම තමයි එහේ තියෙන්නෙත්. අපේ ලෝකයේ අනුරුවක් වගේම තමයි. ඒ ලෝකයට ගියාට පස්සෙ ඇත්ත වශයෙන්ම ඒවා නැතුව එහේ ජීවත් වෙන්න බෑ. ඒ වගේ විවිධ ක්‍රම තියෙනවා. නමුත් ඒ ලෝකය හරියටම මොකක්ද කියන්න මට තේරෙන්නෙ නෑ.

ඒ වගේම අපේ මනුස්ස ලෝකයේ ඉන්න අය කටු මැටි ගහල තාප්ප බැඳල ගෙවල් දොරවල් හදනව වගේ ඒ ලෝකෙත් ගස්කොළන් කපාගෙන ඇවිත් අපි හදනව වගේම ගෙවල් දොරවල් හදන අය ඉන්නවා. හැබයි ඒ ගස්කොළන් ඒ ලෝකෙ තියෙන ගස්කොළන්. අපේ ඒවා නෙවෙයි. සූක්ෂම සතර මහා භූතම තමයි. රූප ලෝකයක්ම තමයි. චාතුර්මහා රාජිකයට අයිතිවෙන භෞතික ලෝකයක් තමයි මේ කියන්නෙ. නමුත් ඒක අපිට පේන්නෙ නැනෙ. දැන් ඔය ආලවක යස්සයගෙ විමානය ලස්සනට තිබුනා, බුදුන් වහන්සේ වැඩල ධර්ම දේශනා කළා කිව්වම, අද වෙනකලුත් ඒවා තියෙන්න එපැයි. ඒ වුනාට කවුරුවත් දන්නෙ නෑ කොහේද තියෙන්නෙ මොකක්ද වුනේ කියල. නමුත් ඒවා මේ ලෝකෙ තියෙනවා. ඒ වගේ මේ අපේ ගෙවල් එක්කම ගුප්ත ලෝකයේ ගෙවල් තියෙනවා. ඒක වෙනම තලයක්. අපි ඉන්න මේ තලයයි ඒ තලයයි මහ පුදුමාකාර දෙයක්. මට ඒ පෙනීම ආපු නිසා ඒ දෙකේ වෙනසක් නැතිව එකට ඉන්න පුළුවන් කියල දැක්ක මිසක් අනික් කෙනෙකුට එහෙම හොයන්න බෑ. මොකද එහෙමටවත් ඒ දෙක අතර බාධකයක් පේන්න නෑ.

මිනිස්සු හුග දෙනෙක් භූතයන්ට හරි බයයි. මේ සිදුවීම් නිසා මට නම් ඒ තිබිච්ච බය නැති වෙලාම ගියා. නමුත් සාමාන්‍යයෙන් මිනිස්සු ඒ වගේ භූත කොටස්වලට බයක් තියෙනවා. ළඟට එයි කියල බය වෙනවා. රෑ දැක්කොත් බය වෙනවා. මම ඉතින් නිතරම දකින නිසා ඒ බය ගති එකක්වත් නැතිව ගියා. සමහර විට මම නිදාගන්න කොට ළඟට ඇවිත් කකුල් දෙක ළඟ නිදාගන්නවා. ඔය විදිහට දැකලම පුරුදු වුනා. ඒ අය මේ ලෝකයට ළමයි වගේ. ඒ ලෝකෙ අය බහුතරයක් කැමති නෑ අපිට හාමුදුරුවො කියල කතා කරන්න. අබේ අයියා කියල තමයි මට කතා කරන්නෙ. මහ පුදුම දෙයක්. හාමුදුරුවො කියල කතා කරන අය ඉන්නෙ බොහොම කලාතුරකින්. ඒ අය නම් හරි සංවරයි. ඒත් ඒ ලෝකයේම කොටසක්. ඒ අතර පැවිදි අයත් ඉන්නවා. කසාවත ඇඳගෙන කාන්තාවො උයාගෙනත් කනවා. එළවළු පළතුරු ඔය හැම දෙයක්ම තියෙනවා. පන්සලේ වගේම තමයි. පැරණි පන්සල් තිබුන වගේම තියෙනවා. මිනිස්සු ඒවාට දානෙත් ගෙනිහින් දෙනවා. නොයෙක් බඩු මුට්ටු දෙනවා. හාමුදුරුවොත් ඉන්නවා. මම කතා කරලත් තියෙනවා 'හැබැයි බුදු දහම කියල අමුතු දෙයක් නෑ. එච්චරම තමයි. මොනවහරි වත්පිළිවෙත් ටිකක් කරගෙන ඉන්නවා. වැඳුම් පිදුම් කරන ඒවා නම් එච්චර දකින්න නෑ. නිවන් දකින දහමක් නෑ. ඒ ගැන කතාවක් ඇත්තෙත් නෑ. හැබැයි ඒ ලෝකයේ පුණ්‍ය සෘද්ධිත් තියෙනවා.

ඒ ලෝකෙ අය ඒ අයගෙ නායකයා තෝරන කාලයක් තිබුනා. චාතුර්මහාරාජික, තාවතිංස කියන ලෝක දෙකේම නායකයො තෝරනවා. අන්න එහෙම කාල සීමාවක තමයි මට ඔය සිද්ධිය සම්බන්ධ වුනේ. ඒ නායකයාට ඒ අය කියන්නෙ චක්‍රවර්තී කියල. හැබැයි ඒ අපේ ලෝකයේ චක්‍රවර්තී කියන අපි දන්න කියන ක්‍රමය නෙවෙයි. අපේ ලෝකයේ සක්විති රජ කෙනෙක්ගෙ කතාව වෙනම එකක්. නමුත් ඒ වගේම කතාවක් තමයි මේ. ඒක මහා තරඟයක් තිබිච්ච එකක්. ඔය තරඟයෙදි තම තමන්ගෙ දක්ෂතා බලපුළුවන්කාරකම් තියෙන අය ඒ තරඟයට ඉදිරිපත් වෙනවා. ඒ තරඟය ජය ගන්න ඕන ඒ ඒ තත්වයන්ගෙන්. නමුත් මම මුහුණ දුන්න සිද්ධිය

ගත්තම, එක කාලෙකදි හිතන්නවත් බැරි පරිවර්තනයක් මගේ මාර්ගයේ සිද්ධ වුනා. ඒ වෙලාවෙදි මේ ගුප්ත ලෝකයේ අය ඒක ගසාගෙන කන්න තමයි මාව කොටුකර ගත්තෙ. ඒ අයට ඒක අයිතිකර ගන්න, එහෙම නැත්නම් ඒ අයගේ නායක කියන තත්වයට ඒ අයට සම්බන්ධ වෙන්න, මට ඒකෙන් පිට යන්න නොදී ඉන්න... මෙන්න මේ වගේ සිද්ධි ගොඩක් එකතු වෙලා තමයි මට ඒ අය හිරිහැර කරන්න ගත්තෙ. ඒක තමයි මට ඒ කාලය පුරාවටම තිබිච්ච ගැටළුව.

ඔහොම ගිහින් අන්තිමට ඒකෙන්ම විනිශ්චයක් / තීරණයක් ආවා. ඒ කියන්නෙ ඒ අය කරගත්ත අසාධාරණ, අපරාධ, භික්ෂූන් වහන්සේලාට කරපු නින්දා අපහාස නිසා ඒවායේ කර්ම විපාක ඇදිල එන්න ගත්තා. ඒ වගේම අපේ සමාජයේ විසසෝර සියල්ල තෙරපලා තෙරපලා අරගෙන ඒවා සුදුසු තැන්වලට විහිදල දානකොට ඒවාට බැඳිල රැඳිල හිටපු අමනුස්ස රොත්ත බුරුතු පිටින්ම ඒ ලෝකවලට වැටුනා. ඒ අය කළු කිරණ මාධ්‍යයන්ට බැඳිල ඉන්නෙ. ඒ අමනුස්සයො මෙහේ ඉන්නකොට ඇඹරි ඇඹරි අර කිරණ මාධ්‍ය සියල්ලමක් රෝල් වෙනවා. රෝල් හැදි හැදී ඇඹරිලා උන්ට හිමි දුගතිවලට ගිහින් වැටෙනවා. අන්තිමට බුරුතු පිටින් අපායට ගියා. ඒ ඒ තැනුත් හැම තැනම සුද්ධ වුනා. ඒ දවස්වල ඔය අනුරාධපුර ප්‍රදේශයේ එහෙම යන්න ඉඩක් තිබුනෙ නෑ. මොකද මහ පොළවෙ සීමාවක් නෑ හැම තැනම භූතයො අරක් ගෙන. ඒ ගුප්ත ලෝකය තමයි අර විදිහට සුද්ධ වුනේ. දැන් එදා තිබිච්ච අමාරු ගති, භාවනා කරන්න තිබිච්ච අපහසුතා හුගක් අඩු වෙන්න ඕන. ඒක අනෙක් අයටත් දැනෙන්න ඕන. කොහොම මොකක් වුනාද කියන්න දන්නෙ නෑ. සමහරවිට මම ඒ කාලෙ කිව්වා, ඔය අමනුස්සයො අල්ලගෙන වැරදි විදිහට වැඩ කරපු සමහර දේවාල කෝවිල් පල්ලි ආදියේ කටයුතු කරපු අයගේ වෙනසක් වෙලා තියෙන්න පුළුවන් කියල. ඒවා තිබුන තත්වයෙන් තිබුනෙ නැතිව හරි, නිකං පාළු වෙලා ගියා හරි, එහෙම නැත්නම් කර ගන්න බැරිව වැහිල ගිහින් හරි, අන්න එහෙම මොකක් හරි වෙලා තියෙන්න ඕන. හැබැයි ඒ තත්ත්වය කොච්චර කාලයක් ඒ විදිහට තියෙයිද කියන්න දන්නෙ නෑ. පසුගිය කාලෙ වෙච්ච දේ තමයි මම ඔය කිව්වෙ.

ඉතින් මේ සිද්ධි සමුදාය සක්‍ර දෙවියො දැනගත්තත් ඒකට සක්‍ර



දහම් සාකච්ඡාවලට වැඩම කළ ගෞරවනීය භික්ෂූන් වහන්සේලා සමග.

දෙවියන්ගෙ සම්බන්ධයක් නෑ. ඒ අය සක්‍ර දෙවියන්ටත් නායකකම් කරන්න දෙන්නෙ නෑ. මොකද මේ ලෝක පාලක මණ්ඩල දෙකක්. එකක් තමයි, ලෝකයේ ඉන්න අන්‍යාගමික... පාලක මණ්ඩලය. අනෙක තමයි බෞද්ධ පාලක මණ්ඩලය. සක්‍ර දෙවියො අයිති වෙන්නෙ බෞද්ධ පාලක මණ්ඩලයට. අර අන්‍යාගමික... පාලක මණ්ඩලය බෞද්ධ පාලක මණ්ඩලයට කිසිම තැනක් දුන්නෙ නෑ. ඒ අන්‍යාගමික පාලක මණ්ඩලය තමයි ඒ අයට ඕන විදිහට ඔක්කොම පාලනය කරන්න ලෑස්ති වෙලා හිටියෙ. මොකද ඒ වෙනකොට ඒ අයගෙ බලය වැඩියි. ඒ අය තමයි සක්විති කියන ශක්තිය උදුර ගන්න මේ තරගය පටන් ගත්තෙ. හැබැයි කොච්චර බල වැඩි වුනත්, අන්තිමට ධර්මතාවය ඉදිරියේ ඒ සියල්ල බිඳුනා. අන්තිමට ඒ අයට වෙච්ච දෙයක් හිතා ගන්න බෑ.

**නමුත් ඉතින් මම මේ කියන සිදුවීම් අහල, මගේ මේ අසනීප කය දිහා බලල, මේ ගැන නොදන්න සමහරු අහන්න පුළුවන්, ඇයි මේ හාමුදුරුවන්ට මොකක්ද වෙලා තියෙන්නෙ, මොකක්ද හැදිල තියෙන අසනීපය කියල. කර්ම විපාකයක්. ඒකත් මම දැනගෙන ඉවරයි. කරන්න දෙයක් නෑ. ඒකටත් මුහුණදීල තමයි මගේ මේ ගමන කෙළවර වෙන්නෙ.**

-----------------------------

විශේෂයෙන් අන්තිම අවුරුදු එකහමාරක විතර කාලය තුල මේ ගුප්ත ලෝකයෙන් ආව හිරිහැර බාධක නිසාම උන්වහන්සේට වැඩ ඉන්න ස්ථාන වෙනස් කරන්න පවා සිද්ධ වුනා. මොකද ඒ බලපෑම්වලට පිළියම් දෙන්න වෙන කාටවත් බැරි වුනා. ඒ ගැන අත්දැකීම් තියෙන අය හිටියෙත් නෑ. ඒ නිසා ඒ එන බලපෑම්වලට උන්වහන්සේම සමාධියෙන් විසඳුම් හොයාගෙන ඒවත් අත්හදා බැලුවා. ඒ සමහරක් ඒවා යම් ප්‍රමාණයකට සාර්ථක වුන බවත් උන්වහන්සේ පැවසුවා. ඒ අනුව වැඩ ඉන්න ස්ථානය වෙනස් කළාම ගුප්ත ලෝකයේ සමහරුන්ගෙ සමහර බලපෑම් අඩු වෙන බවත් ප්‍රකාශ කරල තිබුනා. ඒ නිසා ලංකාවේ විවිධ ප්‍රදේශවල, සමහරවිට කෙටි කාලයකට පුද්ගලික ස්ථානවල පවා වැඩ ඉන්න සිද්ධ වුනා. ඒ වගේම සමහර අවස්ථාවල පණ ගන්වපු වාහනයක් ඇතුලෙ ඉන්න කොට ඒ අයට බලපෑම් කරන්න අපහසු බවත් පවසල, දවසක් සඟරාවට කරුණු ගන්න ගියාම ඒ විදිහට පණගන්වපු වාහනයක් ඇතුලෙ ඉඳගෙන තමයි දහම් කරුණු ලබා දුන්නෙ.

ඉතින් මේ වගේ කරදර හිරිහැර නිසා උන්වහන්සේ අවසාන කාලයේ අනුරාධපුර ප්‍රදේශය තමයි වැඩ වාසය කරන්න තෝර ගත්තෙ. මොකද එතකොට ජය ශ්‍රී මහා බෝධින් වහන්සේ, ඒ වගේම රුවන්වැලි මහා සෑය ළඟ නිසා ඒ සුද්ධ කිරණ ශක්තියෙන් යම් පමණකට හරි ඒ බලපෑම් මෙල්ල කරගන්න පුළුවන්. කොහොම හරි එතකොට මේ සඟරාවට කරුණු කාරණා ගන්නත් අනුරාධපුරයට සෑහෙන්න දුරක් ගෙවා ගෙන යන්න සිද්ධ වුනා. එහෙම යනකොට සාමාන්‍යයෙන් කලින් දවසෙ දැනුම් දීල තමයි පාන්දරින්ම යන්නෙ. එතකොට උන්වහන්සේ එන්න කියනවා. හැබැයි එහෙම ගිහින් දහම් කරුණු කියන්න පටන් ගත්තම අර ගුප්ත ලෝකයේ කරදර බාධක නැවත එන්න පටන් ගන්නවා. ඔය විදිහට කිහිප වතාවක්ම ඒ කරදර බාධක 

එල්ල වුනාම, බැරිම තැන උන්වහන්සේ කිව්වා, අනේ මහත්තයෝ කියන්න දෙන්නෙ නෑ මුන් හිරිහැර කරනවා, පුළුවන් විදිහට සඟරාව කරගෙන යන්න, බය වෙන්න එපා ඕක කරගෙන යන්න පුළුවන් කියල. එතකොට මමත් ඇහුවා, හාමුදුරුවනේ ඒ අයගෙ බලපෑම් මොන වගේද කියල. මම වචනයක් කියන්න හදන කොටම උන් උඩ ඉඳන් බොහොම දරුණු අසභ්‍ය වචන කියනවා, විවිධ ගාථා කොටස්වලට අසභ්‍ය වචන දාල කියනවා, එහෙන් මෙහෙන් අනිනවා... මේ ආදී වශයෙන් උන්වහන්සේ කිව්වා. කොහොම හරි ඔය විදිහට කරපු හිරිහැර බාධක නිසා දවස් දෙක තුනක්ම අනුරාධපුර ගිහින් හිස් අතින්ම එන්න සිද්ධ වුනා. ඒ කියන්නෙ උන්වහන්සේ එන්න කිව්වත්, ගියාට පස්සෙ මේ බලපෑම් නිසා කිසිම කරුණක් ගන්න ඉඩ දුන්නෙ නෑ.

ඔය විදිහටම ගිය තවත් දවසක ඒ වගේ බලපෑම් එල්ල වුනාම තමයි පණ ගන්වපු වාහනයක් ඇතුලෙ ඉඳගෙන විනාඩි 45 ක් විතර දහම් කරුණු ලබා දුන්නෙ. ඒ වෙලාවෙ නම් බාධා වුනේ නෑ. ඉතින් ඒ උපක්‍රමයත් උන්වහන්සේට සමාධියෙන්මයි නැගුනෙ. ඔය විදිහට විවිධ උපක්‍රම පාවිච්චි කර කර තමයි අවසන් කාලය බොහොම අමාරුවෙන් ගෙවා ගත්තෙ.

තවත් දවසක උන්වහන්සේ මේ බලපෑම්වලින් මිදෙන්න කියල තාවකාලිකව නවාතැන් ගත්තු තැනකට මම ගියා. සාමාන්‍යයෙන් මේ දහම් කරුණු පටිගත කරගන්න මමත් විවිධ අවස්ථාවලදි විවිධ පටිගත කිරීමේ උපකරණ භාවිතා කළා. එදා ගෙනිච්ච උපකරණය විද්‍යුත් කාන්දම් බලයක් තියෙන පොතක් සහිත පටිගත කිරිමේ පෑනකින් යුත් උපකරණයක්. ඒ පෑන ක්‍රියාත්මක කරල ඒ පොතේ අදාළ මාතෘකාව ලිව්වම ඒ කියන කරුණු පටිගත වෙලා නැවත අවශ්‍ය වෙලාවට අර මාතෘකාවට පෑන් තුඩ තියල ඒක අහන්න පුළුවන්. ඒ උපකරණය තමයි වැඩිපුරම පාවිච්චි කළේ.

ඉතින් එදා උන්වහන්සේ මේ උපකරණය දැකල මෙහෙම කතාවක් කිව්වා. ඔය පෑනෙන් පොතේ ලියන කොට දකුණු අතට ලියන්න එපා, එතකොට මේ ගුප්ත ලෝකයේ ඉන්න අයට පටිගත වෙච්ච දත්ත මකා දමන්න පුළුවන්. ඒ නිසා පොතේ වම් අතට ලියන්න. උදාහරණයක් විදිහට "රා" කියල ලියන කොට සාමාන්‍යයෙන් ඒ විදිහට දකුණු අතට ලියන්නෙ නැතිව අනෙක් පැත්ත හරවල "ාර" වාමාවර්තව ලියන්න. එතකොට ඒ ගුප්ත ලෝකයේ අයට පැටලෙනවා, ඒ දත්ත මකන්න බැරිව යනවා. මේ විදිහට කියල උන්වහන්සේ පොත අතට අරගෙන යම් කිසි අධිෂ්ඨානයක් කරල නැවත මගේ අතට දුන්නා.

හැබැයි මේ කියන සිද්ධිය හැමතිස්සෙම වෙනවත් නෙවෙයි. මොනවහරි විශේෂ දේශනාවක් කියල ඒ අයට දැනුනොත්, එහෙම නැත්නම් ඒ අයගෙ අත්හදා බැලීමක් කරන්න ඕන වුනොත් අර වගේ බලපෑම් කරල ඒ දත්ත මකා දමන්න පුළුවන්. බලන්න එතකොට මේ ගුප්ත ලෝකය මොන තරම් සූක්ෂමද, මොන තරම් සංකීර්ණද කියල. මනුස්සයෙක් පටිගත කරගත්ත හඬක් මකා දමන්න තරම් ඒ අයට බලයක් ශක්තියක් තියෙන බව උන්වහන්සේ අත්දැකීමෙන්මයි කිව්වෙ. ඒකට උපක්‍රමයකුත් සමාධියෙන් අර විදිහට කියල දුන්නා.

තවත් දවසක මේ වගේ දහම් කරුණු ගන්න, ඒ දවස්වල උන්වහන්සේ වැඩ හිටපු තැනකට ගියාම මේ විදිහෙ හරි අමුතු කතාවක් කිව්වා.

මේ උඩ තියෙන සිවිලිමේ ගුප්ත ලෝකයේ අය ඇවිත් හරි ලස්සන අමුතු ජාතියේ චිත්‍ර අඳිනවා. සිවිලිමේ විතරක් නෙවෙයි, මම යන හැමතැනම ඒ අය ලස්සන චිත්‍ර අඳිනවා. නාන කාමරයට ගියත්, වැසිකිලියට ගියත්, ඒ බිත්තිවලත්, වැසිකිලි පෝච්චියෙත් චිත්‍ර අඳිනවා. හැබැයි අඳින සැනින් ඒ අයම ආපස්සට ඒවා මකල දානවා. හරි පුදුම හැකියාවක් හිතාගන්නත් බෑ. හැබැයි එකක්වත් අසභ්‍ය ඒවා නම් අඳින්නෙ නෑ. සාමාන්‍යයෙන් ලෞකික අර්ථයක් තියෙන මල්වැල්, දෙවඟනන් වගේ කලාත්මක චිත්‍ර තමයි අඳින්නෙ. සමහර චිත්‍රවලින් මොනවා කියනවද කියල හිතා ගන්නත් බෑ. පුදුමාකාර වේගයකින් ඉතාම ලස්සනට ඇඳල ඒත් එක්කම මකනවා. උන්වහන්සේ මෙහෙම කියල උඩ සිවිලිම පෙන්වල අපෙන් අහනවා, දැන් මේ කියන කොටත් උඩ සිවිලිමේ ඒ අය චිත්‍ර අඳිනවා, ඒවා අපිට පේනවද කියල. ඉතින් එතැන හිටපු අපි කාටවත් සිවිලිම දිහා බලාගෙන හිටියට එහෙම චිත්‍ර ඇඳීමක් පෙනුනෙ නෑ.

තවත් දවසක මම මේ සඟරාවට කරුණු ලබා ගන්න උන්වහන්සේ තාවකාලිකව වැඩ හිටපු තැනකට ගියා. ඒක එක්තරා රබර් වතුයායක් මැද්දෙ උස් තැනක පිහිටපු යම් කිසි සුන්දර වටපිටාවක් සහිත භූමියක්. එතැන ඉඳගත්තම වටපිටාවේ ගස්කොළන් එක්ක ඈතට රබර් වතු යාය පේනවා. පරිසරයත් බොහොම නිහඬයි, නිස්කලංකයි. මම ඉතින් පැය එකහමාරක් විතර දහම් කරුණු අහගෙන, ඒ කටයුතු අවසන් කරල ටික වෙලාවක් බලාගෙන හිටියා. එතකොට උන්වහන්සේ ටික වෙලාවක් නිහඬව ඈත රබර් ගස් දිහා බලාගෙන ඉඳල මඳක් හිනාවෙලා අහනවා, අර ඈත තියෙන රබර් ගස් දෙක ළඟ ගන්ධබ්බ පවුලක් ඉන්නවා පේනවද කියල. මමත් ඉතින් බලල එහෙම දෙයක් පේන්නෙ නැති නිසා මට පේන්නෙ නෑ කිව්වා. දැන් උන්වහන්සේ මේ සමාධියකට සමවැදිලවත් නෙවෙයි, නිකන් සාමාන්‍යයෙන් ඉන්න ගමන් මෙහෙම කියනවා.

අර පේන රබර් ගස් දෙක මැද්දෙ තමයි ඒ අයගෙ නිවහන තියෙන්නෙ. ඒ පේන රබර් ගහ ඒ අයගෙ ලෝකයේ අඹ ගහක්, ඒක ඒ අයට අඹ ගහක් විදිහට තමයි පේන්නෙ. ඒ අය බොහොම දුප්පත් උදවිය. සාමාන්‍ය කටු මැටි ගහපු පැළක් තමයි අර පේන්නෙ. ඒ රබර් ගහත් එක්ක තියෙන ගල් පර්වතය තමයි ඒ අයගෙ ලෝකෙ පොල් අතු පැළක් විදිහට තියෙන්නෙ. අන්න දැන් ඒ අයට අපි මේ කතා කරන දේවල් ඇහිල සන්තෝසයෙන් කියනවා, අන්න අන්න අපි ගැන කතා වෙනව කියල... මේ ආදී වශයෙන් උන්වහන්සේ රබර් වතු යාය මැද්දෙ තියෙන රබර් ගහක් දිහාවට අත දික්කරල ඔය විදිහෙ විස්තරයක් කියාගෙන ගිහින් නැවතත් අහනවා, මහත්තයට මේ සිද්ධිය පේනවද කියල. මම නැවතත් නෑ හාමුදුරුවනේ කියල, ඔබ වහන්සේට මේ සිද්ධිය පේන්නෙ මස් ලේ ඇහැටද නැත්නම් සමාධියටද කියල ඇහුවා. නෑ මේ මස් ලේ ඇස් දෙකටම හොඳට පියවි ලෝකය වගේම පේනවා කිව්වා. එතකොට ඒ අය කතා කරන හඬ ඇහුනෙ කොහොමද කියල ඇහුවම, ඒකත් මේ මස් ලේ කන් දෙකටම ඇහෙනවා කිව්වා.

ඉතින් හරි පුදුම වැඩක්, උන්වහන්සේට ඒ ඔක්කොම සජීවීවම මස්ලේ ඇහැට පේනවා, මස්ලේ කනට ඇහෙනවා. නමුත් මට ඒ මොකුත් පේන්නෙ නෑ, ඇහෙන්නෙ නෑ. ඊට පස්සෙ උන්වහන්සේ කියනවා, කැමරාවෙන් ඡායාරූපයක්

# පොතපතින් ඔබ්බට...

## 02 කොටස



වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේගෙන් හෙළ බොදු පියුම දහම් සඟරාවට විවිධ මාතෘකා ඔස්සේ කරුණු ලබාගැනීමේදී ප්‍රධාන කාරණාවලට අමතරව තවත් කුඩා අතුරු කාරණා ඔස්සේ යොමු කළ ගැටළුවලට, උන්වහන්සේ විසින් අතිරේක වශයෙන් ලබාදුන් වටිනා කෙටි පිළිතුරු සියලු පින්වතුන්ගේ මෙලොව, පරලොව අභිවෘද්ධිය සහ නිවන් උදෙසා මේ විදිහට සටහන් කරනවා.

**ගොම්මන් වෙලාව / රාස්සිගෙ අච්ච වැටෙන වෙලාව / යක්කු ගස් නගින වෙලාව / යම වෙලාව**

ඉස්සර අපේ ගම්මු අතර නිතර කතාබහ වෙච්ච වචන කිහිපයක් තමයි මේ. ගොම්මන් වෙලාවෙ කොහෙද යන්නෙ.... රාස්සිගෙ අච්ච වැටෙන වෙලාවෙ, යක්කු ගස් නගින වෙලාවෙ කොහෙවත් යන්න එපා... ඔය ආදී වශයෙන් ළමයින්ට අවවාද කරන සිරිතක් තිබුනා. අදත් සමහර ගම් පළාත්වල වැඩිහිටි උදවිය අර්ථය දැනගෙන හෝ නොදැනගෙන මෙහෙම කියන සිරිතක් තියෙනවා.

දැන් මේකත් එක්තරා ආකාරයකට දස අකුසලයත් එක්ක සම්බන්ධ දෙයක්. මොකද තමන්ගෙන් හෝ බාහිර පරිසරයෙන් හෝ නැගිච්ච විස කිරණ අමනුස්සයින්ට ගැලපෙනවා. එහෙම ගැලපෙන වෙලාවක් එනවා. ඒ වගේ පරිසරයක් උන්ගෙ කටයුතුවලට හරි පහසුයි. ගොම්මන් වෙලාව කියන්නෙ අඳුර වැටීගෙන එන වෙලාව. ඡායාව විතරක් පෙනෙන වෙලාව. මිනිස්සු, කුරුල්ලො, ගවයො... ආදී සත්තු වැඩ කටයුතු අවසන් කරල කාල බීල ඒ ඒ ජාතියේ අය එකට ගොනු වෙලා (ගොමුවක් වගේ හැදිල) නිදාගන්න, ලගින්න යන වෙලාව. ඒ වගේම විසිරිලා හිටපු අමනුස්සයො ගොනු වෙලා එළියට බහින වෙලාව. ඒ කියන්නෙ පෙනෙන නොපෙනෙන හැමෝම ගොනු වෙලා එකතු වෙන වෙලාව. මෙන්න මේ වගේ මනසේ තියෙන ගොනුවීම තමයි ගොන්මන් / ගොම්මන් වීම කියන්නෙ.

එතකොට රාස්සිගෙ අච්ච වැටෙන වෙලාව කියන්නෙ හැන්දෑවෙ 5.00 න් පස්සෙ විතර. රාස්ස ගතිය

---

අරගෙන බලන්න කියල. එහෙම කියල ඒ ඡායාරූපය ගන්න ඕන එල්ලයත් අත දික්කරල පෙන්නුවා, අන්න අර රබර් ගස් දෙකයි ගල්ගෙඩියයි අහුවෙන විදිහට ගන්න කියල. මම ඉතිං ඒ වෙලාවෙ මගේ අතේ තිබුන ජංගම දුරකතනයේ කැමරාවෙන් ඡායාරූප කිහිපයක්ම ගත්තා. නමුත් ඒ කිසිවක ඒ කියන දර්ශන සටහන් වෙලා තිබුනෙ නෑ. උන්වහන්සේට ඡායාරූප ටික පෙන්නුවම උන්වහන්සේත් කියනවා, හරි පුදුම වැඩේනෙ මේ දැනුත් මගේ මස්ලේ ඇහැටම ඒ දර්ශනය හොඳට පේනවනෙ කියල. ඉතින් තවත් ඡායාරූපයක් අරගෙන බලන්න කිව්වා. ඒ ගත්තත් ඒවායේ රබර් ගස් ටිකයි ගල් ගෙඩියයි හැර වෙන විශේෂ යමක් සටහන් වෙලා තිබුනෙ නෑ. ඊට පස්සෙ එතැනට ආපු අනික් අයටත් උන්වහන්සේ ඒ දර්ශනය පෙන්නුවත් ඒ කිසිම කෙනෙකුට ඒ වගේ දර්ශනයක් පෙනුනෙ නෑ.

ඉතිං මේ කාරණා ටික කිව්වෙ වෙන හේතුවක් නිසා නෙවෙයි, අපි කොච්චර නිරෝගියි කිව්වත්, ඇස් පෙනීම කන් ඇසීම තියෙනවයි කිව්වත්, අපිට පේන්නෙ නැති විස්මිත දේවල් මේ ගුප්ත ලෝකයේ කොච්චර නම් තියෙනවද කියන කාරණය පෙන්වන්න. වහරක හාමුදුරුවන්ගෙ ඇස් දෙකට විතරක් පෙනිල, උන්වහන්සේගෙ කන් දෙකට විතරක් ඇහිල, අනෙක් අයගෙ ඇස් කන්වලට නොපෙනෙන්න නොඇසෙන්න නම් මේ ගුප්ත ලෝකය මොන තරම් සූක්ෂම වෙන්න ඕනද? මොන තරම් සංකීර්ණ වෙන්න ඕනද? ඒ වගේම උන්වහන්සේගේ මස් ලේ ඇස් දෙකටම පේන දර්ශන ඩිජිටල් කැමරාවකවත් සටහන් නොවෙන්න හේතුව මොකක්ද? අද තියෙන නවීන විද්‍යාවෙන් මේ කාරණය කොහොම පහදන්නද? ලෝක විෂය අචින්ත්‍යයි කියන්නෙ ඕක තමයි. අපි ඕක පොත්වල තියෙන නිසා කට පාඩමින් කිව්වට, විස්වාසයෙන් පිළිගත්තට, ඇත්තටම මේ වගේ අත්දැකීම්වලින් ඒ කාරණය ඇත්තයි කියල ඔප්පු වෙනවා. ඉතින් එහෙම අචින්ත්‍ය වූ ලෝක විෂයක සාමාන්‍ය අයට දැක බලාගන්න බැරි, අහන්න බැරි යම් කිසි විෂය ප්‍රමාණයක් හරි දැනගන්න නම්, මේ වගේ අධ්‍යාත්මික ශක්තිය දියුණු කරපු උත්තමයින් සිටිය යුතු බවත්, සම්මත ලෝකයේ මොන තරම් දැන උගත්කම් උපාධි සහතික තිබුනත්, ඒවායින් එහෙම හැකියාවක් නොලැබෙන බවත්, ඒවා නවීන විද්‍යාවට පවා අහුනොවෙන බවත් මේ වගේ කාරණාවලින් පැහැදිලි වෙනවා.

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

සැරිසරන වෙලාව. යක්කු ගස් නගින වෙලාව කියන්නෙ දවල් 12.00 ට විතර. හොඳටම රත් වෙච්ච වෙලාව. යාම වෙලාව කියන්නෙ යම් කිසි දෙකක් අතර වෙලාව. මරණාසන්න කෙනෙක් සූක්ෂම කයෙන් යම රජු ඉන්න යම ලෝකයට ගිහින් නැවත මස් ලේ කයට එන වෙලාව අතර තියෙන කාලයටත් යම වෙලාව කියල කියනවා. මොකද එතැනදිත් දෙලොවක් අතර ඉන්නෙ. එතකොට රැයත් දහවලත් අතර වෙලාවක් තියෙනවා. ඒකත් යාම හෙවත් යම වෙලාවක්.

යම් කිසි කෙනෙක් දවල් කාලයේ වෙහෙස මහන්සියෙන් විවිධ කටයුතුවල නිරත වෙලා ඉඳල රාත්‍රී කාලය එනකොට ක්‍රමයෙන් ඒ තියෙන මානසිකත්වය අනික් අතට පරිවර්තනය වෙන වෙලාවක් එනවා. හැබැයි රෑ නිදාගෙන ඉන්න කෙනෙක් උදේ නැගිට්ටට ඒක වෙන්නෙ නෑ. රෑ නිදාගෙන උදේ නැගිටිනකොට නිහඬව ඉන්න වෙලාවක යාමය ආවට අර වගේ දෙකක් අතර තියෙන අමනුස්සයන්ට ගැලපෙන පරිසරය හැදෙන්නෙ නෑ. ඒ කියන්නෙ, රැය සහ උදය අතර යාම වෙලාවක් ආවට, අර අමනුස්සයන්ට එන මානසික වික්ෂිප්තභාවය එන්නෙ නෑ. නමුත් යම් කිසි තත්වයකින් මනස තවත් තත්වයකට පරිවර්තනය වෙන වෙලාවෙ සාමාන්‍ය කෙනෙක්ගෙ මනස වික්ෂිප්ත වෙනවා. රෑට නිදාගෙන උදේට පිබිදිච්ච කෙනාගෙ මනසට එහෙම දෙයක් වෙන්නෙ නෑ. උදේ ඉඳල වැඩ කර කර ඉඳල වෙහෙස මහන්සි වෙලා බලනකොට, දවල් වෙලා හවස් වෙන්න පටන්ගෙන ලහි ලහියේ වැඩපල නතර කරල කන්න බොන්න ලෑස්ති වෙන වෙලාව. ඒ වෙලාවෙ මනස වික්ෂිප්තයි. අන්න ඒ වික්ෂිප්ත මානසිකත්වය නිසාත් අමනුස්සයින්ට පසුතලයක් හැදෙනවා.

මෙන්න මේ වගේ දෙයක් තමයි, හවස 6.00 විතර වෙනකොට ගොම්මන් වැටෙන වෙලාව කියන්නෙත්. ඒ වෙලාව එනකොට ඔය විදිහට ඇතිවන වික්ෂිප්තතාවයක් තියෙනවා. ළමයෙක් වුනත් බය වෙන වෙලාව. හවසට එළියට යන්න බයයි. රෑ වේගෙන එනකොට ගෙට දුවනවා. ඒ මානසිකත්වය ඇතිවන වෙලාවෙ ළමයා රැයයි දහවලයි අතර පරතරයක ඉන්නවා. යාමයක් කියන්නෙ ඒකයි. ඔය වෙලාවල් ලබනකොට මනස වික්ෂිප්ත වෙනවා.

උදාහරණයක් විදිහට දවල් 12.00 ගත්තොත් සාමාන්‍යයෙන් අව්ව සැර වෙලාව. ඔය වෙලාවෙ මිනිස්සු වැඩ කරන්න ටිකක් අදිමදි කරනවා. නිදිමත ගතිය, කම්මැලි ගතිය එනවා. නිකං එහාට මෙහාට වෙවී ඉන්නවා. හෝ ගාන ඝෝෂා සද්දය අඩුයි. යම් කිසි නිහඬතාවයක් එනවා. අන්න ඒ වෙලාවත් මනුස්සයෙක්ගෙ මානසිකත්වය නිකං පාලු කරන වෙලාවක්. ඒකට ඒ වෙලාවෙ තියෙන පරිසරය තමයි ප්‍රධාන වශයෙන්ම බලපාන්නෙ. ඒ විදිහට දවල් 12.00 ටත් අමනුස්සයින්ට අයිති වෙලාවක් එනවා. ඒ නිසා තමයි ව්‍යවහාරයේ කියන්නෙ, ඉර මුදුන් වෙන වෙලාවෙ, යක්කු ගස් නගින වෙලාවෙ, ගොම්මන් වැටෙන වෙලාවෙ තනිපංගලමෙ එළියට පහළියට යන්න එපා... ආදී වශයෙන්.

එතැන් පටන් රෑ 9.00 වෙනකල් ඔය තත්වය තියෙනවා. රාත්‍රි 9.00 වෙනකල් අමනුස්සයො එන වෙලාවක් තියෙනවා. විශ්වය අතැඹුලක් සේ දැකපු පැරණි ඍෂිවරු ඒ අනුව ඒ ඒ වෙලාවල් එක එක්කෙනාට බෙදල තියෙනවා. දැන් ඔය මහ සොහොන් යක්ෂයට, රීරි යක්ෂයට රෑ 6, 7, 8 වගේ වෙලාවන් දීල තියෙනවා. සූනියම් යක්ෂයින්ට රෑ 9.00 ඉඳන් වෙන් වෙලා තියෙනවා. සූනියම් දේවතාවන් වහන්සේට රෑ 10.08 න් පස්සෙ දීල තියෙනවා. ඒ නිසා දෙවියන්ට පහන් තියන අය රෑ 9.00 පහුවෙනකල් පහන් තියන්නෙ නෑ. සූනියම් දෙවියන්ට පහන් තියන්න රෑ 10.08 පහු වෙනකල් ඉන්නවා. ඒ වගේ දැඩිමුණ්ඩ දෙවියන්ට, ඊශ්වර දෙවියන්ට රෑ 12.00 - 1.00 වගේ වෙලාවක් තියෙන්නෙ. **බ්‍රහ්මයන් මුල් කර ගත්ත වෙලාව තමයි පාන්දර 4.00 ට බ්‍රහ්ම මුහුර්තය කියන්නෙ. ඒ තමයි හොඳටම නිදහස් වෙලාව.**

ඔය විදිහට දෙවියන්ට, යක්ෂයන්ට... ආදී වශයෙන් වෙන් කරපු කාලයේ වෙලාව බලන ක්‍රමයක් තියෙනවා. ඒ කියන්නෙ මේ මානසිකත්වය වික්ෂිප්ත වෙන ආකාරය අනුව තමයි ඍෂිවරු ඒ කාලය පෙන්වල තියෙන්නෙ. ඒ වෙලාවන්වලට පරිසරයත් වෙනස්. ඒ කාලයෙදි මනසේ ඇතිවන වික්ෂිප්තතාවයන් අනුව අනුකූල අමනුස්සයින් ආකර්ශනය වෙනවා. ඒ තමයි ඒ අයට පරිසරය හැදෙන වෙලාවන්. ඒ වෙලාවට තමයි ඒ අයට පහසුවෙන් එළියට පහළියට එන්න පුළුවන්කම ලැබෙන්නෙ. විශේෂයෙන් ඔය වෙලාවට එන කොටසක් ඉන්නවා.

## සෙත් ශාන්තිවලට මුහුදු වැලි ගැනීම / දෙස් කපා ගලා යන දිය පාරකට දැමීම / එක නැට්ටේ දෙහි කැපීම

විවිධ සෙත් ශාන්ති ආදී කටයුතු සිද්ධ කරනකොට බොහෝ කොටම මුහුදු වැලි ගන්න සිරිතක් තියෙනවා. පැගෙන වැල්ල කිව්වම ඒකට හැමතිස්සෙම අයිතිකාරයෙක් ඉන්නවා. වෙරළට අධිපති දේවතාවෝ ඉන්නවා. වෙරළෙ හිරියොත් පැගෙනවා. ඒ නිසා වෙරළෙ තියෙන වැලි නෙවෙයි ගන්නෙ. නමුත් මුහුදු වැල්ල කියන්නෙ හැමවෙලේම ඕංචිලි පදිනව වගේ, රැල්ලත් එක්ක යන එන එකක්. ඒ නිසා ඒක කවුරුවත් අල්ලගන්නෙ නෑ. අයිතිකාරයෙක් නෑ. අන්න ඒ රැල්ලත් එක්ක හේදිලා එන වැල්ල සෙත් ශාන්තිවලට ගත්තොත් සුද්ධ ගතිය වැඩි නිසා ප්‍රතිඵලත් වැඩියි. එහෙම නැත්නම් ඇලක, දොලක, ගංගාවක වුනත් ගලා යන දිය පාරට නිතර කැලතෙන තැනක තියෙන වැලි ගන්න පුළුවන්. මොකද ගලන ගඟකට, ඇලකට, දොළකට, රළකට කවුරුවත් අයිතිවාසිකම් කියන්නෙ නෑ.

එතකොට යම් කිසි දෝසයක් තියේ නම් ඒ දෝසය බැඳිල තියෙන ඒවා වතුරෙ පා කරනවා කියල ක්‍රමයක් තියෙනවා. දෝසයක් බැඳුනම ඒ බැඳිච්ච ද්‍රව්‍යයේ වස්තුවේ එල්ලිලා යම් කිසි කෙනෙක්ව අල්ල ගන්න එතැන මාධ්‍යය කර ගන්න අමනුස්ස පිරිස් ඉන්නවා. නමුත් ඒක ගලා යන දිය පාරකට දැම්මම එක තැන රැඳෙන්නෙ නැති නිසා හිමිකාරත්වයක් නැතිව යනවා. එතකොට එතැන එල්ලිලා ඉන්න බැරිව යනවා.

ඔය දෙහි කපනකොට එක නැට්ටෙ දෙහි කපනව කියල දෙයක් තියෙනවා. මෙතැනදි දැන් හුඟ දෙනෙක් නොදන්න දෙයක් තියෙනවා. එතැනදි එක නැට්ටෙ දෙහි ගෙඩි 3 ක් තමයි ගන්නෙ. ඒ කියන්නෙ දෙහි මල පරාගණය වුනාට පස්සෙ එක මලකින් තුන් පැත්තකට ගැට 3 ක් එන අවස්ථා තියෙනවා. ඒක තමයි ලොකු වුනාම එක නැට්ටෙ දෙහි කියන්නෙ.

දැන් මේ එක නැට්ටෙ දෙහි ගෙඩි 3 ක් කපනකොට රාග, ද්වේශ, මෝහ කියන තුන්දොස්වලට අහුවෙලා වා පිත් සෙම් කිපිල යම් කිසි අමනුස්සයෙක් ශරීරයේ රැඳිල බැඳිල ඉන්නව නම් ඒක කැපිල යනවා. එතකොට ඒ අමනුස්සයින්ට ඉන්න බැරිව යනවා.

හැබැයි මෙතැනදි එක නැට්ටෙ දෙහි ගෙඩි 3 නැට්ටත් එක්කම



කඩා ගත්තට පස්සෙ, ඕකට මුකුත් නොකර දෙහි කැපීමට සම්බන්ධ කර ගත්තොත් තමයි අර දෙහි ගහත් එක්ක තියෙන සම්බන්ධය දිගටම පැවතිලා දෙහි කැපීම සාර්ථක වෙන්නෙ. දැන් එතකොට මේ දෙහි කැපුවම මොකද වෙන්නෙ, අමනුස්සයින්ට ශරීරයේ ඉන්න බැරිව යනවා. හැබැයි අර ගහේ සම්බන්ධය තියෙන නිසා අමනුස්සයො දැනගන්නවා, මේ අහවල් දෙහි ගහ නිසා තමයි තමන්ට ප්‍රහාර එල්ල වෙලා මේ ශරීරයෙන් යන්න සිද්ධ වුනේ කියල. එතකොට ඒ අයට දෙහි ගහත් එක්ක තරහක් වෛරයක් ඇවිත්, මේ දෙහි ගහ තියන්න හොඳ නෑ කියල අර ඉව ඔස්සේ දෙහි ගහ හොයාගෙන ගිහින් ගහේ මුල ඉඳන් එක්තරා පුස් වර්ගයක් හැදෙන්න සලස්වනවා. දිය මල්ලං කනව කියල තමයි ඒ ලෙඩේට කියන්නෙ. එතැන් පටන් ගහ මුල ඉඳගෙන මැරෙන්න පටන් ගන්නවා. ඉතින් මාසයක් විතර යත්දි දෙහි ගහ මැරෙනවා.

හැබැයි එක නැට්ටෙ දෙහි ගෙඩි 3 ක් ගහෙන් කඩල අරගෙන ඒකෙ නැට්ට අගින් කටුවක් දෙකක් සහ කොළයක් දෙකක් එක්ක නටු කැල්ලක් කඩල අහකට දැම්මම ඒක ගහට සම්බන්ධ වෙන්නෙ නෑ. හැබැයි එතකොට දෙහි කැපීම සුද්ධ වෙන්නෙත් නෑ. ඒ කියන්නෙ දොස් කැපීම සම්පූර්ණ වෙන්නෙ නෑ. මොකද තමන්ට ප්‍රහාර එල්ල කරපු ගහ හොයාගන්න බැරිවෙනකොට ඒ දෙහි කපපු තැනටම ඇවිත්, ඈදුරු ආරක්‍ෂාව නිසා ඈදුරට මොකුත් කරන්න බැරි නිසා අර ආතුරයාට නැවත සම්බන්ධ වෙනවා. මොකද ගහෙන් බැරි නම් මනුස්සයගෙන් හරි පළිගන්න තමයි අමනුස්සයට ඕන වෙන්නෙ. ගහක් කියන්නෙත් පණක්. ගහේ ප්‍රාණය නැති කරන්න තමයි ගහට සම්බන්ධ වෙලා ගහ මරන්නෙ. ඒක කරන්න බැරිවෙනකොට නැවතත් හිටපු තැනටම ඇවිත් ආතුරයගෙ ශරීරයටම සම්බන්ධ වෙනවා. එතකොට එක නැට්ටෙ දෙහි කැපීමෙන් වැඩක් වෙන්නෙ නෑ.

දැන් ඕක දන්න අය මොකද කරන්නෙ, කාටවත් කියල කඩාගන්නෙ නැතිව තමන්ම ගහෙන් දෙහි කඩල වැඩේ කරනවා. එතකොට ගහෙන් කඩපු දෙහි වෙනස් නොකර එහෙම්ම තියෙත්දි තමයි දෙහි කපන්නෙ. නමුත් හුග දෙනෙක් ඕක දන්නෙ නෑ. ඒ නිසා එක නැට්ටෙ දෙහි ගෙඩි 3 ක් ගත්තම, එක තැන ගෙඩි 3 කපන්න ඉස්සෙල්ල, කොළ ටිකක් එක්ක ගහට සම්බන්ධ නැට්ට කොටසක් කඩල අහකට දාල දෙහි කැපුවොත් එක නැට්ටේ දෙහි කැපීමේ ප්‍රතිඵල එන්නෙ නෑ. හැබැයි එහෙම මුකුත් නොකර ගහෙන් කැඩුව වගේම දෙහි ගෙඩිය හරියට තිබුනොත් දෙහි කැපුවම දෙහි ගහ මැරෙනවා. ඕක දන්න අය මොකද කරන්නෙ, කවුරුහරි එක නැට්ටෙ දෙහි ගෙඩි 3 ක් ඉල්ලුවම දෙහි ගෙඩි 3 ගහට සම්බන්ධ නැට්ට කොටසෙන් ටිකක් දිගට හිටින්න කොළත් එක්ක කඩාගෙන ඒක ජීවමට හෝ දෙහි කැපිල්ලට ගන්න ඉස්සෙල්ල අර නැට්ට ගහට සම්බන්ධ වෙලා තිබ්ච්ච පැත්තෙන් කොළ සහ කටු ටිකක් එක්ක කැල්ලක් කඩල අහකට විසි කරල දෙහි ගෙඩි 3 දෙනවා. එතකොට ගහට තියෙන සම්බන්ධය නැති වෙලා යනවා. හැබැයි එහෙම වෙන්න නම් අර අහක් කරපු කැල්ල දාන්න ඕන ගලා යන දිය පාරකට. නිකං තැනකට දැම්මට හරියන්නෙ නෑ. මොකද ගලන දිය පාරකට දැම්මම තමයි හිමිකම නැතිව යන්නෙ. එතකොට ගහ බේරෙනවා. තමන්ගෙ දෙහි ගහ බේරා ගැනීම තමයි ඒකෙ අරමුණ. නමුත් එක නැට්ටෙ දෙහි කැපීමේ ප්‍රතිඵලය එන්නෙ නෑ.

ඒ කියන්නෙ ගලා යන දිය පාරකට දැම්මම ඒ දෙහි අත්ත අමනුස්සයින්ගෙ කිරණමය ලෝකයට දෙහි ගහක් වගේ ජේන නිසා දෙහි ගහ කියල හිතාගෙන අමනුස්සයො ඒක පස්සෙ තමයි පළිගන්න යන්නෙ. නමුත් දිය පාරෙ ගලාගෙන යනකොට දවස් කිහිපයකින් දෙහි අත්ත කුණු වෙන්න පටන් ගත්තම ඒ සම්බන්ධය නැතිව යනවා. අන්තිමට කොහේ හරි ගිහින් නතර වෙච්ච දවසට දැනගන්නවා, මේ දෙහි ගහ නෙවෙයි අපි රැවටිලා තියෙන්නෙ කියල. ඒ නිසා නැවතත් තමන් හිටපු තැනටම ඇවිත් ආතුරයගෙ ඇඟටම සම්බන්ධ වෙනවා. දැන් දෙහි ගහ බේරෙනවා. හැබැයි දෙහි කැපිල්ලෙන් වැඩක් නැතිව යනවා. ඕක තමයි වෙන්නෙ.

හැබැයි මේ විදිහට කළත් බොහොම කලාතුරකින් සමහරවිට දෙහි ගහත් බේරිලා ආතුරයගෙ ශරීරයෙන් අමනුස්සයත් ඉවත් වෙලා දෙහි කැපීම සාර්ථක වෙන්නත් පුළුවන් අවස්ථා තියෙනවා. මොකද ඔය විදිහට දෙහි අතු කැල්ල ගලාගෙන යන දිය පාරකට දැම්මම අමනුස්සයො ඕක පස්සෙන් දවස් කිහිපයක් යනකොට ඒ දිය පාරත් එක්ක තියෙන ලැගුම්පොළවල්වල පෙර කරපු බලි තොවිල්, තටු, ඉනා බන්ධන... ආදියෙන් ගැලවිච්ච අමනුස්සයො එහෙම හිටිය නම්, ඒ අය තමන්ගෙ ගතියට ගැලපෙනව නම් එහෙම, සමහර විට ඒ අයත් එක්ක සම්බන්ධ වෙලා ඒ ඒ තැන්වල පැලපදියම් වෙන්න පුළුවන්. එහෙම බැරි වුනොත් නැවතත් අර තැනටම හොයාගෙන යනවා. නමුත් එහෙම සාර්ථක වෙන්න තියෙන සම්භාවිතාව ඉතාම අඩුයි. මොකද ඔය දෙහි අතු කැල්ල වතුරට වැටිච්ච හැටියෙ දවස් ගණනක් ඇතුලත ඉක්මනට කුණු වෙන්න ගන්නවා. ඉතින් ඕක පස්සෙ වැඩිම වුනොත් අමනුස්සයො දින 7 ක් වගේ කාලයක් දුවයි. කොහේ හරි ගිහින් කුණු වෙලා නැවතිච්ච හැටියෙ උන් දැන ගන්නවා, මේ දෙහි ගහ නෙවෙයි අපි රැවටුනා කියල. එතකොට දෙහි ගහත් එක්ක තිබුන සම්බන්ධය බිඳිල තියෙන නිසා තමන් කලින් පැලපදියම් වෙලා හිටපු මනුස්ස ප්‍රාණය තමයි මතක් වෙන්නෙ. ඒ නිසා අල්ලපු අත්තයි පය ගහපු අත්තයි දෙකම නැතිවෙන්න කලින් නැවතත් පය ගහගෙන හිටපු අත්තටම එනවා.

හැබැයි දෙහි අතු කැල්ල කඩල ගලා යන දිය පාරකට දමන්නෙ නැතිව නිකං තැනකට දැම්මොත් ගහත් එක්ක තියෙන සම්බන්ධය ඉතා



පහසුවෙන් හොයාගන්න පුළුවන්. ඒ සුවඳ ඔස්සේ ගහේ සම්බන්ධය තියෙනවා. ගොඩබිම තියෙත්දි දෙහි අත්ත ලේසියෙන් නරක් වෙන්නෙ නෑ. ඒ නිසා තමයි ගලාගෙන යන දිය පාරකටම දමන්නෙ. බැරි වෙලා හරි දෙහි අත්ත හුඟක් ඈතකට ගිහින් අමනුස්සයො අතරමං වුනොත් එහෙම සම්බන්ධතා දෙකම බිඳෙන නිසා ගහත් බේරිලා දෙහි කැපීමත් සාර්ථක වෙන්න පුළුවන් වුනත්, ඒ සම්භාවිතාව හුඟක් අඩුයි. මොකද එහෙම අතරමං වෙන්න කලින් උන් ඒක දැනගෙන නැවතත් හිටපු තැනටම එනවා.

**ඉතින් මේ කතාව දන්න උදවිය තමන්ගෙ ගෙවත්තෙ තියෙන දෙහි ගහක එක නැට්ටෙ දෙහි ගෙඩි 3 ක් තිබුනොත් ඕක හැදෙනකොටම ගැටය කාලෙදිම කඩල ඉවත් කරනවා. මොකද ඔය වගේ යකැදුරු වැඩ කරන උදවිය, එහෙම නැත්නම් ඒ ගැන දන්න කියන කෙනෙක් තමන්ගෙ අවශ්‍යතාවයට ඒක කඩාගෙන අර වගේ දෙහි කැපීමකට යොදා ගත්තොත් දෙහි ගහ ඉවරයි. ගෙවල් ඉස්සරහ දෙහි ගස් හිටවන්නෙ නැත්තෙත් ඒකයි. මොකද එතකොට අර වගේ දෙයක් සිද්ධ වුනොත් ගහ මැරෙනවට අමතරව ගෙවල් ඉස්සරහ අමනුස්සයොත් එකතු වෙන්න පුළුවන්. දෙහි ගහ කාෂ්ටාරෝහක ශාකයක් නිසා ගෙවල් ඉස්සරහ හිටවීම නුසුදුසු වීම තවත් කාරණයක්.**

ඉතින් රවුලයි කැඳයි දෙකම බේරගන්න බෑ වගේ, මේ වගේ අවස්ථාවකදි දෙහි ගහත් බේරගෙන දෙහි කැපීමත් සාර්ථක වෙන්න තියෙන ඉඩකඩ අඩුයි. එහෙම නොවී සාර්ථක වුනත් එක ගහකින් එක දෙහි කැපිල්ලයි කරන්න පුළුවන් වෙන්නෙ. ඊට පස්සෙ ගහ මාසයක් විතර යනකොට මැරෙනවා. බැරිවෙලාවත් ඒ මාසය ඇතුලත ඒ ගහේ තවත් එක නැට්ටෙ දෙහි ගෙඩි 3 ක අත්තක් තිබිල ඒකත් අර වගේ දෙහි කැපීමකට යොදා ගත්තොත් හෝ ඉතිරි දෙහි ටික කෑමට ගත්තොත් හෝ හැර ඒ දෙහි ගහෙන් තවත් වැඩක් ගන්න බැරි වෙනවා. ඒ නිසා කවුරුහරි තමන්ගෙ ගහෙන් කැමැත්තෙන් එක නැට්ටෙ දෙහි ගෙඩි 3 ක් දුන්නොත් හැර ලේසියෙන් කෙනෙක් ඔය කතාව දන්නව නම් එහෙම දෙන්නෙ නෑ.

හැබැයි ඉතින් දෙහි ගහත් බේරගෙන දෙහි කැපිල්ලත් සාර්ථක කර ගන්න ක්‍රමයක් තියෙනවා. ඒ කියන්නෙ දෙහි කැපුව හැටියෙම අමනුස්සයො තාවකාලිකව හරි ශරීරයෙන් ඉවත් වෙලා අර දෙහි අත්ත පස්සෙ දුවන නිසා ඒත් එක්කම ආතුරයට ඇප නූලක් හරි මොනව හරි ආරක්ෂාවක් දැම්මොත් අමනුස්සයට නැවතත් ඒ ශරීරයට ඇතුල් වෙන්න බැරිව යනවා. නමුත් තමන්ගෙ බඩගෝස්තරය විතරක් රැකගන්න තියෙන උවමනාව නිසා හුඟක් ඇදුරො එහෙම කරන්නෙ නෑ. ඉතින් දෙහි කැපුවට පස්සෙ දවස් කිහිපයක් යනකල් අමනුස්ස බලපෑම් ශරීරයෙන් ඉවත් වෙච්ච නිසා ආතුරයාට සහනයක් දැනෙනවා. එතකොට ඇදුරත් වැඩේ හරියට කළා කියල ඒ අය හිතනවා. ඔහොම දවස් ගණනක් ගියාට පස්සෙ අමනුස්සයා නැවතත් සම්බන්ධ වෙලා අර සහනය නැති වුනාම දැන් ඇදුරා මොකද කියන්නෙ, මම හරියට වැඩේ කළා, නමුත් පරිස්සම් වුනේ නෑ, කිල්ලට අහු වෙලා, මළ ගෙවල්වල ගිහින්, කොටහළු ගෙවල්වල ගිහින් වැඩේ වරද්ද ගත්තා... ඔය වගේ කතා කියනවා. දැන් එතකොට නැවතත් ඒ ඇදුරගෙ පස්සෙන්ම යනවා තවත් මොනවහරි ආරක්ෂාවක් පිහිටක් පතාගෙන. ඉතින් ඇදුරටත් වැඩේඇදගෙන යන්න ඕන නිසා අර විදිහටම කරනවා. මනුස්සයින්ට ලෞකික වශයෙන් යහපතක් කරගන්න තිබ්බව සාස්තර ක්‍රමවේද අද වෙනකොට තමන්ගෙ බඩ වියත විතරක් රැකගන්න කන්න හදාගෙන තියෙන්නෙ ඔහොමයි. ඔය විදිහෙ දේවල් තමයි මේ වෙනකොට රටේ ලෝකෙ හුඟක් සිද්ධ වෙන්නෙ.

## ස්වයංජාත ඇල්

මීට අවුරුදු කිහිපයකට පෙර පැරණි වටිනා වී වර්ගයක් හොයා ගත්තා. ස්වයංජාත ඇල් වර්ගයක් කියල තමයි ඒ ගැන වාර්තා වුනේ. මේ ගැන වහරක හාමුදුරුවොත් සමාධියෙන් යොමු කරල බලල විස්තරයක් කිව්වා. ඒ විස්තරයත් එක්ක මේ වී වර්ගය රට පුරා බොහොම ඉක්මනින් මේ ගැන උනන්දුවක් තියෙන අය අතරට ව්‍යාප්ත වෙන්න පටන් ගත්තා. තැන් තැන්වල තමන්ගෙ වත්ත පිටියෙත් සුළුවෙන් හරි වගා කරන්න පටන් ගත්තා. ඒවායින් බොහොම සශ්‍රීක එළදාවකුත් ලැබුනා. හැබැයි ඒත් එක්කම මේ ගොවිතැන ගැන විවිධ උපාධි හදාරල තනතුරු දරන සමහර අය, ඒ වගේම පාරම්පරික ගොවිතැන ගැන ජනමාධ්‍ය මගින් යම් කිසි ප්‍රසිද්ධියකට පත්වෙච්ච සමහර උදවිය ඒකට පහර ගහන්න පටන් ගත්තා. සෝගම් කියල සතුන්ට කන්න දෙන ධාන්‍ය වර්ගයක්..... ඉදල් ඉරිඟු වර්ගයකට ස්වයංජාත ඇල් කියල මිනිස්සු ගොනාට අන්දනවා... ඔය ආදී වශයෙන් පහර ගහන්න ගත්තා. ඒ සම්බන්ධයෙන් විමසපු කරුණකදි අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ ලබා දුන් පිළිතුරක් තමයි මේ.

දැන් වී වර්ගවල වැඩිමහල් වී, බාල වී කියල වර්ග 2 ක් තියෙනවා. වැඩිමහල් වී කියන්නෙ එළදාව එන්න වැඩි කාලයක් යන නිසා මිසක් වෙන විශේෂත්වයක් නිසා නෙවෙයි. බාල වී කියන්නෙ අඩු කාලයකදි පහල වෙලා වැඩි අස්වැන්නක් දෙන නිසා. හැබැයි මේ වර්ග දෙකම එක වගේ ආහාරයට සුදුසුයි. අන්න ඒ වගේ ඉස්සර රත් හාල්, එළ හාල් කියල 2 ක් තිබුනා. පස්සෙ එළ හාල් කියන වචනය භාවිතා නොකර සුවඳැල් කියල කියන්න ගත්තා. ඒ මුල්ම කාලෙ. ඉතින් රත්හාල්, සුවඳැල් කිව්වෙත් ඔය 2 ට. එළ හාල් තමයි විසාල කරල් හැදිල ඉක්මනට පූදින්නෙ. මාස 4 න් පීදෙනවා. කරල විසාලයි. පෝෂණයේ අඩුවක් නෑ. රත් හාල් කියන එක වැඩිමහල් වී වගේ. පූදින්න කාලයක් යනවා. කරල එච්චර ලොකුත් නෑ, ඇට පුංචියි. ඉතින් හුඟක්ම හොඳයි වැඩි අස්වැන්නක් තියෙන, පහසුවෙන් වගා කරන්න පුළුවන් හාර මාසෙන් පූදින එළ හාල් කියන වර්ගය. ඒක සුදු පාටයි. මුතු ඇට වගේ හුඟක් ලොකුයි. ඕකෙන් හොඳ බතක් උයන්න පුළුවන්.

දැන් මේ වගේ අලුත් සොයා ගැනීම් කරනකොට සමහරු කියනවා, අපි ඕවා ඉස්සර දැකල තියෙනවා, පොඩි කාලෙ දැකල තියෙනවා... ඔය ආදී වශයෙන්. නමුත් ඇත්තටම වැඩි හරියක් එහෙම කියන්නෙ, පොඩි කාලෙ දැක්ක නිසා නෙවෙයි. මේ මිනිස්සුන්ගෙ මානයක් තියෙනවා. **අනික් අය තමන්ට ඉස්සෙල්ල යමක් දැක්ක කිව්වොත් සමහරුන්ට ඕකත් හිතට අමාරුයි. ඒ තරම් මානයක් තියෙනවා. කාටවත් දෙවෙනි වෙන්න කැමති නෑ. ඕකට කියන්නෙ අත්තුක්කංසන පරවම්භන කියල. ඒ කියන්නෙ තමන් ලොකු කරගන්නවා, අනික් කෙනා පහත් කරනවා.** උඹලට කොච්චර වයස ගියත් උඹල මේව දන්නෙ නැනෙ කිව්වම, නෑ නෑ අපි පොඩි කාලෙ උඹලට ඉස්සෙල්ල ඕව දැකල තියෙනවා කියනවා. හැබැයි දැකල තියා අහලකවත් තිබිල නෑ, අහලකටවත් ගිහින් නෑ. නමුත් එහෙම කියනවා.

දැන් ඇත්ත වශයෙන්ම කියනව නම් පුංචි කාලෙ ඉඳන් ඉදල් ඉරිඟු කියල දෙයක් අපි අහල තියෙනවා. මේ කියන ස්වයංජාත කරලට වඩා ඒකෙ කරල බොහොම පුංචියි. 1/10

ක් තරම්. ඒත් ඒකත් ප්‍රසිද්ධයි. හැබැයි ඒකෙන් ලොකු වැඩක් ගන්න බෑ. ඉතිං ඕකට පස්සෙ කාලෙක සොංගම් කියලත් කියන්න ගත්තා. ඒ නමත් හරි ප්‍රසිද්ධ එකක්. නමුත් මේ අලුතින් සොයා ගත්ත කියන ස්වයංජාත වී කරලක් මෙච්චර කාලයකට කොහෙන්වත් එහෙම ප්‍රසිද්ධ කරල පෙන්වපු තැනක්වත් නෑ. එතකොට ඒ කරලෙන් 1/10 ක් තරම් කුඩා කරලකටත් තැනක් දීල තිබුන නම්, මේ අවුරුදු 40 - 50 ඇතුලත මෙච්චර ලොකු කරලක් තිබුන කියල කවුරුහරි කියනව නම් ඒකට තැනක් දෙන්නෙ නැතිව තියෙයිද? මෙච්චර කාලයකට කාටවත් මේක හම්බ වෙලා නෑනෙ. නමුත් ඒක කියන්න ලැජ්ජයි. උඹලට ඉස්සෙල්ල අපි ඕක දැකල තියෙනවා, අපි හොඳට අඳුනනවා... ඕක සොංගම් වර්ගයක් කියල ඔහොම කියන අය ඉන්නවා. ඉතින් බොරු කියනවා, අපි පුංචි කාලෙත් දන්නවා, අපේ වත්තෙත් තිබුන කියල. අර නිකං තමන්ගෙ නම බේරගන්න එහෙම කියනවා. නමුත් ඇත්ත වශයෙන්ම දැකල නෙවෙයි කියන්නෙ.

මේ මෑත කාලයේ මතු වෙච්ච ස්වයංජාත වී ප්‍රභේදය නිකං එකක් නෙවෙයි. බලන්න ඔය කරලෙ තියෙන අස්වැන්න පොඩි අස්වැන්නක්ද කියල! දැන් මේ තුත්තිරි ගහේ ඇටෙත් අද වෙනකල් බත්වලට ගන්නවා. තණහාල් කියන තුත්තිරි ප්‍රභේදයත් අද කන්න ගන්නවා. ඒකෙ බොහොම පුංචි කරලක් තියෙන්නෙ. අදත් අනුරාධපුර පොළොන්නරු පැත්තට ගියාම මිනිස්සු ඕක අරගෙන එනවා. ඒ තමයි ඒ පැත්තෙ හැදෙන ජාති. නමුත් මේ කියන ස්වයංජාත වී ප්‍රභේදය කවදාවත් මෙච්චර කාලයකට එහෙම ඇහැට දකින්න තිබුනද? හාල් ජාතියක් නම් මොනව හරි කියල ඒක මිනිස්සු අතර ප්‍රසිද්ධ වෙනවා. ඉතිං අර තණහාල් කියන ඒවත් බත් හදල කන්න පුළුවන්. ඊට වඩා ප්‍රයෝජනයක් ඒකෙන් ගන්න බෑ. මොකද බොහොම ටිකයිනෙ තියෙන්නෙ. ඒකත් ප්‍රසිද්ධයි. දැන් එතකොට මේ ස්වයංජාත වී කියන එකත් ඔය කියන කාලෙ තිබුන නම් ඒකෙන් කරන්න පුළුවන් වැඩක් ඒ කාලෙ දැනගෙන ඉඳල නෑනෙ. නමුත් දැන් මේකෙ එක කරලක් ගත්තොත් ග්‍රෑම් 500 ක් විතර තියෙනවා. ඒ කියන්නෙ සාමාන්‍යයෙන් දෙතුන් දෙනෙකුට බත් උයන්න තරම් කරලක්. ඉතින් කවුරුවත් මේ දක්වා ඕකෙන් බත් හදල කාල තියෙනවද? මේ මිනිස්සු පුරං කුඹුරුවල හැදෙන හබරල කාපු කාලයකුත් තිබුනා. ඒ වගේ මඤ්ඤොක්ක විතරක් කාපු කාලයක් තිබුනා. ඒ නැති කාලෙ.

ඉතින් ඔය කාලෙදිවත් මේ කියන ස්වයංජාත වී වර්ගය තිබුන නම්, මිනිස්සු ඕකෙන් මොනවත් හදාගෙන කෑවා කියල අහල තිබුණද? මෙහෙම වී කරලක් තියෙනවා, මේක වගා කරන්න හොඳයි, එහෙම වගා කරගත්තම මේකෙන් ඉඳිආප්පු, පිට්ටු හදාගෙන කන්න පුළුවන්... කියල කවුද එහෙම කියල තියෙන්නෙ? එහෙම ආරංචියක්වත් නෑනෙ! දැන් ඔය විවිධ දේවල්වලින් පොරි හදල තියෙනවා. මේ වෙනකොට බඩඉරිඟුවලින් පොරි හදල තියෙනවා, තිරිඟු ඇටවලින් පොරි හදල තියෙනවා, ඒවාට වෙළඳ ව්‍යාපාරත් තියෙනවා. නමුත් පොරි හදනව නම් ඊට වඩා හොඳයි මේ කියන ස්වයංජාත වී කරල. ඊට වඩා විශේෂ රසයකුත් තියෙනවා, ගුණයකුත් තියෙනවා. ඊට වඩා වැඩි ප්‍රයෝජනයක් ගන්න පුළුවන්. නමුත් මෙච්චර කාලයකට මෙහෙම වී වර්ගයක් කවුරුවත් වගා කළා කියල මාත්‍රයකවත් ආරංචියක් නෑ. දැන් තමයි ඔහොම ව්‍යාප්ත වෙන්නෙ. ඒ නිසා ඔය කතාව ඉතින් ලෝකෙ දිහා හරියට දකින්නෙ නැතිව කියන කාරණයක් මිසක් වෙන දෙයක් නෙවෙයි.

අනික් කාරණය තමයි මේකෙ ව්‍යාප්තිය බලනකොට වැටිච්ච තැන ඉබේටම පැළ වෙනවා. හොඳයි ඔය කියන විදිහට ඒ කාලෙ ඉඳන් හැමතැනම තිබුන නම් මේ වෙනකොට සාමාන්‍ය භෝගයක් වෙන්න එපැයි! හරක්ට කන්න හරි එච්චර තියෙන්න එපැයි! එහෙනම් ඔය තරම් දුර්ලභ වෙන්න විදිහක් නෑනෙ! අද වුනත් මේ කියන වී වර්ගය තවම දුර්ලභයිනෙ! තවම හරියට ව්‍යාප්ත වෙලා නෑනෙ. නමුත් ආරංචිය යනවත් එක්කම දැන් දැන් තැනින් තැන හැදෙනවා. මොකද හේතු ඵල දහම අනුව ඒවත් හැදෙන පීදෙන කාලයක් එනවා. දැන් මේ එහෙම කාලයක් තමයි ක්‍රමානුකූලව එන්නෙ.

## එකා යකා

එකා යකා කියල අපි අතර කතාවක් තියෙනවා. යම් කිසි ගෙදරක දෙමව්පියන්ට එක ළමයෙක් විතරක් ඉන්නව නම් තමයි බොහෝකොටම ඔය කතාව කියන්නෙ. මොකද එක ළමයෙක් ඉන්නකොට ඒ ළමයට ආදරය, රැකවරණය වැඩියි. ඉල්ලන හැම දෙයක්ම දෙනවා. ඉතින් ළමය හිතුවක්කාරයි. ළමයට දුක, මහන්සිය තේරෙන්නෙ නැතිව යනවා. හරි හම්බ කරන්න දුක් මහන්සි වෙන්න දෙන්නෙ නෑ. ඉල්ලන යමක් ඇත්නම් අඬන්න දෙන්නෙ නෑ ඒක දෙනවා. කොච්චර හිතුවක්කාර වුනත් ඒ ළමයා හුතරල් කරනවා. ළමයට කිසිම දේකට සැඩ පරුෂ වෙන්නෙ නෑ. ළමයා මෙල්ල කරන්න උත්සාහ කරන්නෙ නෑ.

දැන් මේ හිතුවක්කාර ගතිය නිසා මොකද වෙන්නෙ, ස්වභාවයෙන්ම කාමයන්ට, නරක පැත්තට ඇදල යන්න බලනවා. ජීවිතය පල්ලට වැටෙනවා වගේ. හොඳ පැත්තට නෙවෙයි, නරක පැත්තට හැදෙන්නෙ. මූලික අවස්ථාවෙ එහෙම හැදුනට පස්සෙ ඒ මානසිකත්වය තමයි ඉදිරියට වැඩ කරන්නෙ. එක ළමයෙක් ඉන්න ගෙවල් බොහොමයක ඔය කියන හැඟීමේ පැහැදිලිවම වෙනසක් තියෙනවා. මට තියෙන සම්පත්තිය එකාටයි දෙන්න තියෙන්නෙ... කියන මානසිකත්වය දෙමව්පියන්ට එනවා. එතකොට තමන්ගෙ එකම වස්තුවයි කියන හැඟීමක් එනවා. ළමයගෙ හිත බිඳවන්න එපා, ඒකා ඉල්ලන දෙයක් දෙමු කියන එහෙම අදහසක් දෙමව්පියන්ට එනවා. එතකොට ළමයා නිකං නිදැල්ලෙ හැදෙනවා. හරියට හැඳි නොගා හදන හොදි වගෙයි. මෙලෝ රහක් නෑ. දුකක් කරදරයක් තේරෙන්නෙ නෑ.

ළමයා කාටහරි නිකරුනේ බැන්න කියල ඔහුට පෙරලා බනින්න යන්නෙ නෑ. අවවාද කරන්නෙ නෑ. ගෙදර වැඩ කරන සේවකයෙකුට බැන්නොත්, පෙරලා සේවකයාටම බනිනව මිසක් ළමයට මුකුත් කියන්න එපා කියනවා. ළමයට තරවටුවක් කරන්නෙ නෑ. ළමයගෙ හිත රිදෙනවට, එහෙම කියන්න එපා කියනවා. නමුත් ළමයා එකා නොවී දෙතුන් දෙනෙක් ඉන්න ගෙදරක සාමාන්‍ය ළමයෙක් වුනා නම්, ඇයි එහෙම කතා කරන්නෙ කියල ළමයට දොස් කියනවා. එතකොට ළමය ඇඩුව කියල බලන්නෙ, ගණන් ගන්නෙ නෑ. ඉතින් එකා ඉන්නකොට එහෙම කියන්නෙ නෑ. එකා යකා වෙනව කියන්න හේතුව ඒකයි. නමුත් දෙමව්පියන් වුනත් දහම් අවබෝධයක් ලබාගෙන මේ දෙමව්පිය - දූ දරු සම්බන්ධය සසරෙ එන්නෙ කොහොමද කියල ධර්මානුකූලව තේරුම් ගත්ත නම්, එකා වුනත් ඔය විදිහට දැඩිව උපාදාන කරගෙන යකා වගේ හැදෙන්න දෙන්නෙ නෑ.

සටහන
**නීතිඥ චන්දන සිරිවර්ධන**



## සාදා නිම කළ නිවසකට, ව්‍යාපාරික ස්ථානයකට හෝ කුමන හෝ ඉදිකිරීමකට සහ ඉදිකිරීම් කළ භූමියට ඇති

# බහිරව දොස් ඉවත් කර ගන්නා ධර්මානුකූල ක්‍රමවේදය...

යම් කිසි භූමියකට බහිරවයන් අරක් ගත්තට පස්සෙ ඔවුන් එතැනින් ඉවත් කරන්න බෑ. මොකද පෙර ඒ භූමියට හෝ ඒ ස්ථානයේ තියෙන ගහකොළට, ළිං පොකුණුවලට හෝ ඒ ස්ථානයේ තැන්පත් කළ යම් කිසි වටිනාකමක් තියෙන නිධන් ආදී ද්‍රව්‍ය වස්තුවලට, ගොඩනැගිලි ආදියට හෝ ඇල්ම බැල්ම දාගෙන මනුස්සයො වශයෙන් ඉඳල උරුමකම් කිව්ව, ඊට ලොබ බැඳ ගත්තා වූ යම් කිසි කෙනෙක් ඒවා උපාදාන කරගෙන මියගියොත් ඒ හේතුවෙන් භවයට හිර වෙලා බහිරව බවට පත්වෙනවා. එතකොට ඔවුන් ඒ ස්ථානවලින් ඉවත් වෙන්නෙ නෑ. මේ අපි හරි හම්බ කරගත්ත දේපළ... මේ ගහකොළ මම හිටෙව්වෙ... මේ ගෙදර මමයි හැදුවෙ... දැන් මගේ දේවල්වලට පිටින් ආපු උන් උරුමකම් කියාගෙන උන්ගෙ දේවල් වගේ භුක්ති විඳගෙන ඒවා විනාස කරමින් මට අඹ පියල්ලක් තරම් දෙයක්වත් නොදී කාල බීල වැජඹෙනවා... අපි ගැන කිසිම තැකීමක් නෑ... ඒ නිසා එහෙව් උන්ට මේ ස්ථානයේ වාසය කරන්න ඉඩ නොදිය යුතුයි... උන්ට මම හොඳ පාඩමක් උගන්වනවා...

මේ ආදී වශයෙන් හිතන පතනකොට සසරගත කර්ම විපාකත් ළඟ ළඟම සකස් වෙලා තිබුන නම්, වහාම ඒ විපාක එල දෙන්නත් අවස්ථාව සැලසෙනවා. එතකොට බහිරවයන් කරන සාප කිරීම්වලටත් ලක්වෙනවා. ඒ නිසා කායික මානසික නිදහස විවිධාකාරයෙන් දුරස් වීමෙන් අසහනයෙන් පිරිච්ච ජීවිතයක් ගත කරන්න සිද්ධ වෙනවා. ආර්ථික පරිහානිය ක්ෂණිකව ළඟා වෙනවා. ගෙදර දොර සමගිය නැතිවෙනවා. නොයෙක් ආකාරයේ නිදන්ගත රෝග පහල වෙනවා. ලෙඩකට දුකකට බේතක් හේතක් ගත්තත් හරියට ප්‍රත්‍ය වෙන්නෙ නැතිව යනවා. හිටි ගමන් අඹු සැමි දූ දරුවන් අතර ගැටුම් හට ගන්නවා. කොච්චර මුදල් හදල් හම්බ කළත් ඉතිරියක් නැතිව යනවා. යම් කිසි වැඩකට අත ගැහුවත් නියමාකාරයෙන් ඉවර කරගන්න බැරිවෙනවා. හැමතැනදිම කරදර බාධක එකපිට එක එන්න ගන්නවා. ධනාත්මක සිතිවිලි පහල නොවී යනවා. සියලු දේ එපා වෙනවා.

මේ වගේ බහිරව දෝස තදබල විදිහට තියේ නම් සියදිවි නසා ගැනීමට පෙළඹීම්, සියල්ල බංකොලොත් වෙලා මහ මග හිඟමනට වැටීම් සිද්ධ වෙන්නත් පුළුවන්. ඒ වගේම මේ සියලු කරදර බාධක බහිරව දෝස නිසාම සිද්ධ නොවී වෙනත් දේවල් මුල් කරගෙන එන්නත් පුළුවන්. අණවින, කොඩිවින, හදිහූනියම්, භූමි පාළු, වැල් පැන්නුම්, ගැට පැන්නුම්, කටු ගැසීම්, ඉනා බන්ධන... ආදී නොයෙක් ගුරුකම් හේතු කරගෙනත් කර්මානුරූපීව ඒ වගේ තත්වයන් උදා වෙන්න පුළුවන්. එහෙමත් නැත්නම් වෙනත් ප්‍රබල කර්ම විපාක මුල් කරගෙන ඇති වෙන්නත් පුළුවන්. පිළිකා, අංශභාගය, භගන්දරා, ඇදුම / හතිය, මන්ද බුද්ධික බව, අංගවිකල බව, අඳ, ගොළු බිහිරි, කොර, වපර... ආදී වශයෙන් මේ සියල්ල සිද්ධ වෙන්නෙ කර්මය මුල් කරගෙන.

දැන් මේ වගේ දුක් කරදර වැඩියෙන්ම එන්නෙ තමන් වැඩියෙන්ම කාලය ගත කරන තමන්ගෙ ජය භූමිය (නිවස සහ ඉඩම) මුල් කරගෙන නම්, ඒවායේ හිමිකරුත් තමන් නම්, තමන්ට තමන්ගෙ නිවසේ ඉන්නකොට ඒ ස්ථානයෙන් ඈත් වෙලා ඉන්න වැඩියෙන් හිත් දෙනවා. තමන්ගෙ තැනක නැතිව වෙනත් තැන්වල ඉන්නකොට තමන්ගෙ තැනේදි දැනෙන දාහය, විඩාව, නොරුස්සන ස්වභාවය, ප්‍රියතාවයක් නොදැක් වූ ස්වභාවය පිට තැනක ඉන්න කොට නෑ වගේ හැඟෙනවා. සමහර වෙලාවන්වලට මඤ්ඤොක්කා තම්බන කොට එන ගඳ, අල තැම්බෙන ගඳ, පිනුල් බත් ගඳ, අසූචි ගඳ, හඩු ගඳ..... ආදිය දැනීම, තමන්ට අයිති භූමියේ තියෙන ගස්වලින් නිසියාකාරයෙන් එල නොදැරීම, කුඹුරු හේන් පාළුවීම නිවසේ හෝ වෙනත් ඉදිකිරීම් ඇත්නම් ඒවායේ පාළු අඳුරු ස්වභාවය, ඉඩකඩම් ගස් වැල්වල තියෙන ගුප්ත බව... ආදී මේ කියන කාරණා බහිරව දෝස නිසා එන්න පුළුවන්.

මේ විදිහට බහිරවයන්ගෙන් පීඩා එනව නම් ඒකෙන් මිදෙන මාර්ගයකුත් තියෙනවා. බහිරව දෝස තිබුන හෝ නැති ඕනෑම කෙනෙකුට තමන්ට හිමි ජය භූමියක් තියේ නම් ඒ ස්ථානයේ බහිරව පූජාවක් තියල, බහිරවයන්ට තමන් අතින් දැනුවත්ව හෝ නොදැනුවත්ව හෝ යම් කිසි වරදක් ප්‍රමාද දෝසයක් හිංගි හිංසාවක් අනන්ත සසර ගමනෙදි සිද්ධ වුනා නම්, පළමුවෙන්ම ඒ සියලු වැරදි ප්‍රමාද දෝස හිංගි හිංසාවලට කමා කරගෙන වැරදි වැරදි හැටියට පිළිඅරගෙන, ඒ සියලු වැරදි ප්‍රමාද දෝසයන්ට වන්දි විදිහට අප විසින්

අනන්ත සසර පටන් මේ දක්වා රැස් කර ගත්තා වූ සියලු පුණ්‍ය කුසල ශක්තීන් ඔවුන්ට අනුමෝදන් කරල සන්තෝස පූජාවක් ලබා දීල, අපි ජීවත් වෙන මේ ටික කාලයේදී අපෙන් ඔබලාටත් (අෂ්ට බහිරවයන්ට) ඔබලාගෙන් අපටත් ඉහත ආකාරයෙන් දැන හෝ නොදැන වැරදි ප්‍රමාද දෝසයන් සිද්ධ නොවේවායි ප්‍රාර්ථනා කරල, අප විසින් සම්මා සම්බුද්ධ සාසනයට බුදු, පසේ බුදු, මහ රහතන් වහන්සේලාට, ආර්ය උත්තම උත්තමාවියන්ට, දිව්‍ය බ්‍රහ්ම මනුස්ස අමනුස්ස සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ට කළා වූ යම් ගුණ උපහාර පූජාවෝ ඇත්ද, ඒ තුලින් ලබා ගත්තා වූ සියලු පුණ්‍ය කුසල ශක්තීනුත්, අනුමෝදන් කරමි/// අනුමෝදන් වෙත්වා/// කියල තුන් වතාවක් කියල, ඒ සියලු දෙනාම හිතන පතන සියලු යහපත් පැතුම් ඒ ආකාරයෙන්ම ඉෂ්ට සිද්ධ වේවා කියල අධිෂ්ඨාන කරල, කිසි කලෙකත් සුගතියක් මිස දුගතියක් නොවේවා, පිරිහීමක් නොවේවා, අභිවෘද්ධියක්ම වේවා, සාමයෙන් සමාදානයෙන් අලෝභයෙන්, අද්වේශයෙන්, අමෝහයෙන් කටයුතු කරමින් චන්ද්‍ර සූර්යා ලොව බබළවන්නා සේ ජීවනාලෝකයෙන් යුක්තව ආයුස, සැපය, බලය, නුවණ, පටිභානය කියන්නා වූ කාරණාත් පූර්ණභාවයට පත් කරමින් සතර මග සතර ඵල පිළිවෙලින් අවබෝධ වෙලා උතුම් වූ නිවන් පූර්ණ කරගෙන සසර ගමනින් අත්මිදෙත්වා කියල ප්‍රාර්ථනා කරල අධිෂ්ඨාන කරන්න ඕන.

නිවසක් හෝ යම් කිසි ඉදිකිරීමක් කළ ස්ථානයක තුනුරුවන් මුල් කරගෙන බහිරව පූජාවක් තියන ආකාරය වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් ගිහි වතක සිටියදී මේ විදිහට හෙළිදරව් කරල තියෙනවා. මේ ක්‍රමවේදයේ එන සමහර පියවර පසුගිය




1. තුනුරුවන් උදෙසා පහන් පැල
2. ගුරුවරයා උදෙසා පහන් පැල
3. දථරාෂ්ඨ
4. විරූඪ
5. විරූපාක්ෂ
6. වෛශ්‍රවණ
7. ප්‍රධාන දොර
8. සාලය (අෂ්ට බහිරව යන්ත්‍රය)
9. කුස්සිය
10. කෑම කාමරය
11. නාන කාමරය/ වැසිකිළිය
12. කාමර
13. කාමර

A. දේව බහිරව
B. ඉෂ්ට බහිරව
C. නාග බහිරව
D. ඔඩ්ඩි බහිරව
E. යමකාල බහිරව
F. ආතාල බහිරව
G. පාතාල බහිරව
H. ගිනි බහිරව
I. ජීවම් කරන අය සිටින තැන

95 කලාපයෙන් විස්තර කළ, අළුත් ඉඩමකට බහිරව පූජාවක් තියනකොට ගන්නා පියවරවලට සමාන නිසා ඒවා නැවතත් ඒ ආකාරයෙන් සටහන් නොකර කෙටියෙන් සටහන් කරනවා. ඒ නිසා ඒ ලිපියේ එන පොදු ක්‍රමවේද ඒ විදිහටම අනුගමනය කරන්න. ඒ අනුව මේ පූජාව පැවැත්විය යුතු දවස් සහ කාල වේලාවන් පසුගිය කලාපයෙන් සඳහන් කළ විදිහටම යොදා ගන්න. ඒ ආකාරයටම සුචරිත වතක පිහිටල යම්කිසි අධිෂ්ඨාන කරගත්ත කාලයක් තුළ සමාදන් වෙන්න.

පළමුවෙන්ම ඉඩමේ උතුරු දිසාව අරගෙන නිවස ඇතුලේ පටන් බලනකොට පෙනෙන මානයක තුනුරුවන් උදෙසා සහ මේ යහපත් ක්‍රමවේදය කවදහරි ලෝකයට විද්‍යමාන කළ ගුරුවරයා උදෙසා පසුගිය කලාපයේ සඳහන් ආකාරයට පහන් පැළක් සකස් කරන්න. නමුත් තෙරුවන් උදෙසා පහන් පැල බුද්ධ, ධම්ම, සංඝ කියල කොටස්වලට වෙනම බෙදීමක් අවශ්‍ය නෑ. තුනුරුවන් උදෙසා පූජා කළ සියලු දේම ගුරුවරයා උදෙසා කෙරෙන උපහාර පූජාවටත් තියන්න. නිවස ඇතුලෙ බුදුන් උදෙසා මල් පහන් ආදිය පූජා කරනව නම් සාමාන්‍යයෙන් කෙරෙන විදිහට ඒ දේවල් ඒ ආකාරයෙන්ම ඉටු කරන්න. මේ ප්‍රධාන පහන් පැල පපු මට්ටමට වඩා ඉහලින් හෝ ඒ හා සමාන උසකින් තිබිය යුතුයි. මේ කාරණා ටික මේ විදිහට කරන්න නාගරික නිවෙස්වල හෝ මහල් නිවාසවල ඉඩ මදි නම්, බහිරව යන්ත්‍රය අඳින තැන ඉදිරියේ නිවස තුලම උතුරු දිසාවෙන් මේ පහන් පැළ තමන්ට පුළුවන් උපරිම ගරුත්වයෙන් සකස් කර ගන්න.

පහන් පැළ උඩ තට්ටුවේ බුලත් කොළ 21 ක් තියල ඒ මත පඬුරු කාසි 21 කුත් තියල පසුගිය කලාපයේ සඳහන් කළ පූජා භාණ්ඩ තැන්පත් කරල තමන්ට පුළුවන් විදිහට තෙරුවන් සහ ගුරුවරයා උදෙසා ගුණ උපහාර පූජාව සිද්ධ කරන්න. තුනුරුවන් උදෙසා පහන් 3 ක්, ගුරුවරයා උදෙසා පහනක් පහන් පැළ තුල තියන්න.

ඊට පස්සෙ ගෙදර හතර කොනේ තුනුරුවන් සහ ගුරුවරයා උදෙසා සකස් කළ පහන් පැල්වලට වඩා ටිකක් පහලින් පහන් පැළ 4 ක් හදල ඒ 4 පසුගිය කලාපයෙන් විස්තර කළ ආකාරයට සතර වරම් දෙවියන්ට පූජා කරන්න. නිවසක් ඇතුලත නම් පුටු 2 ක් එකට යා වෙන්න තියල කෝටු කැලි ටිකක් පුටු දෙකට සම්බන්ධ වෙන විදිහට කෙලින් හිටවල ගැට ගහල හරහටත් කෝටු 4 ක් සම්බන්ධ කරල, එළියෙ වළවල් කපල හිටවන පහන් පැල් වගේ සකස් කරගන්න පුළුවන්.

මේ අතරතුර කහ දිය කොතලයක් හදාගෙන ඊට පුවක් මල් කිණිත්තක් දමා ජීවම් කරගන්න. හැබැයි ඒක බහිරව පූජාව තියන ස්ථානයේදිම සිදු කළ යුතුයි. වෙනත් තැනක ජීවම් කරගෙන එන්න බෑ. මේ ජීවම පසුගිය කලාපයේ සඳහන් කළ ජීවමට වඩා ටිකක් වෙනස්. පළමුවෙන්ම තෙරුවන් නමස්කාර කරල තෙරුවන් ආශිර්වාදය ලබාගෙන, තෙරුවන් කමා කරල, මේ ඉඩමට පෙර උරුමකම් කිව්වා වූ යම් තාක් අය ඇත්ද, පෙර වවා හදා සකස් කළ යම් තාක් අය ඇත්ද, යම් කිසි කෙනෙකුගේ හතුරෙකු හැතිරියකු ඇදුරෙකු ඇදිරියකු විසින් කළ යම් කිසි අණවිනයකට, කොඩිවිනයකට, හදිහූනියමකට, ඉනාවකට, බන්ධනයකට ලක් වූ යම් කිසි පිරිසක් ඇත්ද, සිටින්නා වූ භවයට හිර වී බහිරව බවට පත් වූ යම් පිරිසක් ඇත්ද, තලාටු භූමාටු ගන්ධබ්බ සූක්ෂම කායික පරදත්තූප ජීවීන්, වෘක්ෂ දේවතාවන් ඇත්ද, ඔබ සැම සියලු දෙනාටමත් තම තමන්ගේ සතර වරිගයක ඥාති හිතමිත්‍රාදීන් ඇත්ද, ඉෂ්ට දේවතාවුන් ඇත්ද, දථරාෂ්ට, විරූඪ, විරූපාක්ෂ, වෛශ්‍රවණ යන සතර වරම් දෙවියන් ඇත්ද, සියලු දිව්‍ය බ්‍රහ්ම මනුස්ස අමනුස්ස යම් තාක් අය ඇත්ද, ඔබ සැම සියලු දෙනාටම අපගෙන් යම් අවැඩක් අසාධාරණයක් හිංගියක් හිංසාවක් දැන හෝ නොදැන සිද්ධ වුනා නම්, මේ මොහොතේ පටන් ඒ සියලු වැරදි වැරදි විදිහට පිළිඅරගෙන ඒවාට සම්මා සම්බුද්ධ සාසනය ඉදිරියේ, කමා කරමි.../// කමාව ලැබේවා.../// කියල, සසර වසනතුරු නිවන් දක්නා ජාති දක්වා මාගෙන් වදින සුළං පොදකින්වත් ඔබ සැම සියලු දෙනාටත් සියලු ලෝක සියලු සත්වයින්ටත් කිසි කලෙක හිංගි හිංසාවක් නොවේවා! සාසන ආශිර්වාද රැකවරණ ලැබේවා! කියල අධිෂ්ඨාන කරන්න.

ඉන්පසු පසුගිය කලාපයෙන් හඳුන්වා දුන් අෂ්ට බහිරව යන්ත්‍රය නිවස තුල හෝ අදාළ ගොඩනැගිල්ලේ හෝ මැදට වෙන්න බිම මුහුදු වැලිවලින් අඳින්න. නිවසේ සාලයක් නැත්නම් මැද කාමරයක ඇඳගන්න. මේ යන්ත්‍රය තුනුරුවන් උදෙසා සකස් කළ මල් යහන පේන තෙක් මානයක තිබිය යුතුයි. දැන් මේ බහිරව යන්ත්‍රයේ මැද කොටුවට ගිහින්, කහ දිය කොතලය මේ ආකාරයට ජීවම් කරගන්න.

නමෝ තස්ස භගවතෝ අරහතෝ
සම්මා සම්බුද්ධස්ස ///

සබ්බ පාපස්ස අකරණං
කුසලස්ස උපසම්පදා
සචිත්ත පරියෝදපනං
ඒතං බුද්ධානු සාසනං
ඒතං ධම්මානු සාසනං
ඒතං සංඝානු සාසනං

කායේන වාචා චිත්තේන
පමාදේන මයා කතං

අච්චයං කම මේ භන්තේ
භූරිපඤ්ඤ තථාගත

අච්චයං කම මේ ධම්ම
සංදිට්ඨික අකාලික

අච්චයං කම මේ සංඝ
සුපටිපන්න අනුත්තර

ඉන්පසු පහත දැක්වෙන ජල නන්දන අලගුවෙන් 108 වාරයක් මේ කහ දිය කොතලය සහ දෙහි ගෙඩි 21ක් ජීවම් කරගන්න.

## ජල නන්දන අලගුව

චතු වීසති බුද්ධෝති
යෝ භවිස්සති උත්තමං
පාරමී බල යුත්තේහි
ජල නන්දන උත්තමං

අනෝමානී ජලං තීරේ
උත්තමං පත්ත චීවරේ
පාරමී තේ ජලං හෝති
සර්ව බන්ධන ඡේදනා

ආනන්දෝති මහා ථේරං
උත්තමං ධම්ම භණ්ඩකං
යේන භික්බු මහා ථේරං
සයනේ බන්ධන විද්වංසනං

ඉති ශ්‍රී ලෝක බුද්ධේහි
යේන ධම්මානු භාවතෝ
යන්ත්‍ර මන්ත්‍ර හරං කත්වා
විනාසං බුද්ධානුභාවතෝ

මේ විදිහට ජීවම් කරගත්ත කහ දිය කොතලය සහ දෙහි ටික අරගෙන පළමුවම දෙහි ගෙඩියක් යන්ත්‍රය තුලම ඉඳගෙන කපන්න. සියලු දෙහි කපන්නේ පසුගිය කලාපයෙන් සඳහන් කළ "දීපේ රට්ටයේව තුපේ..." කියන ගාථාවෙන්. ඊළඟට ගෙට ඇතුල් වන ප්‍රධාන උළුවස්ස ළඟත්, ඉඩමට ඇතුල් වන තැනත් දෙහි ගෙඩිය බැගින් කපන්න. ඉන්පසු ඉඩම හතර

කොනට දෙහි ගෙඩි 4 කුත් නිවස හෝ ගොඩනැගිල්ල හතර කොනට දෙහි ගෙඩි 4 කුත් තියල කපන්න. කැපුව සියලු දෙහි බිමට වැටුනට පසු අහුලගෙන වතුරට කහ ටිකක් මිශ්‍ර කරල සකස් කර ගත්ත වෙනම භාජනයකට එකතු කරන්න. ඒක තුනුරුවන්ගේ පහන ඉදිරියෙන් බිම තියන්න. ඉන්පසු සම්පූර්ණ ඉඩමටත්, නිවස හෝ අදාළ ඉදිකිරීමටත් ජීවම් කර ගත්ත කහ දිය කොතලයෙන් පුවක් මල් කිණිත්ත භාවිතා කරල කහ දිය ඉහින්න. එතකොට මුළු භූමියටම, නිවසට සහ සෑම සියලු තැන්වලම රැඳිල බැඳිල හිර වෙලා ඉන්න සියලු නොපෙනෙන බලවේග නිදහස් වෙනවා. ගෙදරක ආරක්ෂාව සඳහා බුද්ධ ශක්තියෙන් තොර වූ යම් කිසි ක්‍රියාවක් සිදු කරල තියේ නම්, ඒවාටත් රැඳිල බැඳිල හිරවෙලා ඉන්න සියලු අයත් ඒ බන්ධන පුපුරල නිදහස් වෙනවා.

ඊට පස්සෙ ගෙදර ඉන්න හැමදෙනාම කැඳවල ඔවුන් ලවා තුනුරුවන්ට මල්, පහන්, හඳුන්කූරු, මී පැණි, විලඳ, ලඳ පස් මල්, අෂ්ඨපාන, චතු මධුර සහිත දැහැත්, ගිලන්පස, තැඹිලි ගෙඩියක්.... ආදිය පූජා කරන්න. මේ මහා පූජාව අප විසින් තැබුවත් ඔබ සෑම සියලු දෙනාම විසින් කරන්නා වූ මහා ගුණ උපහාර පූජාවක් ලෙස ලොව්තුරා සම්මා සම්බෝධියට පත් සියලු බුදු පියාණන් වහන්සේලාට, සුවාසූ දහසක් වූ ශ්‍රී සද්ධර්මරත්නයට, අෂ්ට ආර්ය පුද්ගල මහා සංඝ රත්නයට, පූජා කරමි /// පූජාම වේවා /// කියල අධිෂ්ඨාන කරන්න. (ගුරුවරයාටත් මේ විදිහටම පූජෝපහාරය තියන්න.)

තුනුරුවන් සහ ගුරුවරයා උදෙසා පූජා කළ කිසිවක් සතර වරම් දෙවියන් සහ අෂ්ට බහිරවයන් උදෙසා හෝ යොදා ගන්නෙ නෑ. (තෙල්, මල්, හඳුන්කූරු, විලඳ, මී පැණි... ආදී සියලු දෑ) ඒවා පූජාවන් සකස් කරන්න පෙර එකට ගෙනැවිත් සියලු කටයුතු පටන් ගන්න පළමුව තෙරුවන් උදෙසා වෙන් කරල තියන්න පුළුවන්. වෙන් කළාට පස්සෙ නැවත ඒ කිසිම දෙයක් වෙනත් දේකට යොදා ගන්න බෑ.

ඉන් අනතුරුව නැවත අෂ්ට බහිරව යන්ත්‍රය ඇතුලට ගිහින් මැද කොටුවේ ඉඳගෙන කැපුව දොස් සුද්ධ වෙන්න ඉතිරි කහ දිය කොතලයට තවත් කහ දිය එකතු කරල මේ විදිහට ජීවම් කරන්න.

ඉතිපි සෝ භගවා අරහං... භගවාති

ඒතේන සච්ච වජ්ජේන
සබ්බ රෝග විනස්සතු

ඒතේන සච්ච වජ්ජේන
සබ්බ දෝස විනස්සතු ඒතේන
සච්ච වජ්ජේන
සබ්බ භය විනස්සතු

ඒතේන සච්ච වජ්ජේන
සබ්බ විත විනස්සතු

ඒතේන සච්ච වජ්ජේන
සබ්බන්තරාය විනස්සතු

ඒතේන සච්ච වජ්ජේන
සබ්බ කාය විත හිර බන්ධන
විනස්සතු

ඒතේන සච්ච වජ්ජේන
සොත්ති මේ හෝතු සබ්බදා

ඒතේන සච්ච වජ්ජේන
සොත්ති තේ හෝතු සබ්බදා

මේ විදිහට නව අරහාදි ගාථාව ඇතුළු මේ ගාථාවෙන් 108 වාරයක් ජීවම් කරන්න.

දැන් ඒ කහ දිය කොතලය තුනුරුවන්ගේ පහන් පැළ ඉදිරියෙන් යම් කිසි උසකින් තැන්පත් කරන්න. ඉන් පසුව 95 කලාපයෙත් සඳහන් කළ ආකාරයට කෝටු 3 ක් ත්‍රිකෝණාකාරව බැඳල ඒක වටේට කෙසෙල් පතුරු තියල ඊට මැදින් නෙළුම් කොළයක් තියල පූජා වට්ටි / තටු 12 ක් සකස් කරගෙන නෙළුම් කොළවල මැද්දෙන් තැඹිලි නැට්ටක් ආධාරයෙන් පහත පරිදි සටහන් කරන්න.

දථරාෂ්ට දේවයාය නමහඃ
විරූඪ දේවයාය නමහඃ
විරූපාක්ෂ දේවයාය නමහඃ
වෛශ්‍රවණ දේවයාය නමහඃ
දේව බහිරවයාය නමහඃ
ඉෂ්ට බහිරවයාය නමහඃ
නාග බහිරවයාය නමහඃ
ඔඩ්ඩි බහිරවයාය නමහඃ
යමකාල බහිරවයාය නමහඃ
ආතාල බහිරවයාය නමහඃ
පාතාල බහිරවයාය නමහඃ
ගිනි බහිරවයාය නමහඃ

මේ විදිහට නෙළුම් කොළයේ නම ලියපු පූජාවන් ඒ ඒ නම් සඳහන් අය සඳහාම පූජා කළ යුතුයි. සතර වරම් දෙවියන්ගේ පූජා වට්ටිවලට තැඹිලිත් අෂ්ට බහිරවයන්ගේ පූජා වට්ටිවලට කුරුම්බාත් තැබිය යුතුයි. මේ පූජා වට්ටි 12 ට තැඹිලි / කුරුම්බා හැර අඩුම තරමින් තවත් පළතුරු වර්ග 8 ක් තැබිය යුතුයි. ඊට අමතරව පොල් ගෙඩි 8 කුත් සුද්ධ කරල අෂ්ට බහිරව පූජා වට්ටි 8 ට තියන්න. තැඹිලි / කුරුම්බා ඇතුළු සියලු පළතුරු වර්ග කපා තැබිය යුතුයි. ඊට අමතරව පසුගිය කලාපයේ සඳහන් කළ පූජා භාණ්ඩ තැන්පත් කරන්න.

ඉන්පසු සතර වරම් දෙවියන්ගේ පූජා වට්ටි අදාළ පහන් පැල්වල තැන්පත් කරන්න. අෂ්ට බහිරව යන්ත්‍රයේ උතුරු දිසාවට තියෙන ප්‍රධාන කොටුව තුල (A) අඩියක් පමණ උස කෙසෙල් කොටයක් පුන්කලසක් ආකාරයට සකස් කරල ඒ මත දේව බහිරවයන් උදෙසා දෙන පූජා වට්ටිය තියන්න. එහෙම කරන්න අපහසු නම් අඩියක් විතර උස පුටුවක්, බංකුවක් හෝ භාජනයක් වුණත් සුදු රෙද්දක් එලල භාවිතා කරන්න පුළුවන්. ඒ වගේම අළු කෙසෙල් අලයක් අරගෙන පතුරු විදිහට කපල ඒ පතුරු විහිදවල ඒ මත යම කාල බහිරවයන් උදෙසා පිරිනමන පූජා වට්ටිය තියල අදාල කොටුවේ තැන්පත් කරන්න. මොකද නිවස තුල වළක් කපල ඒ තුල පූජා වට්ටිය තැන්පත් කරන්න බැරි නිසා. (කෙස් ගහේ අග රැඳිච්ච විසත් අළු කරල දමන්න පුළුවන් ශක්තියක් අළු කෙසෙල් අලයේ තියෙනවා. ඒ නිසා තමයි අළු කෙසෙල් අල යොදාගන්නෙ.) අනෙක් පූජා වට්ටි ඒ ඒ අදාළ කොටු මත රූපයේ දක්වා ඇති ආකාරයට තැන්පත් කරන්න.

මේ සියල්ල සකස් කර ගත්තට පස්සෙ යන්ත්‍රයේ මැදට ගිහින් රූපයේ ආකාරයට තමන් මැද කොටුවේ පුංචි පුටුවක් තියල ඉඳගෙන පළමුව නමස්කාර පාඨය තුන් වරක් සජ්ජායනා කරල, සබ්බ පාපස්ස ගාථාවත්, කායේන වාචා චිත්තේන ගාථාවත් තුන් වර බැගින් කියල, “දීපේ රට්ඨේව තුජේ” ගාථාව 7 වරක් සජ්ජායනා කරල පහත ගාථාව 28 වරක් සජ්ජායනා කරන්න.

ඕම් සූර්යාය නමහඃ
ඕම් සූර්ය රාජයාය නමහඃ
ඕම් සූර්ය රාජ දේව දිෂ්ඨී
බැල්ම දිෂ්ඨී මණ්ඩල දිෂ්ඨී
මංගර දිෂ්ඨී බහිරව දිෂ්ඨී වා! වා!
සර්වජන සිද්ධි
සූර්ය මණ්ඩල ඒස්වහඃ

(මේ ගාථාවේ ඇතැම් කොටස් උච්චාරණය කරන ආකාරය පසුගිය කලාපයේ විස්තර කරල තියෙනවා.)

ඉන්පසු ගෙදර සියලු දෙනාටම පළමු පූජා වට්ටිය වන දේව බහිරවයන් උදෙසා වන පූජා වට්ටියට අත තියාගන්න කියල, දේව බහිරවයාණනි, ඔබටත්



# බහිරව දෝස

## සහ බහිරව පූජාව සම්බන්ධයෙන් තවත් වැදගත් කරුණු

බහිරවයන්, බහිරව දෝස සහ බහිරව පූජාව සම්බන්ධ ලිපි පෙළ අවසන් කිරීමට මත්තෙන් තවත් වැදගත් අතිරේක කරුණු කාරණා කිහිපයක් තමයි මේ සටහන් කරන්නෙ. විශේෂයෙන් වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේගෙන් විවිධ පින්වතුන් විවිධ අවස්ථාවලදි මේ ගැන විමසන කොට ඒ ඒ අයට අවස්ථානුකූලව දුන් විසඳුම් අනුසාරයෙන් තමයි මේ කරුණු කාරණා ඉදිරිපත් කරන්නෙ.

දැන් එතකොට බහිරවයන් ගැන විස්තර කරල ඒ ඒ අවස්ථාවන්ට ගැළපෙන විදිහට බහිරව පූජාවන් තියන හැටි විස්තර කළා. (94) කලාපයෙන්, ලිඳෙන් වතුර ගන්න පෙර නාග බහිරවයන්ට පූජාවක් තියන හැටිත් විස්තර කළා. දැන් කෙනෙකුට ගැටළුවක් එන්න පුළුවන්, ළිංතොටු නැති නාගරික පරිසරවල පාවිච්චි කරන නළ ජලය සම්බන්ධයෙන් ඒ ක්‍රමය අනුගමනය කරන්නෙ කොහොමද කියල. ඒ අයටත් අවස්ථානුකූලව කරගන්න පුළුවන් ක්‍රමවේදයක් තියෙනවා.

ඉර නැගෙන වෙලාවෙ ලොකු වතුර බේසමකට තමන්ගෙ ගෙදර නල ජලය පුරවගෙන, ඒ බේසම ගෙදර බ්‍රහ්ම පාදයට හෝ ඒ ආසන්නයට අහුවෙන්න තියල, ඒ සඳහන් කළ විදිහට ළිඳකට කරන ආකාරයටම කුල්ලක පූජා භාණ්ඩ තියල පහනක් පත්තු කරල ඒ වාක්‍ය කියල කැප කරල බොහොම සරලව

ඔබගේ සහපිරිවර සේනාවත් උදෙසා මේ සන්තෝස පූජාව කැප කරමි/// කැපම වේවා/// කියල පූජා වට්ටියේ තියෙන දෙහි ගෙඩිය කපල පලු 2 කහ දිය භාජනයට දමල, පොල් ගෙඩිය මුදුනෙ කපුරු පෙත්තක් දල්වල, පඬුරක් අරගෙන ගැට ගහල පූජා වට්ටිය ඇතුලට දමන්න. දැන් පොල්ගෙඩිය අතට අරගෙන, අනන්ත සසර පටන් ආවා වූ සසර ගමනේදී දැනුවත්ව හෝ නොදැනුවත්ව හෝ ඔබට හෝ ඔබගේ සහපිරිවරට අපගෙන් යම් කිසි අවැඩක් අසාධාරණයක් හිංගියක් හිංසාවක් වරදක් ප්‍රමාද දෝසයක් දැන හෝ නොදැන සිද්ධ වුනා නම් ඒ සියල්ලටම වන්දි ගෙවල නිදහස් වීමට අප විසින් අෂ්ටාර්ය පුද්ගල මහා සංඝ රත්නයටත්, සුවාසූ දහසක් වූ ශ්‍රී සද්ධර්මස්කන්ධයටත් කළා වූ මහා ගුණ උපහාර පූජාවෙන් රැස් කර ගත්තා වූ මේ සියලු පුණ්‍ය කුසල සම්පත්තිය, අනුමෝදන් කරමි/// අනුමෝදන්ම වේවා///

මේ සෑම සියලු පුණ්‍ය ශක්තියකින්ම ඔබ සෑම සියලු දෙනාම සිතන පතන යහපත් සිතුම් පැතුම් ඇත්ද, ඒවා ඒ ආකාරයෙන්ම ඉෂ්ට සිද්ධ කරගෙන සංසාර දුකෙන් අත්මිදීමටත් ආයුසය, සැපය, බලය, නුවණ, පටිභානය කියන්නා වූ කාරණාවන් පූර්ණ භාවයට පත් කරමින් චන්ද්‍ර සූර්යා ලොව බබළවන්නා සේ ජීවනාලෝකයෙන් යුක්තව සාමයෙන් සමාදානයෙන් අලෝභයෙන්, අද්වේශයෙන්, අමෝහයෙන් කටයුතු කරමින් උතුම් නිවන් සාක්‍ෂාත් කර ගැනීම සඳහාත්, ඒ තාක් ඇත්තා වූ සියලු පරිවාර සම්පත් ලබා ගැනීම සඳහාත් ණය නැති බව වරදක් නැති බව කියන කාරණා පූර්ණ භාවයට පත් කරමින්, කිසි කලෙකත් දුගතියක් නොවේවා සුගතියක්ම වේවා පිරිහීමක් නොවේවා අභිවෘද්ධියක්ම වේවා කියල අධිෂ්ඨාන කරල, අප මේ ජීවත් වන කෙටි කාලය තුල මේ ස්ථානයේ වාසය කරමින් කරන්නා වූ යහපත් කටයුතුවලින් ඔබලාට කිසි ආකාරයකින් කරදරයක් බාධකයක් හිරිහැරයක් නොවේවා, නුඹලාගෙන් අපටද කිසිදු ආකාරයක කරදරයක් බාධකයක් හිරිහැරයක් නොවේවා කියල අධිෂ්ඨාන කරල, ඊට යම් කිසි බාධාවක් ඇත්නම් ඒ සියලු බාධාවෝ සහමුලින්ම දුරු වේවා කියල පොල් ගෙඩිය පිහියක් හෝ සුදුසු උපකරණයක් භාවිතා කිරීමෙන් බිඳල බෑ දෙක පූජා වට්ටිය තුලින් තියන්න. පොල් වතුර ටික කහ දිය සහිත දෙහි කැපූ භාජනයටම හලන්න.

මේ විදිහට බහිරව පූජා වට්ටි 8 ම වෙන වෙනම කැප කරල දෙන්න. ඉන්පසු කරණීයමත්ථ සූත්‍රයත්, මෙත්තානිසංස සූත්‍රයත් සජ්ජායනා කරල පොදුවේ දෙවියන්ට සහ මළගිය ඥාතීන්ට පින් අනුමෝදන් කරල කටයුතු අහවර කරන්න. කහදිය කොතලය ගේ වටේ, වත්ත පිටියේ අඳුරු අහුමුලු තියේ නම් ඒ හැමතැනටම "දීපේථ රට්යේච..." ගාථාව කියමින් ඉහල අවසන් කරන්න. සියලු පූජා වට්ටි පසුගිය කලාපයෙන් සඳහන් කළ ආකාරයටම ඉවත් කරන්න. බහිරව යන්ත්‍රය අඳින්න ගත්ත මුහුදු වැලි ටිකත් අතුගාල පූජා වට්ටිත් එක්කම ඉවත් කරන්න. නැත්නම් ගෙදර අතුගාන සාමාන්‍ය දූවිලිත් එක්කම කුණු ගොඩකට දමන්න. දෙහි කැපූ කහදිය භාජනය සාමාන්‍ය විදිහට ඉවත් කරන්න. සියලු පඬුරු බෞද්ධ පූජනීය ස්ථානයකට පූජා කරන්න.

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**



කරන්න පුළුවන්. ඒකත් අර විදිහටම කැපයි කැපයි කියල පොල් ගෙඩියක් බිඳල පඬුරක් ගැට ගහල ඒ පඬුර පන්සලක පින් කැටයකට පූජා කරන්න. කුල්ලෙ තියෙන පූජා භාණ්ඩ පෙර පරිදිම ඉවත් කරන්න. බහිරව පූජාව ගෙයි ඇතුළෙ තියන නිසා පොල්ගෙඩිය බිඳීමෙන් කරන්නෙ, බහිරවයන්ට ඒ පූජාවට සම්බන්ධ වෙන්න මොනව හරි බාධක දෝස තියේනම් කපල ඉවත් කිරීම.

ඊළඟට මේ ලිපියේ සඳහන් කරල තියෙන විදිහට දැනටමත් ඉදිකරල තියෙන නිවසකට බහිරව පූජාවක් තියන කොට, ඒ ඉඩමේ තියෙන කුස්සිය, වැසිකිලිය... ආදී සියලු ඉදිකිරීම් ආවරණය වෙනවා. ඒ නිසා ඒවාට කියල වෙනම පූජාවන් තියන්නෙ නෑ.

හැමතිස්සෙම සතර වරම් දෙවියන්ට සහ අෂ්ඨ බහිවරවයන්ට පූජා වට්ටි තියල පූජා කරන්න / කැප කරන්න පෙර තෙරුවන් සහ ගුරුවරයා උදෙසා පූජෝපහාරය පැවැත්විය යුතුයි. තම තමන් දන්නා හා සමානව අතහිත දී ගන්න කියල ඒ පූජෝපහාරයන් සඳහා අෂ්ඨ බහිරවයන්ටත් ආරාධනා කරන්න. ඒ වගේම මේ පූජෝපහාරයන් ඇතුළු බහිරව පූජාවන්ට අසල්වාසීන්ට වුණත් සහභාගි වෙන්න පුළුවන්. පූජාවක් නිසා එහෙම භේදයක් නෑ.

බහිරව පූජා වට්ටි කැප කරන කොට දෙහි ගෙඩියක් කපල පඬුරක් ගැට ගහන්නෙ බහිරවයන්ට කැප කරල ස්ථිර කරන්න. දෙහි කැපීමෙන් වස්දොස් බාධක දුරු වෙනවා. පඬුර ගැට ගහල තද කරන්නෙ ඒක කැප කරල ස්ථිර කළා කියන කාරණය පෙන්වන්න. ඒ පඬුර ඉඩ ලැබිච්ච වෙලාවක පන්සලක් වගේ බෞද්ධ පූජනීය ස්ථානයකට පූජා කරන්න.

ඒ වගේම කෙනෙකුට ගැටළුවක් එන්න පුළුවන්, මේ ජීවම් කිරීම් ඇතුළු පූජාවන් සිද්ධ කරන කෙනා එක්කෙනාම විය යුතුද කියල. සාමාන්‍යයෙන් මුලින්ම යම් කිසි අධිෂ්ඨාන කරගත්ත කාලයකට සිල් වතක් සමාදන් වෙච්ච කෙනා තමයි ඒ පූජාවන් ඉවර වෙනකල් ඒවායේ මුල් තැන ගත යුත්තෙ. අනෙක් අය ඒවාට සහ සම්බන්ධ වෙලා උදව් කරල අත ගසා ගැනීමයි කරන්නෙ.

ඒ වගේම බහිරව යන්ත්‍රය අඳිනකොට එක කොටුවක දිග පළල අඩි 3 × 3 ප්‍රමාණය ගන්න ගෙදර ඉඩ මදි නම්, පූජා වට්ටිය තැන්පත් කරන්න පුළුවන් ප්‍රමාණයට ඒ කාමරයේ තියෙන ඉඩ ප්‍රමාණය 8 කට බෙදා ගන්න. අෂ්ඨ බහිරව යන්ත්‍රයේ හතර කොනේ ත්‍රිශූල අඳින්නෙ රාග ද්වේශ මෝහ කැපෙන්න කියල.

ඒ වගේම මීට පෙර හෙළ බොදු පියුම (27), (28), (29) කලාපවලින් පෙන්වා දුන් ඥාති බත සහිත සාංඝික දානයත්, මේ බහිරව පූජාවත් කෙසේ කළ යුතුද කියන ගැටළුව කෙනෙකුට එන්න පුළුවන්. නමුත් මේ දෙක අතර එහෙම සම්බන්ධයක් නෑ. හැබැයි දැනටමත් බහිරව පූජාවක් තියල නැත්නම් ඊට පෙර ඥාති බත සහිත සාංඝික දානය තියල අවසන් කිරීම තමයි වඩාත් සුදුසු. එහෙම නැත්නම් තමන්ට පුළුවන් විදිහට කරන්න.

ඒ වගේම මේ ලිපිවලින් සඳහන් කළේ, පුළුවන් උපරිමයෙන් බහිරව පූජාවක් තියන ආකාරය මිසක් ඒවා ඒ විදිහටම විය යුතුයි කියන කාරණය නෙවෙයි. ඒ නිසා තම තමන්ගෙ කාලය, ශ්‍රමය, ධනය යොදවන්න පුළුවන් ආකාරයට ඒ අනුව කටයුතු කරල තමන්ට පහසු විදිහට සිද්ධ කරගන්න. නමුත් චේතනාව තමයි මේ හැම අවස්ථාවකදිම වැදගත් වෙන්නෙ.

දැන් එතකොට මේ පෙන්වා දුන්නෙ බහිරව දෝසවලින් නිදහස් වෙන එක ක්‍රමවේදයක් විතරයි. වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේගෙන් විවිධ මට්ටම්වල ඉන්න පිංවතුන් අහපු ගැටළුවලට ඒ ඒ අයට ගැළපෙන විදිහට අවස්ථානුකූලව මේ බහිරව දොස් ඉවත් කර ගන්න තවත් ක්‍රම පෙන්වා තියෙනවා.

ඒ අනුව සමහර අවස්ථාවලදී, ඉඩමේ මැද තෝරාගෙන අඩි 2 ක විතර වළක් කපල, ඒ මත බුලත් කොළ අටක් රවුමට තියල, ඒ මැද පහනක් දල්වල, ඒ වටා පඬුරු අටක් කැවිලි වර්ග අටක් බැගින් තියල, සමහර අවස්ථාවලදි පළතුරු තියල, බුලත් කොළ මත අත තියල, අෂ්ඨ බහිරවයන්ට මේ පූජාව කැපයි කැපයි කැපයි, කැපම වේවා, කැපම වේවා කැපම වේවා කියල තුන් වතාවක් කියල පූජා කරන්න කියල ඒ විදිහට කියපු සරල අවස්ථාත් තියෙනවා.

ඒ වගේම ඉඩමක ගෙයක් හදනකොට ගෙයි බහිරව පූජාව තියන ආකාරයත් කෙටියෙන් පෙන්වා දීපු අවස්ථා තියෙනවා. ඒ අනුව නිවස හදන තැන ඉඳන් අට කොණේ (ගෙදර කොන් 4 සහ ඉඩමේ කොන් 4) අඩි 2 × 2 වළවල් අටක් කපාගෙන, බුලත් කොළ අටක් වටේට තියල, ඒ මත පහන් තැටියක් පත්තු කරල, පහන වටා පඬුරු අටක්, කැවිලි වර්ග අටක්, පළතුරු වර්ග පහක් මැද සිට වටේට අනුපිළිවෙලට තැන්පත් කරල, අනුපිළිවෙලට පූජාවට අත තියල, අෂ්ඨ බහිරවයන්ට මේ පූජාව කැප වේවා කියල තුන් වරක් කියල පූජා කරන්න කියපු තවත් සරල ක්‍රමයක් තියෙනවා. හැබැයි ඒ ඒ ස්ථානයන් සහ පුද්ගලයන් අනුවත් මේ විවිධ ක්‍රම අනුගමනය කිරීමෙන් ලැබෙන ප්‍රතිඵල වෙනස් වෙනවා. ඒ නිසා සමහර විට එක ස්ථානයකට මේ සරල ක්‍රමවේදයක් හරි ගියාට තවත් තැනකට ඒ ක්‍රමවේදය හරි නොයන්න පුළුවන්.

**දැන් මේ සියල්ලටම අමතරව ලෝකයේ යථාර්ථය වටහාගෙන මානසික වශයෙන් දියුණු වෙලා බහිරව දොස් අයින් කරගන්න ක්‍රමයකුත් කියල දීල තියෙනවා. හැබැයි ඒ ක්‍රමය අනුගමනය කිරීම මේ සියලු ක්‍රමවලට වඩා පහසු වුණත්, ඒ සඳහා යම් කිසි දහම් අවබෝධයක් තියෙන්න ඕන.** ඒ කියන්නෙ වචන කට කටපාඩම් කරගෙන, පාලි කටපාඩම් කරගෙන එහෙම දෙයක් නෙවෙයි. සරල මූලධර්මයක් තියෙන්නෙ. මේ ලෝකයේ අනිච්ච, දුක්ඛ, අනත්ත ස්වභාවය තේරුම් අරගෙන මෙච්චර කාලයක් දරාගෙන හිටපු “මම, මගේ, මගේ ආත්මය” කියන දෘෂ්ටිය අත්හැරගෙන ඒ අනුව කටයුතු කරන්නයි තියෙන්නෙ.

මොකද මේ **බහිරව දොස් එන්න ප්‍රධානම හේතුව තමයි මිනිස්සුන්ගේ තියෙන මමත්වය කියන දෘෂ්ටිය. ඒක බහිරවයන්ට විසයි.** මොකද බහිරව කියල භවයට හිර වුණාම ඒ භවය තුළ විවිධාකාරයෙන් අල්ල ගත්ත වස්තු

සම්පත් තියෙනවා. මගේ ඉඩකඩම්, මගේ දේපළ, මගේ වතුපිටි, මගේ ගහකොළ, මේවා මම හදාගත්තු දේවල්, ඒවා කාටවත් දීල බෑ... ඔය ආදී වශයෙන් තමන්ගෙ වසඟයේ පවත්වන්න ගිහින් තමයි අන්තිමට භවයට හිර වෙලා බහිරව වෙන්න හේතු හැදෙන්නෙ. අදත් ඉන්නවා, මලත් දෙන්නෙ නෑ කියන උදවිය. තමන්ගෙ ගතියට අනුවම තමයි එහෙම කියවෙන්නෙත්. අන්තිමට බහිරව වෙන්නෙත් ඒ ගතියෙන්මයි. මොකද මලත් දෙන්නෙ නැත්නම්, ඔහු මැරිලත් ඒක රකින්න එපැයි. එදත් එහෙම කියාගෙන ආරක්ෂා කරගෙන හිටපු උදවිය තමයි මැරිල ගිහින් අද බහිරව බවට පත්වෙලා ඉන්නෙ. දැන් ඉතින් ඒ භවය දාල යන්න බැරිව, ඒ භවයේ අල්ල ගත්තු වස්තු සම්පත් දාල යන්න බැරිව ඒවාට බැඳිල හිර වෙලා බඳාගෙන ඉන්නවා.

ඉතින් ඒ වගේ භවයට හිර වෙච්ච කෙනෙක් එතැනින් ඉවත් කරන එක ලේසි පහසු වැඩක් නෙවෙයි. ඒ භවයෙන් චුත වෙනකල් ඒ අයගේ බහිරව ලෝකය දාල ඒ අය කොහේ යන්නද? ඒක වෙනම ලෝකයක්. කවුරුහරි එහෙම බලෙන් අයින් කරන්න යනවයි කියන්නෙ, තමනුත් ඒ කෙරෙහි තණ්හාවෙන් බැඳිල භවයට හිර වෙලා බහිරව වෙන්න දැඟලීමක් මිසක් වෙන දෙයක් නෙවෙයි. ඒ නිසා අපිත් ඒ තත්ත්වයට පත්වෙන්න කටයුතු කරන එක නෙවෙයි කරන්න තියෙන්නෙ. මෙන්න මේ මූලධර්මය ඉස්සෙල්ලම තේරුම්ගන්න ඕන.

එතකොට ඇයි අපි "මම, මගේ" කියල මේ වස්තු සම්පත්වලට ඇලෙන්නෙ. ඒක තමයි බහිරවයන්ට අපිත් එක්ක තියන ප්‍රශ්නය. එතකොට තමයි බහිරව දොස් එන්නෙ. අපි දැන් මේ අවුරුදු පනහක හැටක විතර අපි දන්න කියන කාලයක එකතු කරගත්ත වස්තු සම්පත්වලට තමයි "මම, මගේ" කියන්නෙ. හැබැයි අපිට පෙර ඔය ස්ථාන ගොඩනගල වවා සකස් කරගත්තු උදවිය තවමත් ඒවා දාල යන්න බැරිව ඒවාට ඇලිල බැඳිල හිරවෙලා නොපෙනෙන ලෝකවල ඔය කියන බහිරව කොටස් ඇතුළු විවිධ අත්බැව් ලබල ඉන්නවා. නමුත් අපිට ඒක පේන්නෙ නෑ. දැන් අපි මොකද කරන්නෙ, හරියට අපිට උඩින් කඩා පාත් වුනා වගේ ඔක්කොම මමත්වයෙන් අරගෙන ඒ දෘෂ්ටියෙන් පාලනය කරන්න යනවා. අපිට පෙර හිටපු අත්තල මුත්තල, ඒ දේපළ ආරක්ෂා කරපු උදවිය ගැන හෙව්වෙ බැලුවෙ නෑ. දැන් ඉතින් ඒ බහිරව වෙලා ඉන්න අයට අපේ හැසිරීම වාවන්නෙ නැතිව යනවා. ඒ නිසා ඒ දේපළ මමත්වයෙන් අල්ලගෙන කතා කරන තාක් කල්, එහෙම හිතන තාක් කල්, එහෙම පාලනය කරන තාක් කල් ඒවාට බහිරව දොස් එනවා. මොකද මනුස්ස ලෝකයේ අපි කියන කරන දේවල් ඒ අයට ඇහෙනවා, පේනවා.

එහෙනම් මොකක්ද කරන්න ඕන? මේ දේපළ අපේ තාත්තලා, සීයලා, ආතලා, මුත්තලා... ඇතුළු පෙර හිටපු උදවිය හරිහම්බ කරපු දේපළ. මේවා මගේ නෙවෙයි. මම මේවා ජීවත්වෙන කල් පරිහරණය කරනවා විතරයි... මෙන්න මේ විදිහට අවංකව අදහස් අරගෙන කතා කරනකොට අර නොපෙනෙන ලෝකවල ඉන්න පිරිස් ඒකට හරි කැමතියි. මොකද අපි ඒවා අල්ලගෙන නෑ. එතකොට ඒ අය අපිට කරදර හිරිහැර කරන්නෙ නෑ. **බහිරවයො කරදර කරන්නෙ ඒ දේපළ "මම, මගේ" කියන දෘෂ්ටියෙන් අල්ලගෙන ඉන්න තාක් කල් විතරයි.** ඒ නිසා මොකද කරන්න ඕන, මේක මම / අපි ඉන්න වත්තපිටිය / ගෙදර කියන අදහසින් කටයුතු කරනව මිසක් මගේ / අපේ කියන අදහස අහක් කරගන්න ඕන. ඒක අහක් කරගත්ත කියල අපිට භෞතිකව පාඩුවක් වෙන්නෙ නෑ. මොකද එහෙම අදහස් ගත්ත කියල, කතා කෙරුව කියල, කවුරුවත් ඇවිත් අපෙන් දේපළ උදුරගෙන යන්නෙ නෑ.

ඒ නිසා මේ මගේ පුටුව, මගේ මේසය, මගේ ඇඳ, මගේ අල්මාරිය... ඔය විදිහට මමත්වයෙන් අරගෙන කතා කරන්නෙ ක්‍රියා කරන්නෙ නැතිව, මට ඉඳගන්න තියෙන පුටුව, මට ලියන්න තියෙන මේසය, මට නිදාගන්න තියෙන ඇඳ, මට රෙදි ටික දාගන්න තියෙන අල්මාරිය, මට උයා පිහාගෙන කන්න තියෙන හැලිවලං ටික... ඔය ආදී වශයෙන් "මම, මගේ" කියන දෘෂ්ටිය අහක් කරල ඒ අදහසින් කතා කරන්න පුරුදු වුණා නම් මේ බහිරව දොස් ඉබේටම ඉවත් වෙනවා. ගෙදර දොරේදි, කඩපොළේදි, හැමතැනදිම අවංකවම ඒ විදිහට අදහස් අරගෙන කතා කරන්න පුරුදු වුනා නම් එතකොට බහිරවයන්ට ගැටළුවක් නෑ. තරහක් මරහක් නෑ. බහිරවයො ඉඩකඩම්වල හිටියයි කියල අපිට ගැටළුවක් නෑ. මොකද මනුස්සයො ගෙවල් දොරවල්වල ඉඩකඩ අරගෙන ඉන්නව වගේ ඒ අය භෞතිකව ඉඩකඩ අරගෙන අපිට පේන්න භුක්ති විඳින ජාතියක් නෙවෙයි. ඒ අයට ඕන ඒක රැකගන්න විතරයි. ඒ අයගෙ ලෝකය වෙනම එකක්. ඒක අපිට පේන්නෙ නෑ.

ඒ නිසා බහිරවයො හිටියයි කියල අපේ ඇඟේ හැප්පෙන්නෙ නෑ. ඒ අයගෙන් අපිට දොස් එන්නෙ නැත්නම් ඒ අය හිටියයි කියල අපිට ප්‍රශ්නයක් නෑ. දැන් අපේ වත්තපිටියෙ කුඹි, පණුවො, විවිධ කෘමි සත්තු හිටිය කියල අපිට ගැටළුවක් නෑ වගේ. මොකද ඒක වෙනම ලෝකයක්. දැන් මේ කියන බහිරව පූජාවලින් පවා කෙරෙන්නෙ ඒ අය පලවා හැරීමක් නෙවෙයි. ඒ අයට අවශ්‍ය ආහාරපාන ලබා දීල, පින් පෙත් දීල අනුමෝදන් කරල හිත සන්තෝස කරන ක්‍රමයක්. එතකොට ඒ අය සන්තෝස වෙලා, ඒ අය ඒ ඉන්න ස්ථානය මනෝමය වශයෙන් තමන්ගෙ කරගෙන ඉන්නවා. ඉතින් අපිට ඒකෙ තියෙන ගැටළුව මොකක්ද? එතකොට බහිරව දොස් නිකම්ම නැති වෙනවා.

එහෙම නැතිව බහිරවයො කියන ජාතිය පන්නන්න නෙවෙයි මේ කතා කරන්නෙ. ඒ අය අවුරුදු දහස් ගණනක් ගියත් ඒ භවය ඉවර වෙනකල්ම ඒ ස්ථානවලට අරක්ගෙන ඉන්නවා. අපිත් ඒ වගේ අල්ල ගන්න ගිහින් බහිරවයො වෙන්න ඕන නෑ. ඒ නිසා ධර්මානුකූලව අපි දැනගන්න ඕන, අපිට අවශ්‍ය මේ ඉන්න ටිකට ජීවත් වෙන්න විතරයි කියන කාරණය. ඒ සඳහා තණ්හාවෙන් අල්ලගෙන "මම, මගේ" කරගෙන ලෝකයාට අඬ බෙර ගහන්න අවශ්‍ය නෑ. මේ දහම් මග අනුගමනය කරනව නම් එහෙම මානසිකත්වයක් නෙවෙයි එන්නෙ. "මම, මගේ, මගේ ආත්මය" කියන්න වටිනා වස්තුවක් මේ ලෝකෙ නෑ කියන යථාර්ථය උඩ ඉඳගෙන කටයුතු කරන්න ඕන. ඒ නිසා ඉන්න කල් පරිහරණය කරගෙන ජීවත් වෙන්න මිසක්, ඒ දේපළ කාගෙ වුනත් කවුරු අයිතිවාසිකම් කිව්වත් අපිට මොකද? ඔය තමයි බහිරව දොස් ඉවත් කරගන්න තියෙන දියුණු මානසික ක්‍රමවේදය.

ඉතින් දානයක් මානයක් දෙන වෙලාවට, පිං අනුමෝදනාවක් කරන වෙලාවට, තමන්ගෙ දන්න කියන පිරිස විතරක් සිහි කරන්නෙ නැතුව, යම් කෙනෙක් මේ ඉඩකඩම් වවා හදාගෙන හිටිය නම්, මේ ගස් කොළන් ඒ අයගෙ කියල හිටෙව්ව නම්, ඒ අය එහෙම කරපු නිසයි අද අපිත් මේවායේ ජීවත් වෙලා භුක්ති විඳින්නෙ, ඒ නිසා උපකාරයට කෘතෝපකාර වශයෙන් ඒ අය අද කෙබඳු උපතක හිටියත්, ඒ අයටත් යහපතක් වෙන්න ඒකෙන් පිනක් දහමක් කරල ඒ අයටත් පින් අනුමෝදන් ❯

කරනව කියල එහෙම සිහි කරන්න ඕන. එතකොට ඒ අය සන්තෝස වෙනවා, මේ මිනිස්සු කොච්චර හොඳද දැන් අපිට යමක් දෙන්න ලැස්ති වෙනවනේ, අපිට මෙච්චර කාලයක් ඕක භුක්ති විඳින්න බැරිවනේ හිටියෙ, දැන් ඒ අය පිනක් දහමක් කරල අපිටත් දෙනවනේ කියල. එතකොට ඒ අයගේ සාප කිරීම් නැති වෙනවා.

**ඉතින් වත්ත පිටියෙ පොල් ගහක්, පුවක් ගහක්, මොනවා හරි පළතුරු ගහක් තිබුණ නම් ඒක මුල් කරගෙන බහිරව දොස් නැති කරන ක්‍රමයකුත් ඒ කාලෙ තිබුණා. එයින් එක ගහක් තමන් ජීවත් වෙන කාලයට හරි වෙනත් යම්කිසි කාල සීමාවකට හරි අධිෂ්ඨාන කරල පිනට දහමට වෙන් කරනවා. ඒ කාල සීමාවෙදි ඒ ගහේ ගෙඩි තමන්ගෙ ප්‍රයෝජනයට නොගෙන මොනවහරි පින් කටයුත්තකට යොදවල ඒකෙන් නැගෙන පුණ්‍ය ශක්තිය අර කලින් කියපු විදිහට උරුමකම් කිව්ව වවා හදාගත්ත හැමෝටම අනුමෝදන් කරනවා.** මේ කාරණය (83) කලාපයේ "සසර ණය ගෙවෙන සේ පොල් පැළයක් හිටවමු" කියන ලිපියෙන් සහ "වාස්තු විද්‍යාවේ දහම් පැතිකඩ" ලිපි පෙළින් වෙනත් ආකාරයකට විග්‍රහ කරල තියෙනවා. එතකොට පළතුරු ගහක් තිබුනොත්, ඒ ගහම වෙන් කරන්න බැරි නම්, ගහේ කොටසක් / අත්තක් හරි අර විදිහට වෙන් කරන්න පුළුවන්. එතකොට ඒක සම්මත කරනවා, තමන්ට කන්න නෙවෙයි, පිනට දහමට, වවපු හදපු උරුමකම් කිව්ව අය වෙනුවෙන් කියල.

ඉතින් මේ විදිහට වත්ත පිටියක හෝ නිවසක වුණත් මේ ක්‍රමය අනුගමනය කරන්න පුරුදු වුනා නම් තමන්ට ගැටළුවකුත් නෑ, ගුප්ත ලෝකයේ බහිරවයො ඇතුළු අනෙක් අයට ගැටළුවකුත් නෑ. **වත්ත පිටියෙන් වෙන් කරන්න තරම් ගහක් කොළක් නැත්නම්, තමන්ට ලැබෙන ආදායමෙන් පුංචි රුපියලක් හරි කැටයකට එකතු කරල, මේවා වවා හදාගෙන රැකබලා ගත්ත උදවියට පිං පිණිසයි කියල, අද මම ජීවත් වෙන්නෙත් ඒ අය නිසයි කියල එහෙම අදහස් අරගෙන "මම, මගේ, මගේ ආත්මය" කියන දෘෂ්ටිය අත්හැරල ඒ සෑම සියලු දෙනාගේම යහපත පිණිස උපකාරයට කෘතෝපකාර සළකන ගුණයෙන් යුක්තව ඒ මුදලින් පිනක් දහමක් කරල සියලු දෙනාටම පින් දීල අනුමෝදන් කරන කොට, දෙපැත්තටම යහපතක් සිද්ධ වෙලා බහිරව දොස්වලින් අත් මිදෙනවා.**

ඒ විදිහට කටයුතු කරනකොට බහිරවයන්ට විතරක් නෙවෙයි, උරුමකම් කිව්ව සියල්ලන්ටම ඒ ලෝකවලට ගැලපෙන විදිහට අසීමිතව ලැබෙනවා. ඒ ලැබෙන්නෙ ඒකෙන් පින් දහම් කරන කොට. එතකොට ඒ අයගෙන් දොස් එන්නෙ නෑ. එහෙම කටයුතු කරගෙන යනකොට ඒ අය චිත්ත ප්‍රසාදයෙන් ඒක අනුමෝදන් වුනොත්, සමහරවිට ඒකෙන්ම ලෝභකම අත්හැරිල ඊට වඩා වැඩි සම්පත්තියක් තියෙන දේව අත්භවයක් ලබන්නත් පුළුවන්. විමාන, උයන් වතු, පරිවාර සම්පත් ඒ අයගෙ නමින් පහළ වෙන්න පුළුවන්. එතකොට ඒ අයටම වැටහෙනවා, මෙච්චර සම්පත්තියක් අපිට පහල වෙලා තියෙද්දි මේ ඉඩකඩම් අල්ලගෙන ඒවාට හිර වෙලා බැඳිල අපි මොනවා කරන්නද කියල.

එතකොට මේ මහා සම්පත්ති අපිට ලැබුණෙ, දැන් මේ ඉඩකඩම් ගෙවල් දොරවල්වල ඉන්න මනුස්සයො නිසා නේද කියල, ඒ අයටත් ආශිර්වාද කරනවා, රැකවරණය දෙනවා. අර බහිරව අත්බවින් නිදහස් වෙලා මහා සම්පත්තියක් තියෙන දේව අත්බැවකට යනවා. නමුත් අපිත් ලෝභකමින් කටයුතු කරන්න ගියොත්, අපිත් බහිරව වෙනව මිසක් කවදාවත් උන්ව මුදවන්නත් බෑ, අපිට මිදෙන්නත් බෑ. ඒ නිසා බහිරවයො ඒ තත්ත්වයෙන් මුදවන්නෙත් අපි මිදෙන්නෙත් ඔය කියන ධර්මානුකූල ක්‍රමවේදයට මිසක් වෙන ක්‍රමයකට නෙවෙයි. ඒක පැහැදිලි කරල දෙන්නෙ මේ පිරිසිදු බුදු දහමෙන් විතරයි. මොකද "මම, මගේ, මගේ ආත්මය" කියන මේ දෘෂ්ටි අත්හැරල සදාකාලික නිදහස් සුවයක් ලබන ක්‍රමය පෙන්වා තියෙන්නෙ මේ බුදු දහමේ විතරයි. අනෙක් ආගම්වල තියෙන්නෙ කොහේ හරි එල්ලිලා ලෝකය තුල ලෞකික පැවැත්මක් ගෙනියන ක්‍රමවේද. ඒවා නිකං තාවකාලික ක්‍රම මිසක් නිට්ටාවට විසඳුම් ලැබෙන ක්‍රම නෙවෙයි. නිට්ටාවට විසඳුම් ලැබෙන ක්‍රමය තමයි මේ පිරිසිදු බුදු දහමින් පෙන්වා තියෙන්නෙ. එතකොට මේ අනෙක් ආගම්වලට දොස් කියනව නෙවෙයි, ඒ සමහර ආගම්වලින් ලෞකික වශයෙන් යම් කිසි යහපතක් සිද්ධ වුණත් ඒ සියල්ලම තාවකාලිකයි.

එතකොට වහරක හාමුදුරුවො මේ විදිහට නැවත මතු කරල දුන්න ක්‍රමවේද එකක්වත් පරස්පර නෑ. ඒ ඒ අයට ගැලපෙන විදිහට ඒ ඒ අයගෙ මානසික මට්ටම් අනුව, නැණ නුවණ අනුව තෝරා බේරාගෙන කරන්න තමයි මේ විදිහට ක්‍රම කිහිපයක් මතු කරල දීල තියෙන්නෙ. මොකද සමාජයේ ඉන්න බහුතරයක් දහම් අවබෝධයක් තියෙන අය නෙවෙයි. "මම, මගේ" කියල අල්ල ගත්ත පෘතජ්ජන ගති ස්වභාවය තියෙන අය තමයි තවමත් සමාජයේ බහුතරයක් ඉන්නෙ. එතකොට ඒ අයට මේ විදිහට "මම, මගේ, මගේ ආත්මය" කියන දෘෂ්ටිය අත්හැර ගන්න කිව්වට ඒකට එකපාරටම ලැස්ති නෑ. එහෙම මානසිකත්වයක් හැමෝටම එන්නෙ නෑ.

ඒ නිසා අන්න එහෙම අයට අර මුලින් කිව්ව බහිරව පූජා ක්‍රමය විශේෂයෙන් ගැළපෙනවා. එතැනදි තමන්ට තියෙන විදිහට, ඇති හැකිකම් අනුව, මහා පරිමාණයෙන් හරි සුළු පරිමාණයෙන් හරි ඒ පූජාවන් කරගන්න පුළුවන් වෙන්න තමයි විවිධ මට්ටම්වලින් පෙන්වල තියෙන්නෙ. එතකොට යම් කිසි දහම් අවබෝධයක් තියෙන අයට තමයි මේ අවසානයට සඳහන් කළ ක්‍රමවේදය විශේෂයෙන් පෙන්වල තියෙන්නෙ. නමුත් දහම් අවබෝධයක් තියෙන අයට වුනත් ඒ මුලින් පෙන්වා තියෙන බහිරව පූජා ක්‍රම අනුගමනය කළා කියල නරකක් වෙන්නෙ නෑ. අවශ්‍ය නම් මේ ක්‍රම දෙකම අනුගමනය කරන්න පුළුවන්. එහෙම කළා කියල වැඩි වෙන්නෙ නෑ. මොකද මේ පෙන්වා දුන්න බහිරව පූජා ක්‍රමය කාටවත් අසාධාරණයක් කරල, කාටවත් යටහත් පහත් වෙලා, කට්ටඩියො ගෙන්වල කරන එහෙම එකක් නෙවෙයි. තෙරුවන් මුල් කරගෙන පූජෝපහාර පවත්වල ඒ බහිරවයන්ට අවශ්‍ය දානමාන දෙන දැහැමි ක්‍රමවේදයක්. අර කලින් පෙන්වා දුන්න ඥාති බත් දානයත් ඒ වගේ.

ඒ වගේම අනික් අයත් මේ බහිරව පූජා තිබ්බත්, අර විදිහට "මම, මගේ, මගේ ආත්මය" කියන දෘෂ්ටිය අහක් කරගෙන, ජීවත් වෙනකල් පරිහරණය කරනවා කියන මානසිකත්වය විතරක් ගොඩ නගාගෙන අවබෝධයකින් යුක්තව ඒ බහිරව දොස් ඇරෙන ක්‍රමය අනුගමනය කරන්න උත්සාහ කරන්න. ඒ නිසා පුළුවන් අය තම තමන්ට ඇති හැකිකම් අනුව මේ එක ක්‍රමයක් හෝ ක්‍රම කිහිපයක් හෝ අනුගමනය කරල යහපත සලසගන්න.

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# පෙළ දහමේ සැඟවුණු තැන් සොයා...

28 වන කොටස



**සංයුක්ත නිකාය - 1**

<u>නික්ඛන්ත සූත්‍රය - 330 පිටුව</u>

වංගීස හිමියන් වැඩ සිටි විහාරයට පැමිණි සැරසුන ස්ත්‍රීන් දැක ඇති වූ කාම හැඟීම් නිසා සසුනෙහි අනභිරතියක් (නො ඇළෙන සුළු) වූ බවත්, තමාම ධර්මානුකූලව හිතා බලා අසාරත්වය දැන ඉන් මිදී සාසන අභිරතිය (ඇළෙන සුළු බව) උපදවාගෙන කෙළෙස් යටපත් කළ අයුරුත් මෙහි දැක්වේ.

<u>අරති සූත්‍රය - 332 පිටුව</u>

වංගීස තෙරුන් වෙහෙරෙහි වැඩ සිටින විටද සසුනෙහි අනභිරති ඉපිද, ආදීනව මෙනෙහි කර සංසිඳවාගෙන සාසන අභිරතිය උපදවා ගත් අයුරු මෙහි දැක්වේ. කෙළෙස්ද තදංග ලෙස සිඳලීය.

<u>පේසල අතිමඤ්ඤනා සූත්‍රය - 334 පිටුව</u>

වංගීස හිමියන් තම පටිභානයෙන් පේෂල (සිල්වත්) භික්ෂූන් හෙළා දකී. මෙහි අවැඩ තමාම දකිමින් ඒ වරද ධර්මානුකූලව දැක හැඩ ගසා ගති.

<u>ආනන්ද සූත්‍රය - 336 පිටුව</u>

ආනන්ද හිමි සමග වංගීස හිමි පිඩු පිණිස හැසිරෙන විට අනභිරතියක් ඉපදුනි. රාගය සිත දවයි. අනඳ හිමිගෙන් නිවන් මග විචාළේය. සඤ්ඤා විපර්යාසය හේතුවෙන් තොපගේ සිත දැවෙයි, රාගෝප්පත්තියට හේතු වූ සුභාරම්මනය දුරු කරවයි කියා ඊට අනුසාසනාද කළේය.

<u>සුභාසිත සූත්‍රය - 336 පිටුව</u>

සුභාසිතයක් වන අංග 4 දක්වා ඇත.

1. සුබැසි තෙපුල් වීම
   දුබැසි තෙපුල් නොවීම
2. දැහැමි තෙපුල් වීම
   නොදැහැමි තෙපුල් නොවීම
3. ප්‍රිය තෙපුල් වීම
   අප්‍රිය තෙපුල් නොවීම
4. සැබෑ තෙපුල් වීම
   නොසැබෑ තෙපුල් නොවීම

මේවා පුරාතන සුභාසිතයෝය. බුදු රජුන් දෙසන නිර්වාණය ඒකාන්තයෙන් අග්‍රය.

<u>සාරිපුත්ත සූත්‍රය - 338 පිටුව</u>

සැරියුත් හිමි අර්ථවත්ව ව්‍යංජන සහිතව ප්‍රසාද එළවන සුළුව දහම් දෙසයි. භික්ෂූන්ද ප්‍රසාදයෙන් අසයි. වංගීස හිමි සිය පටිභානයෙන් ප්‍රසංසා කළේය. සැරියුත් හිමි දහම් දෙසන විට පටිභානය මුහුදු රළ සේ පැන නගින බවද වංගීස හිමි පවසයි.

<u>පවාරණ සූත්‍රය - 340 පිටුව</u>

බුදු පියාණන් වහන්සේ මිගාර මාතු ප්‍රාසාදයෙහි 500 ක් රහතන් වහන්සේලා සමග වැඩ සිටින විටක, භික්ෂූන් අමතා බුදු රජුන්ගේ කායික වාචසික කිසිවකට ගරහම්දැයි ඇසූ පැනයට පිළිතුරු ලෙස, එසේ නොකරන බව හේතු සහිතවම සැරියුත් හිමි විස්තර කළේය. බුදු රජුන්ද සැරියුත් හිමිගේ කායික වාචසික කටයුතු සක්විති රජුගේ දෙටුපුත්, පියාගේ අණසක අනුකූලවම කරන සේ යැයි සැරියුත් හිමිට පැසසීය. බුදු හිමි, භික්ෂූන් පන්සියයම ඒ ඒ ප්‍රමාණයෙන් 60 ක් ත්‍රිවිද්‍යාය, 60 ක් ෂඩ් අභිඥාය, 60 ක් උභතෝ විමුක්තය, අනික් සැම ප්‍රඥා විමුක්තයෝ යැයි පවසා සැමට ප්‍රසංසා කළේය. වංගීස හිමි බුදු රජුන් ප්‍රමුඛ සංඝයාට සිය පටිභානයෙන් ප්‍රසංසා කළේය.

<u>පරෝ සහස්ස සූත්‍රය - 342 පිටුව</u>

බුදු රජුන් අඩ තෙළෙස් දහසක් (දොළොස් දහසක්) භික්ෂූන් සමග සැවැත් නුවර ජේතවනාරාමයේ වැඩ වසන විට **වංගීස තෙරුන් සිය පටිභානයෙන් බුද්ධ ප්‍රමුඛ සංඝ රත්නයේ ගුණ වර්ණනාවක් කළේය. බුදු රජුන් වංගීස හිමිගෙන්, වංගීස මේ ගාථාවෝ තා විසින් පෙර සිතන ලද්දේද, නැතහොත් තට එකෙනෙහිම වැටහේදැයි ඇසීය. ස්වාමීනි, එකෙනෙහිම වැටහේ යැයි වංගීස හිමි පිළිතුරු දුනි. එසේ නම් වංගීස, පෙර කල්පනා නොකළ ගාථාවෝ තට බොහෝ සේ වැටහේවායි ආසිරි දී වදාළේය. එවිට පෙර නොවැටහුන බොහෝ ගාථාවලින් බුදු ගුණ ගැයීය.**

**(මේ එන ත්‍රිපිටක සාක්ෂි අනුව බලන කල, වහරක අභයරතනාලංකාර හිමියන්ටද පිහිටියේ, හිතාමතා ගොතන ලද හෝ කට පාඩමින් ගෙන ආ කවි හැකියාවක් නොව, නිරායාසයෙන් සමාධියට නැගෙන දුර්ලභ පටිභාන කවිත්වය බවත්, එවැනි හැකියාවන් මේ බුද්ධ සාසනයේ පවතින බවත්**

**පැහැදිලි වේ. උන්වහන්සේ විසින් විවිධ අවස්ථාවල පැය ගණනාවක් නොකඩවා විවිධ මාතෘකා ඔස්සේ සමාධිගතව දෙසන ලද පටිභාන කාව්‍යයෝ මීට සාක්ෂි දරයි.** මේ පිළිබඳ වැඩි විස්තර සඳහා හෙළ බොදු පියුම 16, 17 වන කලාපවල පළ කළ “ලොව අති දුර්ලභ වූ පටිභාන කවිත්වය නැවතත්” නම් ලිපි පෙළ බලන්න.)

කොණ්ඩඤ්ඤ සූත්‍රය - 346 පිටුව

අඤ්ඤාකොණ්ඩඤ්ඤ හිමි බුදුන් දක්නට විත්, බොහෝ කලකින් පැමිණි බව කියා බුදු රජුන්ගේ ශ්‍රී පාද අල්වාගෙන සිඹිමින්, ස්වාමීනි මම අඤ්ඤා කොණ්ඩඤ්ඤ වෙමියි මෙසේ මහත් ගෞරවයක් දැක්වීය. (රහතන් වහන්සේලාද බුද්ධ ගෞරව කරන අයුරකි) වංගීස හිමි බුදු රජ අවසර ගෙන අඤ්ඤා කොණ්ඩඤ්ඤ හිමිගේ ගුණ කථනයක් පටිභාන ගාථාවලින් කරන ලදී.

මොග්ගල්ලාන සූත්‍රය - 348 පිටුව

රජගහ නුවර ගල් තලාවක භික්ෂූන් 500 ක් සමග වැඩහුන් බුදු රජුන් ළඟ සිටි මුගලන් තෙරුන් භික්ෂූන් වහන්සේලාගේ සිත් පිරිසිඳ දකිමින් සැම දෙනාම අරිහත් දැයි බලන විට, වංගීස හිමි බුදු හිමි අවසරයෙන් මුගලන් හිමිගේ ගුණ ගැයීය. සිත් බලන අයුරුද පැසසීය. (වංගීස හිමියන්ටද පර සිත් පෙනෙන බවට සාධකයකි.)

ගග්ගරා සූත්‍රය - 348 පිටුව

බුදු පියාණන් වහන්සේ ගග්ගරා පොකුණු තෙර වැඩ සිටි අවස්ථාවකි. 500 ක් භික්ෂූන්, 700 ක් උපාසක පිරිස සහ දේව සමූහයාද එහි විය. සියල්ලන් අභිබවා බුදු රජ බබළයි. වංගීස තෙරුන් බුදු රජ අවසරයෙන් පටිභාන ගාථා වදාළේය.

වංගීස සූත්‍රය - 350 පිටුව

වංගීස හිමි තමන් ගැන මෙසේ ගැයීය. පෙර කවි කිරීමෙන් මත්ව ගමින් ගම නුවරින් නුවර සැරිසැරූ බවත්, බුදු රජුන් ස්කන්ධ, ධාතු පිළිබඳ කළ දෙසුම අසා ශ්‍රද්ධාව ලබා සස්නෙහි පැවිදිව බුද්ධ දර්ශනයේ වටිනාකමද කියමින් තමන් ත්‍රිවිද්‍යා සෘද්ධිවිධ මෙන්ම චේතෝපරිය ඥානයද ලද බවත් දෙසීය.

විවේක සූත්‍රය - 352 පිටුව

කොසොල් දනව්වෙහි වන ලැහැබක සිටි එක්තරා භික්ෂුවක් කාම සිතිවිලි සිතනු දුටු දේවතාවෙක්, එහි නපුර හා නිදහස් වීමේ අනුසස් කී විට විළි බිය ඇති වී භික්ෂුව යහපතට හැරුනි.

කස්සපගොත්ත සූත්‍රය - 354 පිටුව

කොසොල් දනව්වෙහි වන ලැහැබක එක්තරා භික්ෂුවක් සිටී. කස්සපගොත්ත නම් වූ උන්වහන්සේ එක්තරා මුව වැද්දෙකුට අවවාද කරයි. මේ දුටු දේවතාවෙක් භික්ෂුව සංවේගයට පත් කරනු පිණිස මෙසේ කීය. පර්වත දුර්ගයෙහි සැරිසරන, යහපත් සිත් නැති මුව වැද්දෙකුට නොකල්හි අවවාද කරන මහණ තෙමේ අන්ධ බාලයෙකු සේ මට වැටහේ. තවත් කරුණු විස්තර කර දුන් විට භික්ෂුව සංවේගයට පත්විය.

සම්බහුලා සූත්‍රය - 356 පිටුව

කොසොල් දනව්වෙහි කැලෑවක භික්ෂූන් පිරිසක් වස් විසූහ. පසුව උන්වහන්සේලා නොයෙක් දෙසට වැඩියහ. දේවතාවෙක් හිස් වූ සෙනසුන දැක දුක් විය. තව දෙවියෙක් සමග භික්ෂූන් ආ ගිය තැන් ඇසූ විට, ඒ ඒ දේශයන් කියා, නිවසක් නැතිව මුවන් සේ සැරිසරන සඟුන්ගේ ගුණ කීය.

ආනන්ද සූත්‍රය - 356 පිටුව

කොසොල් රට වනයෙහි වෙසෙන අනඳ හිමි **ගිහියන්ගේ සැප දුක්වලට නැළවිලි කතා කියන බව දුටු දෙවියෙක්, එයින් ඔබට කවර වැඩද, උත්තමය ධ්‍යාන කරවයි කියා සංවේග ඉපැද්දවීය.**

අනුරුද්ධ සූත්‍රය - 356 පිටුව

කෝසල වන ලැහැබෙහි සිටි අනුරුද්ධ තෙරුන් කරා ජාලිනී නම් දෙව් දුවක් විත් තව්තිසා ලොව සිත පිහිටවන ලෙසත්, දෙවඟනන් සමග පෙර එහි සිටි බවත් කී විට, උන්වහන්සේ ඇයගේ බාල අඥාන බව පෙන්වා “අනිච්චාවත සංඛාරා...” ගාථාව කීය. නැවත දේව කයකට නොයන බවත් පුනර්භවයක් නැති බවත් ඇයට කීය.

නාගදත්ත සූත්‍රය - 358 පිටුව

නාගදත්ත හිමි උදෑසන ගමට පිඬු සිගා ගොස් බොහෝ කල් වේලා ගෙවා ආපසු එනු දුටු දේවතාවෙක්, කුලයන්හි ගැලී කාලය ගෙවන ඔබට කියමි, බලවත් වූ මරුගේ වසඟයට නොපැමිණෙවයි කී විට ඒ හිමි සංවේගයට පත් විය.

කුලඝරණී සූත්‍රය - 358 පිටුව

එක්තරා මහණෙක් කෝසල වන ලැහැබෙහි වෙසෙයි. එක්තරා කුලයක අතිශය ඇතුලත් බවට පැමිණ බොහෝ වේලා එහි ගත කරයි. මේ දුටු දේවතාවෙක් භික්ෂුව සංවේගයට පත් කරනු පිණිස කුල ගෙහෙඹු වෙස් ගෙන මෙසේ කීය. ගං තෙරද, විඩා හරින තැනද, සභාවෙහිද, වීථියෙහිද ජනයෝ මුළුදී ඔබ ගැනද මා ගැනද කතා වේ. තපස්වීහු විසින් ඉවසිය යුතු ප්‍රතිලෝම ශබ්දයෝ බොහෝය. එහෙයින් නිතෙද (දුර්මුඛ) නොවිය යුතුය. එයින් කිළිටි නොවේ.

වජ්ජිපුත්ත සූත්‍රය - 360 පිටුව

විසල්පුර වන ලැහැබක සිටි භික්ෂුවකට එම පුරවරයේ රාත්‍රී සංගීත හඬක්, වීණා හඬක් ඇසී එය නරඹන්න නැති සොවින් මෙසේ හැඬීය. “වනයට දමන ලද දර කඩක් සේ එකලාව මෙහි ගත කරමි. අපට වැඩි තවත් පාප ඇතියෙක වේද?” මේ දැක දේවතාවෙක් භික්ෂුවට සංවේග ඉපැද්දවීය. වනෙහි ලූ දර කඩක් සේ අරණෙහි එකලාව හැසිරෙව, දෙව්ලොව යන්න වුන්ට කැමති නිරි සතුන් මෙහි බොහෝ දෙනෙක් කැමති වෙති.

සජ්ඣාය සූත්‍රය - 360 පිටුව

එක්තරා මහණෙක් කෝසල වන ලැහැබෙහි වෙසෙයි. පෙර බොහෝ වේලා දහම් හැදෑරීමෙහි යෙදී සිටි උන්වහන්සේ පසු කලෙක උත්සාහ රහිතව වෙසේ. මේ දුටු දෙවියෙක් ඒ ගැන ඇසූ විට, **පෙර ධර්මය කෙරෙහි ඡන්ද රාගය බහුල විය, ආර්ය මාර්ගය වැඩෙන විට දිට්ඨ, සුත, මුතයන්හි නොඇලේ, සියල්ල අනිස ලෙස දැන දුරු කරත් යනුවෙන් පැවසූහ. (අදත් මාර්ගය පූර්ණ නොකර දහම් දෙසමින් හදාරමින් පමණක් ඉන්නා අයට මෙය බොහෝ සේ වටී.)**

අයෝනිසෝ සූත්‍රය - 362 පිටුව

කොසොල් වන පියසේ එක්තරා භික්ෂුවක් අකුසල විතර්ක සිතමින් සිටී. හිත වැඩ කැමති දෙවියෙක් එය දැක, මහණ නුඹ අකුසල විතර්ක විසින් කනු ලබයි, එය අතහැර තෙරුවන් කෙරෙහිද සීලය කෙරෙහිද ප්‍රමෝදය උපදවා සිහි කරව, එයින් දුක් කෙළවර වේ යනුවෙන් පැවසීය.

මජ්ඣන්තික සූත්‍රය - 362 පිටුව

එක් දෙවියෙක් සිටි මද්දහනෙහි පක්ෂීන් ඉසුඹු ලන (නාදය) කල්හි බියක් සේ වැටහේ යයි කී විට, භික්ෂුව එය සිත් පිනවන්නක් සේ වැටහෙන බව කීය.

පාකතින්ද්‍රිය සූත්‍රය - 362 පිටුව

“අනිච්ඡ” යන වචනය ඇත.

සුඛ ජීවිනෝ පුරේ ආසුං
භික්ඛු ගෝතම සාවකා



අනිච්ඡා පිණ්ඩ මේසනා
අනිච්ඡා සයනා සනං

ලෝකේ අනිච්චතං ඤත්වා
දුක්ඛස්සන්තං අකංසු තේ

රා දොස් මෝහයෝ වැඩුනු භික්ෂු පිරිසක් කෝසල වනයෙහි සිටිනු දුටු දෙවියෙක් ඔවුන්ට අනුකම්පා කර මෙසේ කීය. පෙර ආසා රහිතව පිඬු සෙනසුන් සොයන ගෞතම සව් වූ මහණ වූ සුව දිවි ඇතිව සිටියහ. ඔවුහු අනිස් බැව් දැන දුක් කෙළවර කළහ. මම සංඝයාට වඳිමි. නින්දිත ගම් දෙටුවන් වැනි මොවුහු අසරණයෝය. සොහොනේ දමන ලද මළ සිරුරු මෙනි.

**පදුමපුප්ඵ සූත්‍රය - 364 පිටුව**

එක් භික්ෂුවක් පොකුණකට බැස පියුමක් සිඹී. ඒ දුටු දෙවියෙක් භික්ෂුවට සංවේග දනවනු පිණිස, නොදෙන ලද යම් පියුමක් සිඹීද, එය සොරකම් අතරින් එක් කොටසකි, භික්ෂු නොකඩයි, නොගලවයි කීය. දුර සිට සිඹින මා කෙසේ නම් සොරෙක්ද? නෙළුම් අල ගලවන, මල් කඩන උන් ගැන කවර කතාද? දරුවාගේ මලමූ තවරා ගන්නා කිරි මව්වරු වැනි ඔවුන්ට කුමක්හි පව්ද? **සිල් ගුණ ඇති අයගේ ඉතා කුඩා වරදද විසාල ලෙස වැටහේ.** භික්ෂුව දේවතාවාට පැසසීය. නැවත මෙබන්දක් දැක්කෙහි නම් (වරදක් දුටුවහොත්) කියන්නයි ඉල්ලා සිටියේය. එවිට දේවතාවා, මහණ ඔබ නිසා මම ජීවත් නොවේ, නොහොත් බැලයෙක්ද නොවේ, එය තමන්ම දත යුතු යැයි පැවසීය. මහණ සංවේගයට පත් විය.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් දින පොතක සටහන් තබන ලද කරුණු ඇසුරිනි.*

සටහන
**නීතිඥ චන්දන සිරිවර්ධන**



## හෙළ බොදු පියුම දහම් සඟරාවේ 96 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

ශ්‍රම දයකත්වය

■ ධම්මික සේනාධීර මහතා - හසරු ප්‍රින්ටර්ස් - මාලබේ ■ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ■ චතුර හිඳුරංගලගේ මහතා - නුගේගොඩ ■ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර ■ සඳරුවන් පෙරේරා මහතා සහ මාරියස් පෙරේරා මහතා - මොරටුව ■ එස්. ඒ. එස්. පෙරේරා මහතා - පානදුර ■ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ■ තුසිත මංගල මහතා - පාදුක්ක ■ සුජීවනී ජයවර්ධන මෙනවිය - පාදුක්ක ■ ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ■ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ■ නන් අයුරින් දයක වූ පින්වතුන්

මූල්‍යමය දයකත්වය

■ සනත් දයාප්‍රේම මහතා, රේණුකා ජයවර්ධන මහත්මිය, අනුක් දයාප්‍රේම පුතා, සෙලෝමි දයාප්‍රේම දුව, මහේන්ද්‍ර ජයවර්ධන මහතා, සමන්තා සේනානායක මහත්මිය සහ යතික ජයවර්ධන පුතා - ඇමරිකාව - රු. 35,000/- ■ ආසිරි වනිගරත්න මහතා සහ දීපිකා සන්දනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - මහරගම - රු. 25,000/- ■ ශානක ද සිල්වා මහතා, චරනි ද සිල්වා මහත්මිය, ගනිඳු ද සිල්වා පුතා, දෙව්රූ ද සිල්වා දුව - දෝහාකටාර් - රු. 23,950/- ■ තිළිණ විජේරත්න මහතා සහ පවිත්‍රා දදිගම මහත්මිය - ඇමරිකාව - රු.23,600/- ■ තුසිත නාකන්දල මහතා, සරූපා නාකන්දල මහත්මිය, දෙව්න්යා දුව - ගල්කිස්ස - රු. 20,000/- ■ චතුර හිඳුරංගලගේ මහතා, නදීරා අරම්පොල මහත්මිය, තනුරි හිඳුරංගලගේ සහ සනුරි හිඳුරංගලගේ යන දියණියන් - නුගේගොඩ - රු. 20,000/- ■ සමන්ත දියෝගබඳු මහතා, ගයනී ජයවර්ධන මහත්මිය, නිම්හාන් දියෝගබඳු පුතා, ඩිලාරා දියෝගබඳු දුව - ඩුබායි, ඒ. ඩී. කේ. පියසීලි ජයවර්ධන මහත්මිය, ඉනෝකා ජයවර්ධන මහත්මිය, අකීෂා සමරවීර දුව, අශෝක ජයවර්ධන මහතා, චමිලා වික්‍රමආරච්චි මහත්මිය , ඒ.ඩී.රූපා පෙරේරා මෙනෙවිය - නුගේගොඩ - රු. 12,000/- ■ සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/- ■ නිලක්ෂි වීරකෝන් මහත්මිය - මාලබේ - රු. 10,000/- ■ චාරුත බණ්ඩාර මහතා සහ තිමිර බණ්ඩාර මහතා - ඇමරිකාව - රු.8,740/- ■ බුද්ධික බණ්ඩාර මහතා සහ දිස්නා බණ්ඩාරනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - ඇමරිකාව - රු.8,740/- ■ ජී. ධර්මසේන මහතා සහ කරුණා ධර්මසේන මහත්මිය ඇතුළු පවුලේ සැම - හෝමාගම - රු. 7,000/- ■ සංජීව පද්මනාත් මහතා ඇතුළු පවුලේ සැම - කහතුඩුව, රුවන් සමරසිංහ මහතා ඇතුළු පවුලේ සැම, චමිල ඉලංගකෝන් මහතා ඇතුළු පවුලේ සැම - හෝකන්දර, සුමුදු විද්‍යාලංකාර මහතා ඇතුළු පවුලේ සැම - රද්දොළුගම, අශෝක ජයසේකර මහතා ඇතුළු පවුලේ සැම - මාතලේ, එම්.ටී.සුගතදස මහතා ඇතුලු පවුලේ සැම - ගාල්ල - රු. 6,000/- ■ දිල්හාර වික්‍රමාරච්චි මහතා, සශිනා විජේසිංහ මහත්මිය - - රු. 5,100/- ■ සුජීවනී ජයවර්ධන මෙනවිය - පාදුක්ක - රු. 5,000/- ■ අභිජ්ක හඳුගොඩ මහතා ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 5,000/- ■ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා, හිරෝෂානි ලොකුමාන්න මහත්මිය, සෙනුත් ලොකුමාන්න පුතා, කෙනුලි ලොකුමාන්න දුව - ගල්කිස්ස - රු. 5,000/- ■ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම - රු. 5,000/- ■ අමිල සල්ගාදු මහතා සහ කාන්ති ඒකනායක මහත්මිය - බෝමිරිය - රු. 5,000/- ■ මෙරිල් ඩයස් මහතා, ඩිලානි ඩයස් මහත්මිය, ශවින්ද්‍රි ඩයස් සහ ප්‍රශානි ඩයස් යන දියණියන් - නාවින්න - රු. 5,000/- ■ චාමර මධුසංක මහතා, නදීරා ගලගෙදර මහත්මිය, යෙසඳි බිම්සංසා දුව - පිළියන්දල

- රු. 5,000/- ■ එරන්ද මලිගස්පේ මහතා, වෛද්‍ය නිලූෂා මලිගස්පේ මහත්මිය, කිවේන් මලිගස්පේ පුතා - ඇමරිකාව - රු. 5,000/- ■ අසේල බෙන්තර මහතා සහ චතුරිකා කහඳුගොඩ මහත්මිය - ඇමරිකාව - රු.4,370/- ■ ලක්ෂ්මන් සෙනෙවිරත්න මහතා ඇතුළු පවුලේ සැම - මහියංගනය - රු. 4,000/- ■ සී. වීරසිංහ මහතා - රු. 4,000/- ■ හර්ෂ අමරසේකර මහතා සහ උදුම්බරා රත්නායක මහත්මිය - ඇමරිකාව - රු.3,500/- ■ විමුක්ති සෙනෙවිරත්න මහතා සහ ජයමිණි ජයවර්ධන මහත්මිය - ඇමරිකාව - රු.3,500/-■ අයේෂ් ගුණවර්ධන මහතා සහ නිරාෂා පෙරේරා මහත්මිය - ඇමරිකාව - රු.3,500/- ■ ජේ. කේ. සිසිර කුමාර සමරදිවාකර මහතා ඇතුළු පවුලේ සැම - එල්ලක්කල - රු. 3,200/- ■ කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 3,000/- ■ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/- ■ කේ. එම්. සමන්ත ප්‍රදීප් මහතා - කඹුරුගමුව, මාතර - රු. 3,000/- ■ නිශාන්ති ද සිල්වා මහත්මිය - මොරටුව - රු. 3,000/- ■ ගුණපාල ඉද්දගොඩ මහතා - විජේරාම - රු. 3,000/- ■ සුජාන් කරස්නාගොඩ මහතා ඇතුළු පවුලේ සැම - ඕස්ට්‍රේලියාව - රු. 3,000/- ■ මනෝජ් ජයසූරිය මහතා ඇතුළු පවුලේ සැම - මහරගම - රු. 3,000/- ■ ජේ. එම්. ඒ. බණ්ඩාර මහතා, වී. එස්. ජයතිලක මහත්මිය, ජේ. එම්. ඕ. නවින්දයා බණ්ඩාර දුව - නුවර - රු. 3,000/- ■ ටී. ටී. පී. සිල්වා මහත්මිය - නාගොඩ, කළුතර - රු. 2,500/- ■ ඩී. ඩී. විතාරණගේ මහතා ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු. 2,500/- ■ එච්. එස්. අරම්පොල මහතා ඇතුළු පවුලේ සැම - ඇමරිකාව - රු. 2,500/- ■ ඉසුරු ගාල්ලගේ මහතා සහ මේනකා ශාන්තිනී මහත්මිය - කඩවත - රු. 2,000/- ■ නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 2,000/- ■ ඔස්ටින් ප්‍රනාන්දු මහතා සහ සිසිර සිරිවර්ධන මහතා ඇතුළු පවුලේ සැම - පොල්ගහවෙල - රු. 2,000/- ■ ඩිලාරෝ වුඩ් කාවින් පුද්ගලික සමාගම - ගාල්ල - රු. 2,000/- ■ නුවන් යාපා අමරසේකර මහතා, චරිතා කුමාරි හෙට්ටිආරච්චි මහත්මිය සහ සෙතුකි දම්නාද අමරසේකර දුව - රදවාන - රු. 2,000/- ■ රජිත් යාපා අමරසේකර මහතා - රදවාන - රු. 2,000/- ■ නම සඳහන් නොකළ පින්වතෙක් - පිටකෝට්ටේ - රු. 2,000/- ■ උදේශා සංජීවනී මෙනවිය - යක්කල - රු. 2,000/- ■ බී. ඒ. වීරසේන මහතා, සෙනරත් බණ්ඩාර මහතා, හසිත කසුන් බස්නායක මහතා, ජනුක කුසල් බස්නායක පුතා, අනුරිකා වීරසේන මහත්මිය ඇතුළු පවුලේ සැම - යක්කල - රු. 2,000/- ■ සුදන්ත සූරියබණ්ඩාර මහතා සහ ඉරේෂා සූරියබණ්ඩාර මහත්මිය - ඕස්ට්‍රේලියාව - රු. 2,000/- ■ එන්. ජී. ජයතිලක මහතා සහ එන්. ජයතිලක මහත්මිය - මහනුවර - රු. 2,000/- ■ නිරෝධා ධනංජනී මෙනෙවිය - දියතලාව - රු. 2,000/- ■ ඩිලානි පෙරේරා මහත්මිය - හේනෙගම - රු. 2,000/- ■ උපුල් විජේනායක මහතා ඇතුළු පවුලේ සැම - මාවනැල්ල - රු. 2,000/- ■ සුනීතා බුලත්සිංහල මහත්මිය - ඕමාන් - රු. 2,000/- ■ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ■ ඒ. ඒ. එන්. අමරසිංහ මහතා ඇතුළු පවුලේ සැම - අවුලේගම - රු. 1,500/- ■ ජගත් විජේසිංහ මහතා ඇතුළු පවුලේ සැම - බත්තරමුල්ල - රු. 1,500/- ■ උපුල් ජයරත්න මහතා සහ ගිහානි ජයරත්න මහත්මිය - ඕස්ට්‍රේලියාව - රු. 1,500/- ■ ඩබ්. එම්. විජේසූරිය බණ්ඩාර මහතා සහ දිලානි දීපිකා බණ්ඩාර මහත්මිය ඇතුළු පවුලේ සැම - හසලක - රු. 1,500/- ■ තරිඳුලතා ජයතිලක මහත්මිය - රු. 1,500/- ■ අනුරාධා විජේසුන්දර මහත්මිය - මොරටුව - රු. 1,300/- ■ එස්. ප්‍රසන්න ප්‍රියදර්ශන සිල්වා මහතා සහ මධුෂිකා ලක්මුතු පියදිගම මහත්මිය - ගල්කිස්ස - රු. 1,200/- ■ කිත්සිරි ජයරත්න මහතා, හිමාෂා නිමන්ති දුව ඇතුළු පවුලේ සැම - පස්යාල - රු. 1,200/- ■ ඊ. ආර්. විජිතා දමයන්ති මහත්මිය ඇතුළු පවුලේ සැම - ලෙනගල - රු. 1,200/- ■ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1,000/- ■ සී. එම්. පී. සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ■ මෝක්ෂර තිලකසිරි පුතා - බැලුම්මහර - රු. 1,000/- ■ සමෘද්ධි තිලකසිරි පුතා - බැලුම්මහර- රු. 1,000/- ■ එල්. ඒ. කේ. ද සිල්වා මහතා - කිරුලපන - රු. 1,000/- ■ නිලූකා වෙල්ගම මහත්මිය ඇතුළු පවුලේ සැම - කඳාන - රු. 1,000/- ■ පද්මිණී සේනානායක මහත්මිය - කළුගෙඩිහේන - රු. 1,000/- ■ ශ්‍රීමා අබේකෝන් මහත්මිය ඇතුළු පවුලේ සැම - මෙල්බන් නුවර - රු. 1,000/- ■ දර්ශිකා විජේරත්න මහත්මිය - තලවතුගොඩ - රු. 1,000/- ■ ඒ. දිලාන් නුවන් පුතා - ස්කොට්ලන්තය - රු. 1,000/- ■ ඩබ්. චන්ද්‍රරත්න මහතා ඇතුළු පවුලේ සැම - පාදුක්ක - රු. 1,000/- ■ වසන්ත කුමාර ජයසේකර මහතා ඇතුළු පවුලේ සැම - නාරාහේන්පිට - රු. 1,000/- ■ කුසුමා තෙන්නකෝන් මහත්මිය - සේදවත්ත - රු. 1,000/- ■ නිලන්ති දබරේ මහත්මිය - පිටකෝට්ටේ - රු. 1,000/- ■ ලලනි ජයරත්න මහත්මිය - නුගේගොඩ - රු. 1,000/- ■ පැතුම් ශානුක ලොකුගේ මහතා - පාදුක්ක - රු. 1,000/- ■ පී. කේ. සිතුමි සනිල්කා දුව සහ පී. කේ. සඳිල් මෙතූප පුතා - අවිස්සාවේල්ල - රු. 1,000/- ■ විශාඛා ඇටිපොල මෙනවිය - මාතලේ - රු. 1,000/- ■ ඒ. කේ. පී. ගුණපාල මහතා - කිතුල්ගල - රු. 1,000/- ■ විසුද්ධා තරුනෙතු මෙනවිය - රදවාන - රු. 1,000/- ■ එච්. ඉමිල අමල් වික්‍රමසිංහ මහතා - කොකිස්කඩේ හන්දිය - රු. 1,000/- ■ සෙනෙහෙලතා ජයවික්‍රම මහත්මිය - ගම්පහ - රු. 1,000/- ■ කේ. ඩග්ලස් පෙරේරා මහතා සහ කේ. උදිත ලක්ෂාන් පෙරේරා මහතා - මීනුවන්ගොඩ - රු. 1,000/- ■ රාහුල ඉන්ද්‍රකුමාර මහතා - මීනුවන්ගොඩ - රු. 1,000/- ■ ඩී. එම්. අනුෂ්කා දමයන්ති මහත්මිය - බදුල්ල - රු. 1,000/- ■ එම්. සමින්දි සුබෝධා රත්නායක මෙනවිය - රු. 1,000/- ■ යෙනිකා කුමාරි මහත්මිය - එක්සත් රාජධානිය - රු. 1,000/- ■ ගුණදාස මහතා - ගලපිටමඩ - රු. 1,000/- ■ කෝෂලී අනුපමා මෙනෙවිය ඇතුළු පවුලේ සැම - රු. 1,000/- ■ ඩී. එම්. තිළිණ රුවන් මහතා - වැලිපැන්නගහමුල - රු. 1,000/- ■ ඩී. එම්. සවනි රිද්මිලා දුව - වැලිපැන්නගහමුල - රු. 1,000/- ■ සුජාතා ජයසිංහ මහත්මිය - රදවාන - රු. 1,000/- ■ රෝහිණී පල්ලෙවත්ත මහත්මිය - රදවාන - රු. 1,000/- ■ ඒ. ඒ. වින්දයා නිර්මාණී දුව - රදවාන - රු. 1,000/- ■ ලියනගේ මහත්මිය - කිඹුලාපිටිය - රු. 1,000/- ■ බන්දු අමරවික්‍රම මහතා - පිළියන්දල - රු. 1,000/- ■ කේ.ඒ. ජයරත්න මහතා - හොරතුඩුව -රු.1000/- ■ විමල් ගුණතිලක මහතා - පිටිපන - රු.1000/- ■ කේ.ඒ. උපාලි ජිනදාස මහතා - දිවුරුම්පිටිය - රු.1000/-■ රංජිත් වික්‍රමසිංහ මහතා, පද්මාවතී වික්‍රමසිංහ මහත්මිය, සුභාෂිනී දිසානායක මහත්මිය - කඩිගමුව, කුමාරි ගොඩවිට මහත්මිය - කුරුණෑගල, චාන්දනී සමරකෝන් මෙනවිය - කන්තලේ, පී. ඒ. පී. සී. දසනායක මහත්මිය - ඇහැලියගොඩ, එච්. ඒ. වික්‍රමසිංහ මහතා - කොකිස්කඩේ හන්දිය, වනිතා පෙරේරා මහත්මිය - රදවාන, කේ. එම්. ශ්‍රීලාල් බණ්ඩාර මහතා - ගල්ගමුව, යුරේෂ දිල්රුක්ෂාන් මහතා - කළුබෝවිල, විමලා ගමගේ මහත්මිය - රත්තාගල, තුලසි මිනිමුතු පුතා, මානෙල් වික්‍රමසිංහ මහත්මිය - කොකිස්කඩේ හන්දිය - එකතුව - රු. 5,800/- ■ එකතු වූ සියලු මුදල් පරිත්‍යාග - රු. 401,400/- ■ පළමු පිටපත් 15,000 සඳහා මුද්‍රණ වියදම රු. 433,500/- ■ අනෙකුත් වියදම් - 15,060/- ■ සම්පූර්ණ වියදම - රු. 448,560/- ■ එක් පිටපතක නිෂ්පාදන වියදම - රු. 29/90 ■ නිෂ්පාදන කටයුතු සඳහා ගිය හිඟ මුදල සඟරා අලෙවියෙන් පියව ගන්නා ලදී. සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහාම යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝසවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විහිදී පැතිරී පිහිටා සුගතිගාමීව සම්දිටු ගුණ පහල කරගෙන තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, නිදුක් නිරෝගී සුවය ලැබී, කරන කියන යහපත් රැකී රක්‍ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

## පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...

**www.waharaka.com webmaster@helabodhupiyuma.net**

**071 3046895 / 0775003411/ 036 2267111 / 076 8092008 / 076 3639891**

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සෑම පුන් පොහෝ දිනකම සහ සෑම අමාවක පොහොය දිනකම පෙ. ව. 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදනය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව. සෑම මසකම 1 වන සහ 3 වන සෙනසුරාද ආශිර්වාද පූජාව සහ ධර්ම සාකච්ඡාව පෙ. ව. 8.00 සිට ප. ව. 4.00 දක්වා, 2 වන, 4 වන සහ 5 වන සෙනසුරාද භාවනා වැඩසටහන පෙ. ව. 9.00 සිට ප. ව. 4.00 දක්වා

**ගමන් මාර්ගය: නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණුපස.**

## සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,

**හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුක්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.**

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාප ඇතුලු සියලු කලාප දැනට ලබාගත හැකි ස්ථාන:

■ චන්දුල වෙළඳ විමන, අංක 104, හයිලෙවල් පාර, මහරගම 077 7258851 ■ හසරු ප්‍රින්ටර්ස් - මාලබේ. (071 4220558 / 011 2744308) ■ පිනැකල් නෙට් - හයිලෙවල් පාර, ගොඩගම - 011 2895132 ■ තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම - 011 2857572 ■ තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක - 076 6114237 ■ නිව් පියුමි කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල - 077 3742023 ■ නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනින් (බදාදා පෙ. ව. 9.00 සිට 3.00 දක්වා පමණි.) 077 2292677 / 071 3228571 ■ දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාද උදේ 8.30 සිට සවස 2.00 දක්වා පමණි) (දෙහිවල පොලිස් ස්ථානය අසල) - 071 8059784, 077 2055098 ■ සෙනාරෝ සෙන්ටර් - අංක 35, රාජගිරිය පාර, රාජගිරිය - 075 5569555 ■ සීදේවි හෝටලය, වේයන්ගොඩ පාර, කිරිදිවැල - 071 0118101 ■ කුමාරි අයන් වර්ක්ස් - 209 ඒ, ගලහිටියාව, ගනේමුල්ල - 076 9604682, 0786949860 ■ පෝලර් රීජන්ස් 402 සී, ගාලු පාර, පානදුර 038 2235369 ■ සරසවි පොත්හල - 330/ඒ, ගාලුපාර, අළුත්ගම - 077 3474081 ■ සුධීර කොමිනිකේෂන්, පිටිගල පාර, පැලවත්ත - 071 2103177, 075 2679202 ■ සහන ෆාමසි - මූණගම, හොරණ - 071 2608776 ■ ස්ටුඩියෝ සෙවන් සීරෝ, තවලම හන්දිය, තවලම (ඉන්ධන පිරවුම් හල අසළ) 071 5827923 ■ ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල - 091 2242610 ■ නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදස මාවත, මාතර - 041 2225118 ■ හෙළ බොදු සිසිල සෙනසුන - මුරුතමුරේ, හක්මන - 041 3021878 ■ මෝලෙ කඩේ - මුදුන, වලස්මුල්ල - 071 1662643 ■ දිලුනෙත් - පාසල් මාවත, කඹුරුපිටිය - 071 9856555 ■ රාජපක්‍ෂ වෙළඳසැල - බැද්දෙගෙදර, මිද්දෙණිය පාර, වීරකැටිය - 071 2136329 ■ සංජීව සුපර් ග්‍රොසරි - ප්‍රධාන වීදිය, බඩල්කුඹුර 075 5863883, 055 2250051 ■ සොබා දහම් ගොවිපොළ, සණස, උකුවෙල, මාතලේ - 066 2244061 ■ චන්දුල වෙළඳ විමන, අංක 124, කෙලින් වීදිය, මාතලේ - 077 3632966 ■ ඒකනායක මන්තින්දරාමය - ඉහළගම, මහඋඩගම, ගම්පොළ, නුවර - 077 541 64 61 / 081 020 57572 ■ අමිල ට්‍රේඩර්ස්, අංක ඩී1, ඒ. ඒ. ධර්මසේන මාවත, මහනුවර - 075 7246797 ■ අරිය චින්තාශ්‍රම හෙළ බොදු සෙනසුන, බාලදක්‍ෂ මාවත, ගල්කඩවල, අනුරාධපුර - 076 6442125 ■ අරි සිතුම් අරණ දහම් මැදුර, දේවගිරිපුර, ගල්ගමුව - 071 1211876 ■ හොරණ වාසනා බේකර්ස්, මැදවච්චිය (ඔරලෝසු කණුව ඉදිරිපිට) - 071 8375871 ■ ප්‍රජාපතී ගෝතමී ආරාමය, පහලගම, සියඹලන්ගමුව, මාස්පොත - 037 4902817 ■ පිවිතුරු අරණ සෙනසුන - කට්ටකඩුව, ආඬියාගල, දඹුල්ල - 025 5789988 ■ සීගිරි පොත්හළ, පොළ හන්දිය, මහව - 077 6243804 ■ රුහුණු ෆුඩ් ලයින්, අංක 05, හලාවත පාර, කොච්චිකඩේ - 031 2277726 ■ චන්දන පූජා භාණ්ඩ - 100, බදුල්ල පාර, හාලිඇල - 055 2294999 ■ ඇම්. ටී. බණ්ඩාර පොත්හල, කොළඹ පාර, පොල්ගහවෙල, 077-3807489 / 076-8036126 ■ ළහිරු පූජා භාණ්ඩ, කොළඹ පාර, මදුරන්කුලිය, 076-7768053 / 071-8375871 ■ චමින්ද කොමිනිකේෂන්, සුපිරි වෙළඳ සංකීර්ණය, ප්‍රධාන වීදිය, මැදගම, 071-6253031 / 071-8375871 ■ සඳමිණි පූජා භාණ්ඩ, කුලියාපිටිය පාර, දුම්මලසූරිය - 077 4430223

**තැපෑලෙන් ගෙන්වා ගැනීම සඳහා විමසන්න - ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - අංක 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - 0777794676**

***ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.***

# අග්ගිදත්ත පෙරවි බමුණා



කොසොල් රජු පෙරවි ඇමතිඳු පදවි දැරූ
පසල් දනවි වැසි සැමටම පියෙකු යුරු
කුසල් පිරි අග්ගිදත්තය නමැති ගරු
විසල් පැණැති බමුණෙකි යහ ගුණෙනි සරු

නිබඳව දැහැමි සිතිවිලි හදවතෙහි දරා
සුහදව විසුව සැම දෙන සහ දිවිය පුරා
මහළුව බමුණු තෙම ගිහි ගෙයි විසුම හැරා
එකතුව තම පිරිස නික්මුනි තපස කරා



කුරු රට තවුස් අරමෙක මෙම පිරිස වැස
හුරු වෙති තපස් රැකුමෙහි පෙර සිරිත ලෙස
දුරු කළ යුතු කෙළෙස් එන විට සිතෙහි බැස
ගුරු බස විලස වැලි ගොටුවක් දමති ඉස

කලකදී එතැන මහ වැලි ගොඩක් බිහිවුනා
එපරිදි නිවස කොට එහි නයෙක් හැසිරුනා
එහි රැඳි සැමට ගරු සරු බියක් ඇතිවුනා
පුද පිදිවිලි කෙරුනි ඉන් සෙතක් අයැදුනා

වන පෙත් රුක් දෙවොල් ගිරිහෙල් බොහෝ විට
තැති ගත් අය පුදති විපතෙන් මිදීමට
පිළි ගත් හෙයින් එය තපසුන් සැබෑවට
නිති වත් පෙත් කරති එම නා රජා හට



බුදු රද මෙම පිරිස දෙස පැණ ඇස යොමවා
දුක සිඳ සසර ජය ගත හැකි බව දුටුවා
එම සඳ බුදු සමිඳු මුගලන් හිමි කැඳවා
පිළි බඳ තපසු සහ පිරිවර ගැන දෙසුවා

මුගලන් තෙරිඳු එම අරමට වැඩම කර
එහි උන් තපසුනට බුදු බණ දෙසන වර
එසැනින් වැඩම කළ බුදු හිමි කුළුණු බර
තපසුන් හමුවෙ දෙසු බුදු මග දුකෙනි තොර

ගිරි වන රුක් අරම වැඳ යැද පිහිට කොට
සසරින මිදිය නොහැකිය දනු කිසිම විට
තෙරුවන පිහිට කොට සිව්සස් දහම පිට
අපමණ දුක නිමාවෙයි දෙසු තපසු නට



අරමෙහි තපසු හැම සැනසුනි දහම අසා
සසරෙහි දුක නිවුනි බුදු හිමි වැඩිය නිසා
සසුනෙහි පැවිදි බව ලද පෙර හුරුව ලෙසා
නිවනෙහි නිවී සැනසුනි භව දොරටු වසා

(ධම්ම පදය - බුද්ධ වග්ගය ඇසුරෙනි)
පබැඳුම - කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා

# හංගන්නට දෙයක් නැත මේ තිලොව තුල

අමත යැයි සිතා ලොව ගැන නොම    දැනය
අනත සසර හැංගුව දේ    අපමණය
නොවෙත යහපතක් ඉන් සත    අසරණය
නැවත එන එලය කිව්වේ බුදු    බණය

පෙර සිටි  එවුන් හැංගුව දේ නොවෙද    අද
ජරමර ගොඩක් වී ලෝ සත විඳින    වද
පරපුර රකින්නට ගොස් තම ලොබෙහි    බැඳ
දුරකට ගොසින් ඇත පහසුව වෙහෙස    මැද

බෙහෙත් හේත් ලෙඩ රෝ සුව පිණිස    වුන
බතක් ගොවි තැනක් කුස ගිනි නිවන    තැන
තවත් නොයෙක් කම් යහපත කෙරුව    දැන
පහත් ගතිවලට යට වී ගොසිනි    ගුණ

නියපොත්තෙන් කැඩිය යුතු දේ කඩනු    බැරී
පියවර බොහෝ ගත යුතු වෙයි කරනු    හරී
දියතෙහි විසුම අපහසු වෙයි නොමැත    පිරී
වියපත් වෙනු පෙනෙයි දහමින් නොකර    සරී

ඉසිවරු මහා උතුමන් ගුරු මුහු    නොගෙන
නිසි ලෙස බෙදා දුන් යහපත් දෙය    රැගෙන
කිසිවෙකු ලොබ කරන් හංගා ගෙන    ඉගෙන
රිසි ලෙස නොපැවතී යට ගිය බව    හැඟෙන

අදත් සමහරුන් යහපත දෙන    අංගා
මළත් නොදෙයි පරහට මගෙ ලෙස    හංගා
හෙටත් මේ ලෙසට ගොස් මොහඳුරු    ගංගා
ගලත් නහවමින් මුළු ලොව කර    හංගා

වට කර මම මගේ යැයි ගොඩ ගහ    ගන්නේ
හෙට ගැන නොසිත සඟවා තනියම    කන්නේ
යට ගිය දෙයින් නැත යහපත සැල    සෙන්නේ
නටඹුන් පමණි මතු සත වෙත හිමි    වන්නේ

ලබ කිත් පැසසුමට ගිජු වී කරන    කෙළී
දහමත් යට යවයි කලෙකදි නොමැත    එළී
අහගත් දහම සඟවා ගෙන ලොවට    ඇලී
කර ගත් දෙයක් නැත අවසන දුකය    යළී

තමන් වසන් කර යහපත මතු    කලක
ගිහින් පැටලෙනව තමනද ලොව    දැලක
නැණින් නොසිත විසුවොත් පොතු ජන    රැළක
එවන් කටයුතුම වෙයි වැනසෙන    මුලක

හංගන්නට දෙයක් නැත මේ තිලොව    තුල
වෙන් වෙන්නට වෙනව මරණය පැමිණි    කල
හැංගෙන්නට බැරිය එළුවත් ලොවට    දැල
සුන් වෙන්නට වෙනව දිනකදි කුමන    එල

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

1896 RS.25.00
HELA BODHU PIYUMA 96

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් සංස්කරණය කර නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කරවා ප්‍රසිද්ධ කරන ලදී.